# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා
ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති
අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ
අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ
අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය :**
**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම :**
**ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලි**
කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය :**
**එම්. ටී. අබ්දුර් රහ්මාන්**
සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
**අයි. ඒ. එම්. අෆ්සාන්**
සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**ලේඛක මණ්ඩලය :**

1. එම්. එච්. එම්. නාලිර් - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, ෆාතිහ් ආයතනය, තිහාරිය.
2. එම්. එච්. එම් බුහාරි - ගුරු උපදේශක, කලාප අධ්‍යාපන කාර්යාලය, මිනුවන්ගොඩ.
3. ඒ. පී. එම්. අබ්බාස් - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය, ජාමිආ නලීමියා - බේරුවල.
4. එම්. එස්. එම්. බූසරි - ජ්‍යෙෂ්ඨ උපගුරු, අල් අස්හර් ම.ම.වි., තිහාරිය.
5. එම්. එම්. ෆස්ලුර් රහ්මාන් - ජ්‍යෙෂ්ඨ උපගුරු, බාබුස් සලාම් ම.වි., පස්යාල
6. එම්. ආර්. හිෂාම් මුහම්මද් - ජ්‍යෙෂ්ඨ උපගුරු, අල් අස්හර් ම.ම.වි., තිහාරිය.
7. මව්ලවියා එම්. අයි. එස්. සුහාරා - උපගුරු, කයිරියා මුස්ලිම් කාන්තා .වි. කො. 09
8. ඒ. සාබුදීන් - විදුහල්පති (විශ්‍රාමික), ආනොලොන්දාව, කපුගොල්ලාව.
9. අසීමා හුසෙයින් - ජ්‍යෙෂ්ඨ උපගුරු, ඩී.එස්. සේනානායක වි., කො. 07.

## සංස්කාරක මණ්ඩලය :

1. **මහාචාර්ය එම්. ඒ. එම්. ෂුක්රි** - අධ්‍යක්‍ෂක,
   ජාමියා නලීමියා, බේරුවල.
2. **එම්. එස්. අබ්දුල් බාරි** - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය,
   අරාබි, ඉස්ලාම් ශිෂ්ටාචාර දෙපාර්තමේන්තුව
   පේරාදෙණිය විශ්වවිද්‍යාලය.
3. **මව්ලවි ඒ. බී. එම්. අලියාර්** - පීඨාධිපති, ඉස්ලාම් අරාබි පීඨය,
   අග්නිදිග විශ්වවිද්‍යාලය, ඔලුවිල්
   විධායක සාමාජික(සමස්ත ලංකා ජ.උ.ස)
4. **ජේ. එම්. ජසාර්** - කථිකාචාර්ය, ආගමික ඒකකය
   ජාතික අධ්‍යාපන ආයතනය, මහරගම
5. **මව්ලවි එම්. අයි. එම්. නව්ෆර්දීන්** - සහකාර අධ්‍යක්‍ෂක,
   මුස්ලිම් පාසල් සංවර්ධන ශාඛාව,
   ඉසුරුපාය.
6. **එම්.ටී.අබ්දුර් රහ්මාන්** - සහකාර කොමසාරිස්,
   අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව.

**භාෂා සංස්කරණය :**
**එම්. ඒ. එම්. දමයන්ති**
සංවර්ධන සහකාර,
නව ආදර්ශ ප්‍රාථමික පා.සංවර්ධන ව්‍යාපෘතිය,
ඉසුරුපාය.

**සෝදුපත් කියවීම :**
**ගයාන් මුණසිංහ**
ජාතික ඒකාබද්ධතා ප්‍රවර්ධන සහකාර,
ජාතික භාෂා හා සමාජ ඒකාබද්ධතා අමාත්‍යාංශය.

**අවසාන ඇගයීම් :**
**මව්ලවි එම්. එන්.එම්. ඉජ්ලාන්**
ප්‍රධාන කතීබ්වරයා, මහ පල්ලිය කොළඹ.
අධ්‍යක්‍ෂ, බාදිබීයා අරාබි විදුහල, කහටෝවිට.

**ඒ. ටී. එම්. නිජාම්**
ගුරු උපදේශක,
කලාප අධ්‍යාපන කාර්යාලය. පුත්තලම

**චිත්‍ර රූප සටහන්,පිට කවරය :**
**එම්.ඩබ්. ඒ අසාර්**
මීල් පාර්වෙ මීඩියා මධ්‍යස්ථානය,
කොළඹ 09

**පරිගණක ගත කිරීම, පිටු සැකසීම :**
**ඩබ්.ඒ. ජීවනි දිල්රුක්ෂි**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
**ඩබ්. අයේෂා මධුවන්ති සිල්වා**
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# පටුන

මෙම පෙළ පොතෙහි පාඩම්වල සමහර නම් ඉදිරියෙන් වරහන් තුළ කෙටි යෙදුම් ඇත. ඒවායේ සම්පූර්ණ යෙදුම පහත දී ඇත. ඒවා සම්පූර්ණයෙන් උච්චාරණය කර කියවීම ඉස්ලාමීය ක්‍රමය වේ. එලෙස, උච්චාරණය කර කියවීමෙන් පූර්ණ ප්‍රතිඵල ලබා ගත හැකිය.

කෙටි යෙදුම්:

| | | |
|---|---|---|
| (සල්) | = | සල්ලල්ලාහු අලෛහි වසල්ලම් |
| (රළි) | = | පුරුෂයකු නම් |
| | | රළියල්ලාහු අන්හු |
| | | කාන්තාවක නම් |
| | | රළියල්ලාහු අන්හා |
| | | දෙදෙනකු නම් |
| | | රළියල්ලාහු අන්හුමා |
| | | දෙදෙනකුට වැඩි නම් |
| | | රළියල්ලාහු අන්හුම් |
| (අලෛ) | = | පුරුෂයකු නම් |
| | | -. අලෛහිස් සලාම් |
| | | කාන්තාවක් නම් |
| | | . අලෛහස් සලාම් |
| | | දෙදෙනකු නම් |
| | | . අලෛහිමස් සලාම් |
| | | දෙදෙනකුට වැඩි නම් |
| | | . අලෛහිමුස් සලාම් |
| (රහ්) | = | රහ්මතුල්ලාහි අලෛහි හෝ |
| | | රහිමහුල්ලාහ් |

01



# අකීදා



පොදුවේ මිනිස් ජීවිතය විශ්වාසය මත ගොඩනැගී ඇත. දෛනික ජීවිතයේ දී මිනිසා ක්‍රියාත්මක කරවන්නේ ද ඔහු තුළ දක්නට ලැබෙන විශ්වාසය වේ. මුස්ලිම් බැතිමතකුගේ ජීවිතය ගත් කල, ඔහුගේ ජීවිතය විශ්වාසය පදනම් කරගනිමින් ගොඩනැගිය යුතු ය. අවසානය තෙක් ඔහු එම විශ්වාසය ම ක්‍රියාත්මක කළ යුතු ය, යන්න ඉස්ලාමයේ අභිප්‍රාය වේ. එහෙයින් අල් කුර්ආනයේ තුනෙන් එක් කොටසකට වඩා වැඩියෙන් විශ්වාසය පිළිබඳ ව සාකච්ඡා කර ඇත. ඊමාන් සමඟ අමල් සඳහන් වන ස්ථාන 70කට වඩා වැඩි ය.

මා කවරකු ද? මෙලොව මගේ සේවය කුමක් ද? මගේ අවසානය කෙබඳු ද? ආදී ජීවිතයේ මූලික ගැටලුවලට මුස්ලිම් බැතිමතකු ඊමානීය පදනම මත පිළිතුරු සෙවිය යුතු ය. මෙලෙස විශ්වාස සඳහා ඉස්ලාමය විශාල වැදගත් කමක් ලබා දී ඇත.

අකීදා නැතහොත් අකාඉද් යන පද ''විශ්වාසය'' හුවා දැක්වීමට භාවිත කරනු ලැබේ. ඉස්ලාමීය සම්ප්‍රදාය තුළ ''අකීදා'' යන පදය, "අවසාන වූත් ස්ථිර වූත් සාධක තුළින් ගොඩනගන ලද විශ්වාසය" යන්න දැක්වීමට භාවිතා කරනු ලැබේ.

අල්ලාහ් විසින් තෝරා ගන්නා ලද දේව ධර්ම දූතයන් සියල්ලන්ම එක ම අකීදාව දේශනා කළ බවට අල් කුර්ආනය සාක්ෂි දරයි.

"අපි නුඹට ධර්මයෙන් අනුශාසනා කළ දේ තව ද නුඹ වෙත පහළ කළ දේ තව ද ඊසා, මූසා, ඉබ්‍රාහිම්, යනාදී අයට අප අනුශාසනා කළ දේ ඔහු නුඹලා වෙත ද නියම කොට තිබේ. ඒ නුඹලා දීන් (ඉස්ලාමීය ජීවන මාර්ගය) තහවුරු කරනු. ඒ තුළ නුඹලා භේද බින්න නොවනු යන්නයි." (42:13) යනුවෙන් අල් කුර්ආනයේ සඳහන් වේ.

ඉස්ලාමීය ඉතිහාසය තුළ විවිධ කලාවන් බිහි වූ අවස්ථාවේ, ඉස්ලාමීය විශ්වාසය ගොනු කර දීමට බිහි වූ එකම කලාව ''ඉල්මුල් අකීදා'' හෙවත් ''ඉල්මුල් අකාඉද් '' නම් කලාව වේ. අල් කුර්ආනය හා අස්සුන්නාහ් ඉල්මුල් අකීදාවට පාදක වී ඇත. ඉස්ලාමීය මූලික විශ්වාසයන් පිළිබඳ ව ඒවා ප්‍රකාශ කර ඇත. නිදසුනක් වශයෙන් පහත සිදුවීම දැක්විය හැකි ය. ජිබ්රීල් (අලෛ) තුමා ''ඊමානය පිළිබඳ ව මට පවසන්න'' යැයි නබි (සල්) තුමාගෙන් ඇසූ විට, එතුමාණෝ ''අල්ලාහ්, ඔහුගේ මලක්වරුන්, ඔහුගේ ආගම්, ඔහුගේ දේව ධර්ම දූතයන්, පරමාන්ත දිනය හා යහපත- අයහපත දේව කැමැත්ත අනුව සිදු වේ, යන්න විශ්වාස කිරීම ඊමාන් වේ ''යනුවෙන් පිළිතුරු දුන්හ. (බුහාරි)

**මෙම හදීසය ප්‍රධාන විශ්වාස හයම ගෙනහැර දක්වයි.**

**01. අල්ලාහ් පිළිබඳ විශ්වාසය -**

අල්ලාහ් සිටින්නේ ය, ඔහුගේ ඒකත්වය සඳහා වන සාක්ෂි, ඔහුගේ ගුණාංග, ඔහුගේ අලංකාර නාම, ඔහුගේ හැකියාවන් හා ශක්තිය යනාදිය මෙහි විස්තර කර ඇත.

**02. මලක්වරුන් පිළිබඳ විශ්වාසය -**

මලක්වරුන්, ජින්වරුන් පිළිබඳ විස්තර මෙහි අන්තර්ගත වේ. තව ද ''රූහ් '' පිළිබඳ විස්තර ද මෙහි අන්තර්ගත වී ඇත.

**03. ආගම් පිළිබඳ විශ්වාසය -**

මිනිස් සමාජයට මග පෙන්වීම උදෙසා අල්ලාහ් පහළ කරන ලද සුහුෆ්, ආගම් පිළිබඳ ව මෙහි පහදා දී ඇත.

**04. නබිවරුන්, රසූල්වරුන් පිළිබඳ විශ්වාසය -**

නබිවරුන්ගේ ගුණාංග, ඔවුන්ට ලබා දෙන ලද හාස්කම්, ඔවුන්ගේ සේවා ගැන මෙහි පැහැදිලි කර ඇත.

**05. පරමාන්ත දිනය පිළිබඳ විශ්වාසය -**

කබ්රය, බඃස්, හිසාබ්, මීසාන්, සිරාත්, ජන්නා, නාර් පිළිබඳ කරුණු මෙහි අඩංගු වේ.

**06. කළා කද්ර් පිළිබඳ විශ්වාසය -**

මුළු විශ්වය ම ක්‍රියා කරවන දෙවියන්ගේ අභිප්‍රාය පිළිබඳ ව මෙහි පැහැදිලි කර ඇත.

آمَنْتُ بِاللّٰهِ وَمَلَائِكَتِهِ وَكُتُبِهِ
وَرُسُلِهِ وَالْيَوْمِ الْآخِرِ وَالْقَدْرِ خَيْرِهِ
وَشَرِّهِ مِنَ اللّٰهِ تَعَالَى

මෙම ප්‍රධාන විශ්වාස හය අකීදා ක්ෂේත්‍ර පිළිබඳ ඉස්ලාමීය විද්වතුන් පහත සඳහන් ආකාරයට කොටස් හතරකට බෙදා පැහැදිලි කර ඇත.

**01. අල් ඉලාහියියාත් -**

අල්ලාහ් පිළිබඳ විශ්වාසය, බළා කද්ර් පිළිබඳ විශ්වාසය, ඒ හා සම්බන්ධ සියලු කරුණු මෙහි අඩංගු වේ.

**02. අන් නුබුව්වාත් -**

නබිවරුන්, රසූල්වරුන් පිළිබඳ විශ්වාසය, ආගම් පිළිබඳ විශ්වාසය යනාදී සියලු දෑ මෙහි අඩංගු වේ.

**03. අර් රූහානියියාත් -**

පියවි ඇසටත් ඉන්ද්‍රියන්ටත් ගෝචර නොවන මලක්වරුන්, ජින්වරුන්, ෂෛතාන්වරුන්, රූහ් යනාදිය මෙහි අඩංගු වේ.

**04. අස් සම්ඉයියාත් -**

පරලොව ජීවිතය සම්බන්ධ සියලු කරුණු මෙහි අඩංගු වේ. ( කබ්ර්, බඃස්, මහ්ෂර් හිසාබ්, මීසාන්, හව්ල්, සිරාත්, ජන්නා, නාර්)

විශ්වාසය, යහපත් වන විට ජීවිතය ද යහපත් වේ. ජීවිතයට ශ්‍රේෂ්ඨ අරමුණක් ලබා දී, එය බලවත් කරන අගනා සේවයක් ''ඉස්ලාමීය අකීදා'' ඉටු කරයි. මෙම අකීදාව නොමැති ව තනි මුස්ලිම් පුද්ගලයකු හෝ මුස්ලිම් සමාජයක් ගොඩ නැගිය නොහැකි ය.

මුස්ලිම් සමාජය තුළ පසුකාලීන ව ඇති වූ දේශපාලනික අර්බුද, අන්‍ය චින්තනයන් ගේ බලපෑම්, විචාර බුද්ධියෙහි සීමාව ඉක්මවීම ප්‍රමුඛ විවිධ කරුණු කාරණා හේතු කොට ගෙන අකීදාවෙහි සරල බව ගිලිහී ව්‍යාකූල විය. මිනිසා ක්‍රියාත්මක කර ජීවිතය බලසම්පන්න කිරීමට උර දෙන ශක්තියක් බවට පත් විය යුතු එය ඊට හාත්පසින් ම පටහැනි ව කෝලාහලවලට හා සටන්වලට මග පෙන්වන කරුණක් බවට පත් විය. කෙටියෙන් පවසනවා නම් "අකීදා" වචනයට පමණක් සීමා විය.

අකීදා විෂයයෙහි විවිධ මතවාද දරන්නන්ගේ අදහස් තුළින් මුස්ලිම් සමාජයෙහි විවිධ කණ්ඩායම් රාශියක් බිහි විය. ජබරියියා, කදරියියා, මුර්ජිආ, මුඃතසිලා යනාදිය ඊට නිදසුන් කිහිපයකි.

ඉස්ලාමීය අකීදා ව මෙවැනි වැරදි ක්‍රියාමාර්ග තුළින් බලපෑමට ලක් නොවිය යුතු ය. එහි පාරිශුද්ධත්වය අහිමි නොවිය යුතු යැයි සිතූ විද්වත්හු රැසක් එය රැක ගැනීමෙහිලා ප්‍රයත්න දැරූහ. අහ්මද් බින් හන්බල් රහ්මතුල්ලාහි, අබුල් හසන් අල් අෂ්අරී රහ්මතුල්ලාහ්, අබූ මන්සූර් අල්මාත්තුරුදී රහ්මතුල්ලාහ්, යන ඉමාම්වරු මෙහිලා විශාල දයකත්වයක් ලබා දුන්හ. මොවුහු සියල්ලෝ ම "අහ්ලුස් සුන්නාහ්

වල් ජමාආ වට" අයත් වූවෝ වෙති. අහ්ලුස් සුන්නාහ් වල් ජමාආ යනු මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ හා සහාබිවරුන්ගේ මග පිළිපදින්නෝ වෙති. අපිද මෙම පිළිවෙත් පිළිපැද ජීවිතය ශක්තිමත් කරගමු; මෙලොව, පරලොව සෞභාග්‍යවත් කර ගනිමු.

**අභ්‍යාස**

01. "අකීදා" යන්නෙන් ඔබ අවබෝධ කරගත්තේ කුමක් ද?

02. "ඉල්මුල් අකීදා" බිහි වීමෙහිලා බලපෑ හේතුව සඳහන් කරන්න.

03. ඉස්ලාමීය අකීදාවට විරුද්ධ වූ කණ්ඩායම් පහක් ලියන්න.

04. "අකීදා" කාලානුරූපීව වෙනස් නොවන එකක් බව අල් කුර්ආන් වැකියක් මගින් පහදන්න.

02



# ඊමාන් හා අමල්



ඉස්ලාම් පවසන කරුණු විශ්වාස කිරීම "ඊමාන්" ලෙසත් එහි දේශනා පිළිපැදීම "අමල්" ලෙසත් සැලකේ. ඊමාන් යනු හදවතින් ම පිළිගෙන මුවින් ප්‍රකාශ කර ක්‍රියාවෙන් ස්ථිර කිරීම වේ. යමෙක් ඉස්ලාමීය විශ්වාස පිළිගෙන, ඒ තුළින් අමල් ඉටු කරන්නේ නම්, ඔහු "මුඃමින්" ලෙස හඳුන්වනු ලබයි. ඊමාන් හා අමල්, මලට සුවඳ මෙන් එකට බැඳී පවතී. ඊමානයෙන් තොර ව සිදු කරනු ලබන කිසිදු අමලයක් පිළිගනු නොලැබේ. අල් කුර්ආනයෙහි ඊමාන් හා අමල් එකට එක් කර ස්ථාන 70ක පමණ සඳහන් කර තිබීමෙන් මෙය ස්ථිර කරනු ලැබේ.

**"නබිවරයාණෙනි, කවරෙක් ඊමාන් කර සාලිහ් වන ක්‍රියා කරන්නෝ ද ඔවුන්ට නියත වශයෙන් ම ස්වර්ග ඇත. ඒවායෙහි ගලා යන දිය ගංගාවන් තිබෙන බවට සුභාරංචි පවසන්න. (2:25)**

**පුරුෂයකු හෝ ස්ත්‍රියක හෝ වේවා, විශ්වාස කර යහ ක්‍රියා කවරෙකු සිදු කළ ද නියත වශයෙන් ම අපි ඔවුන්ට යහ ජීවිතයක් ගත කිරීමට සලස්වන්නෙමු." (16.97)**

"ඊමාන්හි 70කට වඩා වැඩි අංග ප්‍රමාණයක් අන්තර්ගත වේ. එහි උසස්තම අංගය "ලා ඉලාහ ඉල්ලල්ලාහ්" යන කලීමාව වන අතර එහි පහළ ම අංගය මාර්ගයේ ඇති අනතුරුදායක ද්‍රව්‍ය ඉවත් කිරීම වේ. ලැජ්ජාශීලීභාවය ද ඊමාන්හි එක් අංගයකි." යනුවෙන් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (බුහාරි)





ඉස්ලාම්, ඊමාන් කළ යුතු කරුණු පෙන්වා දී ඇති ආකාරයට අමල් ද පෙන්වා දී ඇත. නැමදුම් වතාවත්, පොදු සේවාවන්, ගනුදෙනු, යහ ගුණාංග යනාදිය අමල්හි අන්තර්ගත වේ. එම අමල් ඉටු කිරීම මගින් කෙනකුගේ ඊමානය ස්ථිර වනු ඇත.

**නුඹලාගේ මුහුණ නැගෙනහිර හෝ බස්නාහිර දෙසට හැරවීම (පමණක්) යහකම නොවේ. එහෙත් යහකම නම් අල්ලාහ් ගැන ද අවසාන දිනය ගැන ද මලක්වරුන් ගැන ද ධර්ම ග්‍රන්ථ ගැන ද නබිවරුන් ගැන ද විශ්වාස කර ඔහු (අල්ලාහ්) කෙරෙහි වූ ඇල්ම නිසා දේපළ නෑදෑයන්ට ද අනාථයන්ට ද දිළින්දන්ට ද මගීන්ට ද යාචකයන්ට ද වහලුන් මුදවා ගැනීමට ද වැය කර සලාත්හි නිරතව සකාත් ගෙවීම ද වේ. තවද ඔවුහු පොරොන්දු වූ විට තම පොරොන්දුව ඉටු කරන දුෂ්කරතාවන්හි දී ද දිළිඳුබවේදී ද (සත්‍යය හා අසත්‍යය අතර) සටනේදී ද ඉවසිලිමත් වන්නෝ වෙති. ඔවුහු සත්‍යවාදීහු ය. තව ද බියබැතිමත් වූ අය ද ඔවුහු ම ය. (2:177)**

මෙය සුන්නාහ්වෙන් ද තහවුරු වේ.

මුඃමින්වරයකු හා කාෆිර්වරයකු අතර ඇති වෙනස සලාතය අතහැරීම වේ. (බුහාරි)

වැන්දඹුවකගේ හෝ අනාථයකුගේ අවශ්‍යතා ඉටු කිරීමට උත්සාහ කරන්නා, නොකඩවා රාත්‍රියේ සිටගෙන නැමඳුම් කළ හා දිවා කාලයේ උපවාසයේ යෙදෙන්නකු මෙන් වේ. (බුහාරි)

යමෙක් තමාට ප්‍රියමනාප දේ තම සොහොයුරාට ද ප්‍රිය මනාප බව විශ්වාස නොකරන තාක් ඔහු සත්‍ය මුඃමින්වරයෙක් නොවේ. (බුහාරි)

යමෙක් අල්ලාහ් හා පරමාන්ත දිනය විශ්වාස කරන්නේ ද ඔහු අසල්වාසීන්ට යහපත සිදු කරත්වා! කවරෙක් අල්ලාහ්ව හා පරමාන්ත දිනය විශ්වාස කරන්නේ ද ඔහු තම ආගන්තුකයන්ට සත්කාර කරත්වා! යමෙක් අල්ලාහ් හා පරමාන්ත දිනය විශ්වාස කරන්නේ ද ඔහු කතා කළ හොත් යහපත් දේ කතා කරත්වා! නොමැති නම්, නිහඬව සිටිත්වා! (බුහාරි)

"මුඃමින්වරුන් අතරින් යහපත් තැනැත්තා යහගුණ ඇත්තා වේ." (අහ්මද්)

අමල් නොමැති ඊමාන් පල රහිත වන්නාසේ ම ඊමාන් නොමැති අමල් පල රහිත වේ. මෙවැනි අමල් අල් කුර්ආනය මිරිඟුවක් යැයි පවසයි.

ප්‍රතික්ෂේප කරන්නන් වූ ඔවුන්ගේ ක්‍රියාකාරකම්, පිපාසිතයා එය ජලය යැයි සිතන කාන්තාරයේ මිරිඟුවක මෙනි. ඔහු එහි ගිය විට කිසිම දෙයක් ඔහුට නොලැබුණේය. (24:39) අල් කුර්ආනය ඊමාන් සමග අමල් එක් කර පවසන විට, "ඊමාන් කර (යහපත්) සාලිහ් වන ක්‍රියා ඉටු කරන්නන් යනුවෙන්" පවසයි "සාලිහ් වන අමල්" යන්න නියමිත කාලය තුළ කරන සුදුසු නිවැරදි ක්‍රියා ලෙස පැහැදිලි කළ හැකි ය. තව ද මෙලොව - පරලොව ජීවිතයටත්, තනි පුද්ගල-සාමූහික ජීවිතයටත් ආධ්‍යාත්මික-ලෞකික ජීවිතයටත්

ගැළපෙන පරිදි සකස් වන සියලු ම ක්‍රියා සාලිහ් වන අමල් ලෙස විස්තර කළ හැකි ය.

සාලිහ් වන 'අමල්' එකක් අල්ලාහ් පිළිගැනීමට නම් චිත්ත පාරිශුද්ධිය වැදගත් කොන්දේසියකි.

"වරක් සහාබිවරයෙක් අල්ලාහ්ගේ ධර්ම දූතයා අසළට පැමිණ "අල්ලාහ්ගේ ධර්ම දූතයාණෙනි! අල්ලාහ් වෙනුවෙන් මම අමල් කිහිපයක් ඉටු කරන්නෙමි. ඒ සමග ම ජනයා මගේ ක්‍රියා දෙස බලන විට මා හට සතුටක් ඇතිවෙනවා" යැයි පැවසුවේ ය. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ කිසිඳු පිළිතුරක් නොදුන්හ. එවිට පහත සඳහන් අල් කුර්ආන් වාක්‍යය පහළ විය. "යමෙක් තම දෙවියන් හමු වීමට ප්‍රිය කරන්නේ ද ඔහු යහ ක්‍රියා කර තම දෙවියන් කිසිවකුට සම නොකර (ඔහු ම) නමදින්න" (18:110) මේ සිද්ධිය ව්‍යාජ ලෙස කරන අමල් කුෆ්ර් හා සමාන බව පැහැදිලි කරයි.

මුඃමින්වරයකුගේ ක්‍රියාකාරීත්වය හා මුඃමින් නොවන කෙනකුගේ ක්‍රියාකාරීත්වය අතර වෙනසක් ඇත. මුඃමින්වරයකුගේ ක්‍රියාකාරීත්වය පහත සඳහන් කොන්දේසිවලට යටත් වේ.

01. අල්ලාහ්ට හා ඔහුගේ දූතයාට යටත් ව සිටීම.
02. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා කළ ආකාරයට එම ක්‍රියා සිදුකිරීම.
03. අල්ලාහ්ගේ තෘප්තිය බලාපොරොත්තුවෙන් සිටීම.
04. අල්ලාහ්ගෙන් පමණක් ප්‍රතිඵලය බලාපොරොත්තුවෙන් සිටීම.

ඊමාන් සහිත ජනතාවගේ පිවිතුරු ධෛර්යය මුසු වූ ක්‍රියාකාරකම් ඉස්ලාමීය ඉතිහාසය පුරා ම දක්නට හැකි ය. මුඃමින්වරයකුගේ ඒකායන අරමුණ වන්නේ අල්ලාහ් තෘප්තිමත් කිරීමයි, යන්නට යහපත් පූර්වාදර්ශයක් ලෙස පහත සඳහන් සිදුවීම දැක්විය හැකි ය.

යුද පිටියක දී අලි රළියල්ලාහු අන්හු තුමා සතුරා සමඟ සටන් කරමින් සිටියේ ය. සතුරා දුර්වල වන අවස්ථාවේ දී ඔහු අලි රළියල්ලාහු අන්හු තුමාගේ මුහුණට උගුර පාදා කෙළ ගැසුවේ ය. එක වර ම, අලි රළියල්ලාහු අන්හු තුමා ඔහු එම ස්ථානයේ දී අතහැර වෙනතක ගියේ ය. මෙය දැක විස්මයට පත් වූ ඔහු ඉක්මනින් ලුහුබැඳ ගොස් "මාව එලෙස අතහැර ගියේ මක්නිසාද?" කියා විමසුවේ ය. එවිට එතුමා "නුඹ අල්ලාහ්ගේ සතුරකු බැවින් නුඹ ව මරා දැමීමට උත්සාහ කළෙමි. නමුදු, නුඹ උගුර පාදා කෙළ ගැසූවිට මගේ සතුරකු බවට පත් වුණි. මෙම තත්ත්වයේ දී මා නුඹ මැරුවේ නම් එය ආත්මාර්ථකාමී මැරීමක් බවට පත් වේ. අල්ලාහ්ගේ කුසල් අහිමි ව යයි. එහෙයින්, මම නුඹ ව අතහැරියෙමි" යනුවෙන් පිළිතුරු දුන්නේ ය.

එම නිසා අපගේ මුතුන්මිත්තන්ගේ මෙවැනි ආදර්ශය පිළිපැද අපි ද අපගේ ඊමානය ශක්තිමත් කර ගනිමු.

**අභ්‍යාස**

01. ඊමානය හා අමල් අතර ඇති සබඳතාව පහදන්න.

02. අල් කුර්ආනයේ 18:110 වන වැකිය පහළ වීමට හේතු වූ සිදුවීම කුමක් ද?

03. යහ ක්‍රියා ඉටු කිරීමෙහි ලා මුඃමින්වරයකු හා මුඃමින් නොවන්නකු අතර වෙනස වගුගත කරන්න.

04. "සාලිහ් වන අමල්" යන්නෙන් ඔබ වටහාගත් දේ කුමක් ද?

05. පාඩමේ සඳහන් වන අල් කුර්ආන්, හදීස් මගින් පෙන්වා දෙනු ලබන යහ ගුණාංග ලැයිස්තු ගත කරන්න.

03



# රිසාලත් හා හිදායත්



දේව ධර්ම දූතයන් යන අය අල්ලාහ්ගේ මගපෙන්වීම මෙලොවට දේශනා කිරීමේ සේවය ඉටු කළහ. ඔවුන්ගෙන් මිනිස් සමාජය දේව මගපෙන්වීම ලබා ගත්හ. ඔවුන්ට අල්ලාහ් විසින් ප්‍රදානය කරන ලද මගපෙන්වීම, දේශනා "රිසාලත්" (ධර්ම දූත මෙහෙවර) යනුවෙන් හැඳින්වේ. මෙම රිසාලත් මිනිසා යහමග යැවීමට අත්‍යවශ්‍යය වේ. අල්ලාහ් තමා ප්‍රියකරන්නන් වෙත පමණක් අවනත වීමේ හැඟීම ඇති කරනු ලබන්නේ ය. මෙය "හිදායත්" යනුවෙන් පැවසේ. මෙනිසා දේව චින්තනය, කුසල් කිරීමේ අවස්ථාව, සාරධර්ම ඇති වේ. මෙය පහත සඳහන් සාධක මගින් වටහාගත හැකි ය.

**01.** මිනිස් දැනුම, තාක්ෂණික දියුණුව හා විද්‍යාත්මක සොයා ගැනීම් තුළ විස්මිත වාර්තා තබමින් පවතියි. නමුදු, සාරධර්මවලට එහි කිසිදු ස්ථිරසාර, තනි මගපෙන්වීමක් ලබාදීමට තරම් ශක්තියක් නොමැත. එහෙයින්, මිනිසාට ගුණාත්මක සාරධර්ම හඳුනා ගැනීමටත් ඒවා රැක ගනිමින් ජීවත් වීමටත් දේව මගපෙන්වීම අත්‍යවශ්‍යය වේ. තව ද, වසං වූ කරුණු පිළිබඳ දැනුම ලබාගැනීමටත් ඒ කෙරෙහි විශ්වාසය තැබීමටත් ඒවා ගැඹුරු අර්ථයෙන් විශ්වාස කිරීමටත් දේව මගපෙන්වීම් අවශ්‍ය වන්නේ ය. පහත සඳහන් අල් කුර්ආන් වැකිය තුළින් මෙය පැහැදිලි ව ම ගෙනහැර දක්වන්නේ ය. **කවරෙක් අල්ලාහ් (ඔහුගේ ධර්මය) ස්ථිරසාර ව ග්‍රහණය කරන්නේ ද ඔහු නියත වශයෙන් ම සෘජු මාර්ගය ඔස්සේ යොමු කරවනු ලබන්නේ ය (3:101)**



එලෙස දේව මගපෙන්වීම් නොපිළිගෙන තර්ක කරන්නන් පිළිබඳ ව අල් කුර්ආනය ඔවුන් දෙස බලා මෙසේ පවසන්නේ ය.

**"අල්ලාහ් පහළ කළ දෑ අනුගමනය කරනුයි" ඔවුනට කියනු ලැබූ කල්හී, "නැත. අපගේ මුතුන්මිත්තන්ගෙන් අප දුටු දෑ අප අනුගමනය කරන්නෙමුයි" ඔවුහු කියති. බුර බුරා නගින (නිරයේ) ගින්නේ දඬුවමට ෂෛතාන් ඔවුන් කැඳවූව ද (මෙසේ ඔවුහු ඔවුන් අනුගමනය කරන්නෙහි ද?) ( 31:21)**

**02.** මිනිසා මවන ලද අරමුණ නිවැරදි ව වටහා ගත යුතු ය. නැතහොත්, මිනිසා ආශාවන්ට වහල් වී මෙලොව ජීවිතය විනාශ කර ගනියි. පරලොවේ දීත් අපහාසයට පත් වේ. මෙවැනි තත්ත්වයක් තුළ දී ඔහුගෙන් ප්‍රශ්න කිරීමත් ඔහුට දඬුවම් කිරීමත් සාධාරණ නොවේ. එම නිසා පරමාන්ත දින ඔහුට දඬුවම් කිරීමත් අසාධාරණ බව තර්ක කළ ද එය වැරුද්දක් බව පැවසිය නොහැකි ය. නමුදු, අල්ලාහ් නීති ගරුක ය. කිසිදු ආත්මයකට අසාධාරණ ලෙස දඬුවම් නොකරන්නේ ය. එහෙයින්, තම දේව ධර්ම දූතයන් එවා රිසාලත් තුළින් මිනිසාට ඔහු මවන ලද අරමුණ පහදා එම පදනම මත ක්‍රියා කිරීමට මගපෙන්නුවේ ය. **එය පැමිණීමට පෙර වේදනාවකින් අප ඔවුන් විනාශ කළා නම් "අපගේ රබ් (පරමාධිපතියාණෙනි) ඔබ අප වෙත රසූල්වරයකු නොඑව්වේ මන්ද? එසේ නම් අප නින්දවට සහ අපකීර්තියට පත්වීමට පෙර අපට ඔබගේ ආයාත් (වදන්) අනුගමනය කළ හැකිව තිබුණේ" යැයි ඔවුන් කියනු ඇත. (20:134)**

මෙම වැකිය මගින් දේව මගපෙන්වීම ලබා දුන් පසු ව අල්ලාහ් විසින් ත්‍යාග හෝ දඬුවම් ලබා දෙනු ලැබේ, යන්න වටහා ගත හැකි ය.

**03.** මිනිස් සමාජය යහමගෙහි යැවීමට ශ්‍රේෂ්ඨ ආදර්ශයක් අත්‍යවශ්‍ය ය. මිනිස් සිත් සතන් තුළ පුහු ප්‍රචාරයක් ඇති කරන්නා වූ බලපෑමට වඩා විශාල බලපෑමක් ප්‍රායෝගික ආදර්ශයන්ට ඇති කළ හැකි ය. දේව ධර්ම දූතයෝ එවැනි බලපෑමක් ඇති කරන්නනෝ වූහ. එමගින් රිසාලත් දේව මගපෙන්වීම උදෙසා මාධ්‍යයක් ලෙස ක්‍රියා කරයි , යන්නට ඔවුහු සාක්ෂි දරති. එහෙයින්, ඔවුන් පිළිබඳ ව අල් කුර්ආනය මෙසේ ප්‍රශංසා කර ඇත.

**(නබිවරයාණෙනි) අල්ලාහ් යහමග පෙන්වූ අය වන්නේ ඔහු ම ය. එබැවින් (නුඹ ද) ඔවුන්ගේ යහමග අනුගමනය කරනු. (6:90)** යනුවෙන් ඔවුන් දෙස බලා අල් කුර්ආනය සඳහන් කරයි.

**04.** මිනිස් ජීවිතයට මග පෙන්වීමේ සුදුසුකම මිනිස් දැනුමට ලබා දුන්නේ නම්, මිනිස් සමාජය බෙදුම් දහසකට බෙදේ. "එක්සේසත්කම" යන්න සිදු කළ නොහැක්කක් බවට පත් වේ. මෙම තත්ත්වයෙන් රිසාලත් මිනිස් සමජය ආරක්ෂා කරන්නේ ය. සියලු දෙනා අනිවාර්යයෙන් ම සමගියෙන් සිටිය යුතු අවස්ථා පෙන්වා දී ඔවුන් සාමකාමී කරන්නේ ය.

මිනිස් සමාජය දේව මගපෙන්වීම අත්‍යවශ්‍යය ම කරුණක් බැවින් අල්ලාහ් අරම්භයේ සිට ම දේව ධර්ම දූතයන් එවමින් සිටියේ ය. සුහුෆ් හා ආගමික කෘති පහළ කළේ ය.

මුස්ලිම් බැතිමතෙකු අල්ලාහ් විසින් පහළ කරන ලද ආගම් සියල්ල ම පිළිගත යුතු ය. ඊට මෙවැනි වැකි සාක්ෂි ලෙස දක්නට ලැබේ.

" ඔවුහු සියල්ලෝ ම අල්ලාහ් ව, ඔහුගේ මලක්වරුන් ව, ඔහුගේ දේව ග්‍රන්ථ හා ඔහුගේ රසූල්වරුන් ව විශ්වාස කරන්නාහු ය" (2: 285 )

ආගමික කෘති වලට පහළ කරන ලද සුහුෆ්හි සංඛ්‍යාව 110 ලෙස සඳහන් වේ. එනම්,

| | | | |
|---|---|---|---|
| ආදම් අලෛහිස්සලාම් තුමාට | 10 | ෂීද් අලෛහිස්සලාම් තුමාට | 50 |
| ඉද්රීස් අලෛහිස්සලාම් තුමාට | 30 | ඉබ්රාහීම් අලෛහිස්සලාම් තුමාට | 10 |
| මූසා අලෛහිස්සලාම් තුමාට | 10 | | |

මේ අතරින් ඉබ්රාහීම් අලෛහිස්සලාම් තුමාට හා මූසා අලෛහිස්සලාම් තුමාට පහළ කරන ලද සුහුෆ් පිළිබඳ ව පමණක් අල් කුර්ආන්හි ප්‍රකාශයට පත් කර ඇත. එලෙස,

මූසා අලෛහිස්සලාම් තුමාට තව්රාත් ආගමික කෘතිය ද
දවූද් අලෛහිස්සලාම් තුමාට සබූර් ආගමික කෘතිය ද
ඊසා අලෛහිස්සලාම් තුමාට ඉන්ජීල් ආගමික කෘතිය ද
මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ෆුර්කාන් ආගමික කෘතිය ද පහළ කෙරුණි.

ඉහත සඳහන් කරන ලද සියලු ම ආගමික කෘති අල්ලාහ් විසින් පහළ කරන ලද්දක් බව අප විශ්වාස කළ යුතු ය. ඒ සමග ම අවසාන ආගමික කෘතිය වන අල් කුර්ආනය පිළිපැදීම යහමගඋදෙසා වූ අවසාන තෝරා ගැනීම යන්න ස්ථිර කර ගත යුතු ය.

අභ්‍යාස

01. ආගමික කෘති, සුහුෆ් පහළ කරන ලද නබිවරුන්ගේ නම් ලැයිස්තු ගත කරන්න.

02. මිනිස් සමාජයට යහමග පෙන්වීමට රිසාලත්හි අවශ්‍යතාව හඟවන සාධාරණ හේතු ගෙන හැර දක්වන්න.

04



# අත්තහාරත් (පිරිසිදුකම)



## ඉස්ලාමය තුළ පිරිසිදුභාවයේ වැදගත්කම.

ඉස්ලාම් මුළු ජීවිතයට ම මග පෙන්වීමකි. එය මිනිස් ජීවිතයේ සියලු ම අංශයන්ට අවශ්‍ය දේශනා, මග පෙන්වීම් ලබා දී ඇත. ඒ අනුව ඉස්ලාම්, එය පිළිපදින සෑම මුස්ලිම් බැතිමතකුට ම පිරිසිදුභාවය රැකගන්නා ලෙස අවවාද කරයි. පිරිසිදු ව සිටීම යහපත ගෙන දෙන ඉබාදතයක් ලෙස ද එය පෙන්වා දෙයි.

අල්ලාහ් සෑම විට ම පිරිසිදු ව සිටින්නන්ට සෙනෙහස දක්වන බව අල් කුර්ආනයේ සඳහන් වේ.

**" නියත වශයෙන් ම අල්ලාහ් විසින් පාරිශුද්ධවන්තයින්ට සෙනෙහස දක්වන්නේ ය" (9:108)**

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ආරම්භයේ දී පහළ කරන ලද 'සූරා මුද්දස්සිර්' හි සඳහන් වැකියක පිරිසිදුභාවයේ වැදගත්කම හඟවා ඇත.

**"(නබිතුමාණනි!) නුඹගේ වස්ත්‍ර පිරිසිදු කරගනු. ( 74:04 )**

එලෙසම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ද පිරිසිදුකම ඊමානයේ එක් කොටසක් යැයි පැවසීමෙන් එහි වැදගත්කම අපට වටහා දෙනු ඇත.

**"පිරිසිදුකම ඊමානයේ අඩකි " (මුස්ලිම්)**

මුස්ලිම්වරයකු තම දෛනික ජීවිතයේ දී සෑම අවස්ථාවක ම පිරිසිදු ව සිටීමට අවවාද කරන ඉස්ලාම්, සලාතය, ඉෘතිකාෆ් වැනි ප්‍රධාන ඉබාදත් රැසක් ඉටුකිරීම උදෙසා මූලික කොන්දේසියක් ලෙස එය සඳහන් කර ඇත. එය පහත සඳහන් හදීසයෙහි ස්ථිර කර ඇත.

**"පිරිසිදුභාවයෙන් තොර වූ කිසි දු සලාතයක් අල්ලාහ් නොපිළිගන්නේ ය"**
**(මුස්ලිම්)**

පිරිසිදුකම (තහාරත්) පිළිබඳ ඉස්ලාමීය දැක්ම ඉතා පුළුල් ය. මුස්ලිම්වරයකු බාහිර පිරිසිදුකමට කොතෙක් අවධානය යොමු කරන්නේ ද එලෙසම අභ්‍යන්තර පිරිසිදුකම වෙත ද දැඩි අවධානයක් යොමු කළ යුතු යැයි එය දේශනා කරන්නේ ය. මුස්ලිම්වරයකු ශරීරය

කෙලෙස අපිරිසිදු දේවලින් වළක්වාගෙන පිරිසිදු ව සිටිය යුතු ද එලෙස ම ඔහුගේ සිතත් ඊර්ෂ්‍යාව, උඩඟුබව, වැරදි සිතුවිලි, වෛරය වැනි දුර්ගුණාංගවලින් තොරව පිරිසිදු ව තිබිය යුතු බවට ඉස්ලාමීය දැක්ම තුළින් අවධාරණය කෙරෙයි.

## ජලය හා එහි වර්ග

මිනිසාගේ බාහිර පිරිසිදුකම රැක ගැනීමට ප්‍රධාන වශයෙන් රුකුලක් වන්නේ ජලය යි. ජලයේ වර්ග, ඒවා භාවිත කිරීමේ දී බලපාන සීමා පිළිබඳ ව ඉස්ලාම් ඉතා ම පැහැදිලි ව විස්තර කර ඇත.

ඉස්ලාමීය නීති විද්වතුන් ජලය පහත සඳහන් ආකාරයට වර්ග කර ඇත.

### 01. අල් මාඋත් තහූර් (ඉතා පිරිසිදු ජලය)

මෙය ස්වාභාවයෙන් පිරිසිදු ය. අන් සියල්ල පිරිසිදු කිරීමට ශක්තිය ඇත. ජලයේ ස්වාභාවයට කිසිදු වෙනසක් මෙහි සිදු වී නැත. මෙයට විවිධාකාර ජලය අයත් වේ.

* වර්ෂාව, හිම, අයිස්කැට යනාදියෙන් ලබා ගන්නා ජලය
* මුහුදු ජලය
* ගංගා ජලය, උල්පත් දිය
* එක් ස්ථානයක දීර්ඝ කාලයක් රැඳී තිබීමෙන් කොළ, පාසි, ගෙඩි යනාදිය වැටී වෙනස් වූ අධික ජලය (උද : වැව)

මෙවැනි ජලය අනිවාර්ය නෑම, ජනාසා නැවීම යනාදී ආගමික වගකීම් ඉටු කිරීමටත් නජීස් ඉවත් කිරීමටත් භාවිත කරනු ලැබේ.

**මෙම ජලය කොටස් තුනකට බෙදා දක්වා ඇත.**

**1) අල් මාඋල් කසීර් (අධික ජලය)**

මෙය කුල්ලතෛන් ප්‍රමාණයට වඩා වැඩි ජලය වේ. කුල්ලතෛන් යනු ලීටර් 210 ක ජල ප්‍රමාණය වේ. මෙවැනි ජලයෙහි නජීසයක් එක් වූ පමණින් ම එම ජලය නජීස් නොවේ. එනමුත්, එම ජලයෙහි වර්ණය, සුවඳ, රසය යන ගුණාංග අතරින් එක් ගුණාංගයක් හෝ වෙනස් වුවහොත් පමණක් එය නජීස් බවට පත් වේ. මෙම ජල වර්ගය අල් මාඋන් මුත්ලක් යනුවෙන් ද හඳුන්වනු ලැබේ.

**නැවත කෙසේ භාවිත කළ හැකි ද ?**

මෙම ජලය කාලයක් ගත වීමෙන් ස්වාභාවික ව හෝ වැඩි ජලයක් එක් වීමෙන් එම ජලය වෙනස් වී ඉතා පිරිසිදු ජලය (තහූර්) බවට පත් විය හැකි ය. එවිට එම ජලය නැවත වුළූඃ කිරීම, අනිවාර්ය නෑම වැනි ආගමික අවශ්‍යතා උදෙසා භාවිත කළ හැකි ය.




2) අල් මාඋල් කලීල් (අල්ප ජලය)

කුල්ලතෛන් ප්‍රමාණයට වඩා අඩු ඉතා පිරිසිදු ජලය මෙසේ හඳුන්වනු ලැබේ. මෙවැනි ජලයට නජීස් එක් වුවහොත් එහි වර්ණය, සුවඳ, රස වැනි ගුණාංග අතුරින් කිසිවක් වෙනස් නොවුව ද එම ජලය නජීස් වේ. නමුත්, රුධිර සංසරණයක් නොමැති මැස්සා, කුඹියා, මීමැස්සා වැනි කෘමීන් වැටීමෙන් එය නජීස් බවට පත් නොවේ.

**නැවත කෙසේ භාවිත කළ හැකි ද ?**

මෙම ජලයට කුල්ලතෛන් ප්‍රමාණයට වඩා වැඩි ජලය එක් කර එහි වර්ණයෙහි හෝ සුවඳෙහි හෝ රසයෙහි හෝ වෙනසක් දක්නට නොලැබේ නම්, එය නැවත ආගමික අවශ්‍යතා උදෙසා භාවිත කළ හැකි ය.

3) අල් මාඋල් මුස්තඃමල් (පරිහරණය කරන ලද ජලය)

කුල්ලතෛන් ප්‍රමාණයට වඩා අඩු ඉතා පිරිසිදු ජලය ෆර්ලු වන නෑම, වුළූඃ කිරීම වැනි ෆර්ලු වන වගකීම් උදෙසා භාවිත කළේ නම් මෙම ජලය මෙසේ හඳුන්වනු ලබයි. එම ජලය තවත් ෆර්ලු වූ කටයුත්තක් සඳහා භාවිත කළ නොහැකි ය.

**නැවත කෙසේ භාවිත කළ හැකි ද ?**

මෙම ජලයට අධික වශයෙන් ඉතා පිරිසිදු ජලය එක් කර කුල්ලතෛන් ප්‍රමාණයට පත් කර ඉතා පිරිසිදු ජලය (තහූර්) බවට පත් කළ පසු ව නැවත ආගමික අවශ්‍යතා සඳහා භාවිත කළ හැකි ය.

## 02. අල් මාඋත් තාහිර් (පිරිසිදු ජලය)

ස්වාධීන ව පිරිසිදු වුව ද අන් සියල්ල පිරිසිදු නොකරන ජලය මෙලෙස හැඳින් වේ. පිරිසිදු ද්‍රව්‍යය ජලයට එක් වීමෙන් එහි වර්ණයෙහි හෝ සුවඳෙහි හෝ රසයෙහි කිසියම් වෙනසක් සිදු වී ඇති තේ, රෝස වතුර, පලතුරු යුෂ, සිසිල් බීම වැනි ද්‍රව්‍ය මෙම ගණයට අයත් වේ. තැඹිලි වතුර වැනි ස්වාභාවයෙන් ම ජලයේ ස්වාභාවික තත්ත්වයෙන් වෙනස් වූ ද්‍රාවණය ද මෙම වර්ගයට අයත් වේ.

මේවා ආහාර, ඖෂධ වැනි වෙනත් අවශ්‍යතා උදෙසා භාවිත කිරීමට හැකි වුව ද ආගමික වගකීම් වෙනුවෙන් හෝ පිරිසිදු වීමට හෝ භාවිත කළ නොහැකි ය.

## 03. අල් මාඋල් මුතනජ්ජිස් (අපිරිසිදු ජලය)

මෙය අපිරිසිදු ජලය වේ. අන් සියල්ල පිරිසිදු නොකරයි. මුත්‍ර වැනි ස්වාභාවයෙන් ම අපිරිසිදු ද්‍රාවණ හා මත් ද්‍රව්‍ය වැනි නජිස් මිශ්‍ර වූ ජලය මෙම වර්ගයට අයත් වේ. මෙම ජලය ආගමික වගකීම් වෙනුවෙන් හෝ පිරිසිදු වීමට හෝ භාවිත කළ නොහැකි ය.

## ⋆කිල්ල හා ඉන් මිදීම

මුස්ලිම් බැතිමතකු සුළු කිල්ල හා මහා කිල්ලට බඳුන් වීම "හදස්" නම් වේ. මුස්ලිම් බැතිමතකු අපිරිසිදු තත්ත්වයක දී ඉස්ලාම් පිරිසිදු වන ක්‍රම දෙකක් පෙන්වා දී ඇත. මෙම මග පෙන්වීම සමහර විට වගකීමක් ලෙස ද ඉබාදත් කිහිපයක් ඉටු කිරීමට අත්‍යවශ්‍ය කොන්දේසියක් ලෙස ද දැක්විය හැකි ය. පිරිසිදු වීම ද ඉබාදත්හි එක් අංගයකි.

### 1. සුළු කිල්ලෙන් පිරිසිදු වන ආකාරය

සුළු කිල්ලෙන් පිරිසිදු වීමට වුළූඃ කළ යුතු ය. මුහුණ, අත, හිස, කකුල යන අවයව මෙහි දී සම්බන්ධ වේ. සුළු කිල්ල ඇති වන අවස්ථා වුළූඃ බිඳෙන අවස්ථා පිළිබඳ ව මෙන් ම ෆර්ලු, සුන්නත් පිළිවෙළ යනාදිය පිළිබඳ ව ඔබ මීට පෙර ඉගෙන ගෙන ඇත.

### 2. මහා කිල්ලෙන් පිරිසිදු වන ආකාරය

මහා කිල්ලෙන් පිරිසිදු වීමට දිය නෑම (ගුස්ල්) අනිවාර්ය වේ. මුළු ශරීරය ම ජලයෙන් පිරිසිදු කරන ක්‍රමය මෙසේ හඳුන්වයි. ස්ත්‍රී පුරුෂ සංසර්ගයේ යෙදීම, ශුක්‍ර ධාතු පිටවීම, අලුතින් ඉස්ලාමය වැළඳ ගැනීම, මරණයට පත් වීම, හයිල් හා නිෆාස් වැනි විවිධ අවස්ථාවන්හි දී දිය නෑම මුස්ලිම් බැතිමතකුහට අනිවාර්ය වේ. කිල්ලෙන් මිදීමට දිය නෑම හා වුළූඃ කිරීම එකිනෙකට වෙනස් ඉබාදත් දෙකකි. ඒවා ඉටු කිරීම උදෙසා කුසල් හිමි වේ.

## ⋆ පිරිසිදු කරන ආකාරයෙහි දක්නට ඇති විකල්ප ක්‍රම

ඉස්ලාම් පිළිපැදීමට පහසු ආගමක් වශයෙන් ද කිල්ලෙන් පිරිසිදු වන ක්‍රියාකාරකම තුළ වුළූඃ කිරීමේ දී හෝ දිය නෑමේ දී හෝ බාධක ඇති වන විට විකල්ප ක්‍රම කිහිපයකට යොමු වීමේ අවකාශය ලබා දී ඇත. ප්‍රායෝගික ආගමක් වශයෙන් ද එවැනි විකල්ප ක්‍රම අතර තයම්මුම් හා ජබීරත් යනාදිය ප්‍රමුඛස්ථානයක් ලබා ගනී. මෙම විකල්ප ක්‍රම දෙක ම අල් කුර්ආන් හා සුන්නාහ් විසින් ස්ථිර කරන ලදි.

### 1. තයම්මුම්

තයම්මුම් යනු අනිවාර්ය වුළූඃ හෝ අනිවාර්ය නෑම උදෙසා ජලය පරිහරණය කිරීමට නොහැකි වන විට ඊට විකල්පයක් ලෙස පිරිසිදු පස් භාවිත කොට මුහුණ හා දෑත් මස්හු කිරීම (පිරිමැදීම) වේ. අසනීප හේතු කොට ගෙන හෝ ජලය නොමැතිකම හේතුවෙන් ජලය භාවිත කළ නොහැකි අවස්ථාවක දී හෝ පානය සඳහා පමණක් ජලය තිබෙන අවස්ථාවක දී තයම්මුම් කර සලාතය ඇතුළු අනෙකුත් ඉබාදත් ඉටු කළ හැකි ය.



2. ජබීරත්

ජබීරත් යනු ශරීර අවයව මත ඇති තුවාළ වෙනුවෙන් දමන ලද වෙළුම (බැන්ඩේජ්) හෝ ප්ලාස්ටර් වේ. වුළුඃ කර ගෙන සිටින තත්ත්වයක දී වුළුඃ කරන ලද අවයව මත පමණක් මෙම වෙළුම් දමා තිබෙන්නේ නම්, එම කොටස් ජලයෙන් සෝදා හැරීම වෙනුවට තයම්මුම් කර ගැනීමට ඉස්ලාම් අනුමැතිය ලබා දී ඇත. නමුත් අනෙකුත් අවයව ජලය භාවිත කොට වුළුඃ කර ගත යුතු ය.





**අභ්‍යාස**

01. පිරිසිදුකම පිළිබඳ සඳහන් වන අල් කුර්ආන් වැකියක හා හදීසයක පරිවර්තනය ලියන්න.

02. ජලයේ ප්‍රධාන වර්ග තුන උදාහරණ සමග ලියන්න.

03. "හදස්" යනු කුමක් ? "හදස්" දෙවර්ගයෙන් පිරිසිදු වන ප්‍රධාන ක්‍රම දෙක කුමක් ද?

04. තයම්මුම් කිරීමට හැකි අවස්ථා දෙකක් ලියන්න.

05. දිය නෑමට භාවිත කරන ලද කුල්ලතෛන් ප්‍රමාණයට වඩා අඩු ජලය නැවත වුළුඃ කිරීමට භාවිත කරන්නේ නම් කුමක් කළ යුතු ද ?

05

# අන් නජාසත්
# (අපිරිසිදුකම)

මුස්ලිම් බැතිමතෙකු ඉබාදත් ඉටු කිරීමට පිරිසිදු ව සිටීමේ අවශ්‍යතාව පිළිබඳ ව පෙර පාඩමෙහි දි අපි ඉගෙන ගත්තෙමු. මුස්ලිම් බැතිමතකු සෑම විට ම පිරිසිදු ව හා නිරෝගී ව සිටීමටනම් ඔහු නජීස්වලින් (අපිරිසිදුකමින්) වැළකි ජීවත් වීම අත්‍යවශ්‍ය ය. අරාබි භාෂාව තුළ "අන් නජාසත්" යන වචනය අපිරිසිදුකම යන අර්ථයෙන් භාවිත කරනු ලැබේ. මෙවැනි අපිරිසිදුකම්, ඒවායේ වර්ග හා ඉන් පිරිසිදු වන ක්‍රම පිළිබඳ ව ඉස්ලාම් අපට පැහැදලි ව පවසා ඇත. මෙම පාඩමෙන් නජීස් පිළිබඳ ව දැන ගනිමු.

## නජීස් වර්ග

නජීස් පිරිසිදු කරන ක්‍රමය සැලකිල්ලට ගෙන එය කොටස් තුනකට බෙදා දක්වා ඇත.

1. සාමාන්‍ය නජීස්
2. මෘදු නජීස්
3. දැඩි නජීස්



## 1. සාමාන්‍ය නජිස් හි අඩංගු වන දේවල්

- ★ මලපහ
- ★ මූත්‍ර
- ★ රුධිර
- ★ සැරව
- ★ වමනය
- ★ මදි
- ★ වදි
- ★ මත්පැන්
- ★ තද නින්දේ දී මුවින් පිටවන කෙළ
- ★ අනුභව කිරීමට අනුමැතිය නොලත් සතුන්ගේ කිරි
- ★ සතුන්ගේ මළ කුණු
- ★ ජීවත්ව සිටින ප්‍රාණීන්ගෙන් වෙන් වූ කොටස්

පහත සඳහන් දෑ සාමාන්‍ය නජිස් තත්ත්වයෙන් මිදේ.

* ස්වාභාවික ව මිය ගිය මසුන්, පළගැටියා
(මේවා අනුභව කිරීමට අනුමත කර ඇත.)

* රුධිර සංසරණයක් නොමැති කුහුඹුවන්, මී මැස්සා යනාදිය

* අනුභව කිරීමට අනුමැතිය ඇති මිය ගිය සතුන්ගේ අස්ථි, අං, නිය, රෝම, පිහාටු යනාදිය.

* ඉතා ම ස්වල්ප වශයෙන් ඇඳුමෙහි, හෝ ශරීරයෙහි හෝ තැවරුණු රුධිරය

* මවු කිරි

**පිරිසිදු කරන ආකාරය.**

ඉහත සඳහන් කරන ලද නජිස් ශරීරයේ හෝ ඇඳුමෙහි හෝ තැවරුණු විට පළමු ව ම එම නජිසය එම ස්ථානයෙන් ඉවත් කළ යුතු ය. පසු ව නජිසයේ රසය, වර්ණය, සුවඳ යන ගුණාංග තුන ම ඉවත් වන තුරු සේදිය යුතු ය. ජලය පමණක් භාවිත කොට නජිසය ඉවත් කළ නොහැකි නම් සබන්, සබන් කුඩු, යනාදිය භාවිත කළ යුතු ය. පිරිසිදු කළ පසු ව ද එම නජිසයේ වර්ණය, සුවඳ යන දෙක ම හෝ නැතහොත් රසය පමණක් ඉතිරි ව ඇත්නම් එය පිරිසිදු යැයි සලකනු නොලැබේ.



## 02. මෘදු නජීස්හි අඩංගු වන දේවල්

මවු කිරි පමණක් ආහාර ලෙස ගනු ලබන වයස අවුරුදු දෙකට අඩු පිරිමි දරුවකුගේ මූත්‍ර.

**පිරිසිදු කරන ආකාරය**

මෙම නජීසය පිරිසිදු කරන විට නිශ්චිත නජීසය තැවරුනු ස්ථානය මිරිකා නජීසය ඉවත් කිරීමෙන් පසු ව, එම ස්ථානයෙහි ඉතා පිරිසිදු ජලය අවශ්‍ය තරම් ඉසීම පමණක් ප්‍රමාණවත් ය.

## 03 'දැඩි නජීස්' හි අඩංගු වන දේවල්

බල්ලා, ඌරා, යන සතුන්ගේ මල පහ, සැරව, කෙළ, දහඩිය, රුධිරය වැනි සියල්ල ම මෙම ගණයට ඇතුළත් වේ.

**පිරිසිදු කරන ආකාරය**

මෙම නජීසය පිරිසිදු කරන විට ඉහත පවසන ලද ක්‍රමය අනුගමනය කිරීමත් සමග තව දුරටත් පස් මිශ්‍ර ජලය භාවිත කිරීමත් සත් වතාවක් ජලය වත් කර සේදීමත් අනිවාර්ය වේ. ප්‍රථමයෙන් ම හෝ අතර මග දී පස් ද්‍රාවණය භාවිත කළ හැකි ය. දැඩි නජීස් තැවරුණු ස්ථානයෙහි නජීසයෙහි මූලික ගුණාංග තුන නොපෙනුණ ද එම ස්ථානය සත් වරක් සේදිය යුතු ය.

විහිදී පවතින (මුහුද, වැව වැනි) අධික ව ජලය රැඳෙන ස්ථානවල පිරිසිදු කරන විට හා ගංගා වැනි ගලා යන ජලයෙහි පිරිසිදු කරන විට ජලය සුළු වශයෙන් කලතා එම ජලය තුළට සය වරක් දියේ ගිල්වා ගැනීම ප්‍රමාණවත් වේ.

## නජීස් දේවල් පිරිසිදු කරන ආකාරය

පොදුවේ ගත් කල, නජීස් දේ පිරිසිදු කළ නොහැකි ය. නමුත්, නජීස් වන ද්‍රව්‍ය කිහිපයක් භාවිත කළ හැකිය. ඒවාට උදහරණ ලෙස පහත සඳහන් දේ දැක්විය හැකි ය.

*** සතුන්ගේ සම්**

බල්ලා, ඌරා හැර අනෙකුත් සතුන්ගේ සම් ගත් කල හොඳින් පදම් කර ගැනීම තුළින් ආහාරයට ගැනීම හැර, වෙනත් අවශ්‍යතා සඳහා භාවිත කළ හැකි ය.

*** මත්පැන් (රා)**

ස්වාභාවික ව ගන්නා ලද බාහිර ද්‍රව්‍ය මිශ්‍ර නොකරන ලද රා, ස්වාභාවයෙන් ම විනාකිරි බවට පත් වන්නේ නම්, එය ආහාර සඳහා භාවිත කළ හැකි ය.

*** නජීස් තැවරුණ කැටි වූ කිරි**

මුදවන ලද කිරි, එළඟි තෙල්, බටර්, චීස් වැනි කැටි වූ තත්ත්වයෙහි ඇති කිරි මත නජීසයක් පතිත වූයේ නම් එම නජීසය තැවරුණු කොටස ඉවත් කර ඉතිරිය භාවිත කළ හැකි ය.

**අභ්‍යාස**

01. 'නජීස්හි' ප්‍රධාන වර්ග උදහරණ සමග ලියන්න.

02. යමකුගේ වස්ත්‍රයෙහි දැඩි නජීස් තැවරුණු විට එය ඉවත් කර ගැනීමට කුමක් කළ යුතු ද?

03. අනුභවය ට තහනම් කරන ලද බල්ලා-ඌරා හැර අනෙකුත් සතුන්ගේ සම් පිරිසිදු කිරීමට කුමක් කළ යුතු ද?

04. පහත සඳහන් කරුණු සම්බන්ධයෙන් ඉස්ලාමීය නීති රීති සොයා ලියන්න.
   01. මියගිය ගවයකුගේ සමෙන් බෙර සෑදීම.
   02. මදුරුවකුට ගසන විට ශරීරයේ රුධිරය තැවරීම
   03. මුදවපු මී කිරි බඳුනකට නජීසයක් පතිත වීම.
   04. ස්වාභාවිකව මිය ගිය, නරක් නොවූ තත්ත්වයෙහි තිබෙන පළගැටියකු ආහාරයට ගැනීම.

06



# ඉබාදත්



මුස්ලිම් බැතිමතකු තුන් ආකාරයක වගකීම් ඉටු කළ යුතු බවට, නියම කරනු ලැබ ඇත. එනම්

1. ඉබාදත්
2. ඉමාරත්
3. කිලාෆත්

1. ඉබාදත් යන්න අල්ලාහ් නැමදීම හා, අවනත වීමත්
2. ඉමාරත් යන්න පොළොව සරු කිරීමත්
3. කිලාෆත් යන්න මෙලොව අල්ලාහ්ගේ නියෝජිතයා ලෙස එය පාලනය කිරීමත් වේ.

මේ අතරින් ඉබාදත් ප්‍රමුඛ ස්ථානයක් ලබා ගනියි.

## ඉබාදත්

"ඉබාදත්" නම් අරාබි පදය "අබද" යන ක්‍රියා පදයෙන් බිහිවූවකි. මෙම පදයෙහි නමදින්නේ ය, අවනත වූවේ ය, යටත් වූවේ ය, යන අරුත් අන්තර්ගත ය. මේ අනුව ඉබාදත් යන්න නැමදීම, යටත් වීම, අවනත වීම යන තේරුම් ගෙන දෙයි. ඉස්ලාමීය සම්ප්‍රදාය තුළ "ඉබාදත්" යන්න අල්ලාහ් අපට කළ විධාන ගෙන ක්‍රියා කිරීම තුළින් හා වළක්වන ලද දෙයින් වැළකී සිටීමත් තුළින් ඔහුට යටහත් ව ක්‍රියා කිරීම වේ, යනුවෙන් අර්ථකථනය කර ඇත.

මෙම යටත් වීම අල්ලාහ් වෙත දක් වූ ආදරය හේතුවෙන් සිදු කළ යුතු ය. එනම්, ඉබාදත් යන්න "අල්ලාහ් වෙත දක්වන උපරිම ආදරය සමගින් වූ පූර්ණ යටත් බව" යනුවෙන් අදහස් කළ හැකි ය.

අල් කුර්ආනය මෙලෙස පවසයි.**"මා නැමදීමට හැර (වෙන කිසිවක් උදෙසා) මම ජින්වරු හා මිනිසා නොමැව්වෙමි" (51:56)**

මේ අනුව බලන කල, ඉබාදත්හි මුළු ජීවිතය ම ඇතුළත් කර ඇත, යන්න අපට වටහා ගත හැකි ය. සත්‍ය වශයෙන් ම, ඉබාදත් යන්නෙන් නිශ්චිත නැමදුම් කීපයක් මෙන් ම දෛනික ජීවිතය තුළ සිදු කරනු ලබන සියලු ම කාර්ය සඳහන් වේ.



එම නිසා, තම මුළු ජීවිතය ම ඉබාදත් ලෙස සැකසිය යුතු නම්, ෂරීආවට අනුව සියලු කාර්ය සකස් කර ගත යුතු ය. එවිට දෙවියන් වහන්සේ අප නිර්මාණය කිරීමේ අරමුණ අපි ඉටු කර ගත්තෝ වෙමු.

## ඉබාදත් හි අරමුණ

අල්ලාහ් අපට අනිවාර්ය කරන ලද සියලු ඉබාදත් දෙලොවෙහි ම භාග්‍යය හිමි කර දෙන උසස් අරමුණු සහිත ඒවා ය. සලාතය, සකාතය, උපවාසය, හජ් වැනි මූලික ඉබාදත් අනිවාර්ය කරන ලද අරමුණු පිළිබඳ වූ අල් කුර්ආන් අදහස් පහත ආකාරයට ගොනු කළ හැකි ය.

- ★ සිත පාලනය කර දේව භක්තිය ඇති කර ගැනීම.
- ★ අල්ලාහ් සමගින් බැඳීම වර්ධනය කර ගැනීම.
- ★ පාපී ක්‍රියාවන්ගෙන් වැළකී ජීවත් වීමට පුරුදු වීම.
- ★ පරිත්‍යාගශීලිත්වය, ඉවසීම, අන්‍යයන්ට යහපත සැලසීම වැනි ගුණාංග වර්ධනය කර ගැනීම.
- ★ දේව තෘප්තිය ලබා ස්වර්ගයට ඇතුළු වීමට මග පාද ගැනීම.

## ඉබාදත් දෙවර්ගයකි

**01. මූලික නිශ්චිත ඉබාදත්**
**02. දෛනික ජීවිතය සමග සම්බන්ධ ඉබාදත්**

## 01. මූලික නිශ්චිත ඉබාදත්

සලාත්, සකාත්, උපවාසය, හජ් යන ඉබාදත් මෙහි අඩංගු ය. මේවා පිළිගැනීමට වැදගත් කොන්දේසි දෙකක් ඇත. එනම්, අල් කුර්ආනයට හා සුන්නාහ්වට අනුකූල වීම, හා පිවිතුරු චේතනාවෙන් ඉටු කිරීම වේ.

මෙවැනි ඉබාදත්, මෙලෙස ද සැලකිල්ලට ගත හැකි ය.

★ ශරීරය හා ක්‍රියාව සම්බන්ධ ඒවා
**සලාත්, උපවාසය, හජ් යනාදිය**
★ සිත හා සම්බන්ධ ඒවා
**ඉඛ්ලාස්, ඉවසීම යනාදිය**
★ ධනය හා සම්බන්ධ ඒවා
**සකාත්, සදකා, උල්හියියා යනාදිය**
★ වචනය හා සම්බන්ධ ඒවා
**දෙමාපියන් සමග යහපත් ලෙස කතා කිරීම. ඔවුන් වෙනුවෙන් ප්‍රාර්ථනා කිරීම.**

මෙලෙස වර්ග කර තිබුණ ද මේවා අතරින් සමහරක් අනෙකුත් ඒවා සමග ද සබඳතාවක් තිබෙන බව අවධාරණය කළ හැකි ය. හජ් යන්න ශරීරය, ධනය හා සිත සමග ද සම්බන්ධ යැයි උදහරණ ලෙස පැවසිය හැකි ය.

## 02. දෛනික ජීවිතය සමග සම්බන්ධ ඉබාදත්

ආහාර ගැනීම, නිදා ගැනීම, රැකියාවක නිරතවීම යනාදි දෛනික ක්‍රියාකාරකම් ඉස්ලාම් පවසන කොන්දේසිවලට අනුකූල වන විට ඒවා ඉබාදත් බවට පත් වේ. යමෙකු අල්ලාහ් වෙනුවෙන් තම ශරීරය ශක්තිමත් කර ගැනීමට අනුභව කරන්නේ නම්, ඔහුගේ අනුභවය ඉබාදත් බවට පත් වීම උදහරණයක් ලෙස දැක්විය හැකි ය.
මෙවැනි දෛනික ක්‍රියාකාරකම් ඉබාදත් යන තත්ත්වයට පත් වීමට ඉස්ලාම් පහත සඳහන් කොන්දේසි ඉදිරිපත් කර ඇත.

### (අ) ෂරීආවේ අනුමැතිය

අපගේ දෛනික, මෙලොව ක්‍රියාකාරකම් ඉබාදත් ස්වරූපය ලබා ගැනීමට ඉස්ලාමීය අනුමැතිය ඉතා අගනේ ය. ආර්ථිකය නැතහොත් ඉපයීම "ඉබාදත්වලට" උදහරණ ලෙස දැක්විය හැකි ය. නමුත් ඉස්ලාමීය ෂරීආ (නීතිරීති) අනුමැතිය නොලත් මත්ද්‍රව්‍ය විකිණීම, සූදුව වැනි කිසිදු ක්‍රියාකාරකමක් ඉබාදත් බවට පත් නොවේ.

(ආ) පිවිතුරු චේතනාව (ඉඛ්ලාස්)

අල්ලාහ් වෙනුවෙන්, ඔහුගේ තෘප්තිය පතා පිවිතුරු චේතනාවෙන් සිදු කරන කාර්ය ඉබාදත් බවට පත් වේ. උපයා ජීවත් විය යුතු ය. හලාල් වූ ක්‍රමයට වස්තුව සොයා ගත යුතු ය. අල්ලාහ්ගේ මාර්ගයේ වියදම් කළ යුතු ය, යන යහපත් අරමුණින් යමෙකු අනුමත කරන ලද රැකියාවක අනුමැතිය ලත් ආකාරයට නියැළෙන විට එම උත්සාහය 'ඉබාදත්' බවට පත් වේ.



ඇ) ෂරීආ සීමාව ඉක්මවා නොයෑම

ඉස්ලාම් අපගේ දෛනික ක්‍රියාකාරකම්වලට සීමා රැසක් පනවා ඇත. ඒවා ඉක්මවා යන විට ඉබාදත් යන ස්වරූපය නොගනී. ව්‍යාපාර "ඉබාදත්" ලෙස සැලකීමට නම් පොළිය, අපද්‍රව්‍ය කලවම් කිරීම, සැඟවීම යනාදිය එහි මිශ්‍ර නොවිය යුතු ය, යන්න උදාහරණ ලෙස සැලකිය හැකි ය.

ඈ) මූලික වතාවත්වලට අවහිර නොවීම

අපට අනිවාර්ය කරන ලද මූලික ඉබාදත් කාලය නිර්ණය කරන ලද ඒවා ය. එවැනි ඉබාදත්වලට බාධා පමුණුවන අන්දමින් දෛනික ක්‍රියාකාරකම් සිදු වන්නේ නම්, එය ඉබාදත් යන සීමාවෙන් පිටතට යැයි. යමෙකුගේ ක්‍රියාවක් පංචකාල සලාතයට ඉටු කිරීමට බාධා වන විට එහි අනෙකුත් කොන්දේසි සපුරා තිබුණ ද එම ක්‍රියාව ඉබාදත් ලෙස නොසැලකීම උදාහරණ ලෙස ගත හැකි ය.

ඉ) නිවැරදි ව හා පිළිවෙළට ඉටු කිරීම

ඉස්ලාම් සැමවිට ම පිළිවෙළ හා නිවැරදිතාව රකිනා, සාධාරණ ආගමකි. මෙම ගුණාංග ඉක්මවා ගිය ක්‍රියා එය නොපිළිගනී. ගමනක දී මාර්ග නීති රීති උල්ලංඝනය කිරීම,

රටේ නීතිය උල්ලංඝනය කිරීම, නායකත්වයට අවනත නොවීම ඉබාදත් ලෙස සැලකිය නොහැකි ය.

**ඉස්ලාමීය විද්වතුන් ඉබාදත්, ඒවායෙහි වැදගත්කමට අනුව පහත සඳහන් ආකාරයට බෙදා දක්වා ඇත.**

## 1. ෆර්ලු

අනිවාර්ය වන ඉබාදත්. මෙසේ හැඳින් වේ. එහි කොටස් දෙකකි.

### අ) ෆර්ලු අයින්

මෙය සෑම මුස්ලිම්වරයකු ම අනිවාර්යයෙන් ම ඉටු කළ යුතු වගකීමක් වේ. මෙය ඉටු නොකොට පැහැර හරින්නා පාපිෂ්ඨයකු බවට පත් වේ. පංච කාල සලාත, රමළාන් උපවාසය පවුල නඩත්තු කිරිම යන කරුණු මෙහි අඩංගු වේ.

### ආ) ෆර්ලු කිෆායා

මෙය ද සෑම මුස්ලිම්වරයකුම ඉටු කළ යුතු වගකීමක් වේ. නමුත් සමාජයේ කිහිප දෙනෙකු ඉටු කළේ නම් අන් අය වගකීමෙන් මිදේ. සමාජය එය ඉටු නොකළේ නම්, සියලු දෙනා ම පාපිෂ්ඨයන් බවට පත් වේ. ජනතා වගකීම්, ආගමික විද්වතුන් බිහි කිරීම, සමාජයට අවශ්‍ය විද්‍යාඥයන්, කාන්තා විශේෂඥ වෛද්‍යවරියන්, ඉංජිනේරුවරුන් වැනි විශේෂඥයන්/ විද්වතුන් බිහි කිරිම යනාදිය මෙහි අඩංගු වේ.

## 2. සුන්නත්

ෆර්ලුවලට අයත් නොවූ වතාවත් මෙම කොටසට අයත් වේ. මේවා ෆර්ලුවලට අමතර ව ඉටු කරන ඉබාදත් වේ. මේවා ඉටු කිරීම තුළින් කුසල් හා අල්ලාහ්ගේ සමීපභාවය අධික වශයෙන් ලබා ගත හැකි ය. ඒ සමග ම ෆර්ලු වන ඉබාදත්හි සිදු වන අඩුපාඩු මග හරවා ගැනීමට ද හැකි වේ. සුන්නත් වන සලාත්, දික්ර්, සලාම් පැවසීම, රෝගින්ගේ සුවදුක් විමසීම යන කරුණු රැසක් මෙහි අඩංගු වේ.

එම නිසා අප කුමන අරමුණින් මවන ලද්දේ ද, එම අරමුණු ඉටු වන ආකාරය ට අපගේ මුළු ජීවිතය ම ඉබාදත් බවට පත් කර ගැනීමට උත්සාහ කරමු.

**අභ්‍යාස**

1. හරි වැරදි ලකුණු කරන්න.
   I. සලාම් පැවසීම වචන හා සම්බන්ධ ඉබාදතයකි. ( )
   II. සියලු ම වර්ගයේ ඉබාදතයන්ට පිරිසිදු චේතනාව අවශ්‍ය වේ. ( )
   III. සුදුස්සන් සකාත් ගෙවීම ෆර්ලු අයින් වේ. ( )
   IV. ආගමික හා ලෞකික දැනුම ඇති විද්වතුන් බිහි කිරීම ෆර්ලු කිෆායා වේ.( )

02. ඉබාදත් යන පදයේ පුළුල් අර්ථය කුමක් ද?

03. මිනිසා මැවීමේ අරමුණු පිළිබඳ අල් කුර්ආනය පවසන අදහස ගෙන හැර දක්වන්න.

04. ඉබාදත් ඉටු කිරීම තුළින් අප තුළ ඇති විය යුතු වෙනස්කම් පහක් ලියන්න.

05. අපගේ දෛනික ක්‍රියාකාරකම් ඉබාදත් බවට පත් වීමට අප අවධානය යොමු කළ යුතු කොන්දේසි මොනවා ද?

# 07

# සලාතයේ වැදගත්කම




ඉස්ලාම් අනිවාර්ය කරන ලද මූලික ඉබාදත් අතරින් සලාතය ප්‍රධාන වේ. එහෙයින්, ඉස්ලාම්, සලාතය මුඃමින්වරයකුගේ ලක්ෂණයක් බවත් මුඃමින් හා කාෆිර් අතර දක්නට ලැබෙන වෙනස බවත් සඳහන් කර ඇත. සලාතය ඉස්ලාමයේ ප්‍රධාන වගකීමක් යන්න, එය අනිවාර්ය කරන ලද ආකාරය තුළින් ද එය ඉටු කරනු ලබන පිළිවෙළ තුළින් ද ගෙනහැර දක්වයි.

## අනිවාර්ය වගකීමකි

සලාතය සෑම ඉස්ලාම් බැතිමතෙකු ම අනිවාර්යයෙන් ම ඉටු කළ යුතු "ෆර්ලු අයින්" වන ඉබාදතයකි. "සලාතය (නිවැරදිව) ඉටු කරන්න. නියත වශයෙන් ම සලාතය විශ්වාසීන් වෙත වේලාව නියම කරන ලද වගකීමකි." (4:103) නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සලාතය ඉස්ලාමයේ පදනම ලෙස ද එහි කුළුණක් ලෙස ද පැවසූහ.

ඉස්ලාමයේ ක්‍රියාකාරකම් අතරින් වැදගත් වන්නේ එහි එක් කුළුණක් වන සලාතය වේ. එහි නාස් ලණුව අල්ලාහ්ගේ මාර්ගයේ සටන් කිරීම වේ.

සලාතය මූලික වගකීමක් ලෙස පිළිගෙන ඉටු නොකරන්නන් හට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා දැඩි සේ අවවාද කළේ ය. "ජනතාවට නැමදීම උදෙසා අල්ලාහ් හැර සුදුසු වෙන කිසිවකුත් නොමැති බවත් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අල්ලාහ්ගේ දූතයකු බවත් සාක්ෂි දරා, සලාතය ඉටු කර, සකාතය ගෙවන තුරු සටන් කරන ලෙසටත් මට අණ කර ඇත." (බුහාරි) යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

## විශේෂිත වගකීම

"යමකු හට සලාතය මග හැරෙන්නේ ද ඔහු තම පවුල, වස්තුව යනාදිය අහිමි ව සිටින මිනිසකුට සමානය" (ඉබ්නු හිබ්බාන්) යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

## ඊමානීය ලක්ෂණය

ඊමාන් කරන්නකු හා ඊමාන් නොකරන්නකු අතර වෙනස සලාතය බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාණෝ පෙන්වා දුන්හ.
මුඃමින් හා කාෆිර් අතර වෙනස සලාතය අතහැරීම වේ. (මුස්ලිම්)

අප හා ඔවුන් අතර ගිවිසුම සලාතය වේ. කවරෙක් එය අතහරින්නේ ද ඔහු කාෆිර්වරයකු බවට පත් වේ. (ඉබ්නු නිබ්බාන්) යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

## ජයග්‍රාහී මග

සලාතය ඉටු කිරීම යනු, බය පක්ෂපාතීත්වයෙන් යුත් භක්තිකයන්ගේ හා ජයග්‍රාහී මුඃමින්වරුන්ගේ මූලික ගුණාංගයක් බව අල් කුර්ආනය ප්‍රශංසා කරයි. (බිය බැති මුඃමින්වරු වන) ඔවුහු සැඟවුණු දේ විශ්වාස කරන්නාහු ය. සලාතය ඉටු කරන්නාහු ය. (2:2-3)



විශ්වාසවන්තයෝ ජයග්‍රහණය ලැබූහ. ඔවුහු ඔවුන්ගේ සලාතය බිය බැතියෙන් ඉටු කරන්නෝ ය. (23:1-2)

තව ද (ජයග්‍රාහී මුඃමින්වරු වන) ඔවුහු ඔවුන්ගේ සලාතයන්හි සුපරික්ෂාකාරී ව ඉටු කරන්නෝ ය. (23:9)

ඉහත සඳහන් කරන ලද අල් කුර්ආන් වැකි සලාතයේ වැදගත්කම පෙන්වා දෙයි. දක්වන්නේ ය. තව ද සලාතය, ජීවිතයේ සෑම පසුබිමක් තුළ ම ඉටු කළ යුතු බවට ඉස්ලාම් අනිවාර්ය කර ඇත. එහෙයින් අල්ලාහ් සලාතය උදෙසා අවකාශ රැසක් ලබා දුන්නේ ය. අල් කස්ර් වල් ජම්උ, සලාතුල් කව්ෆ් යනාදිය ඒ අතුරින් වැදගත් ඒවා ය.

අල් කුර්ආනය හා සුන්නාහ්, සලාතය පිළිබඳ ව සඳහන් කරන විට "ඉකාමතුස් සලාත්" සලාතය ඉටු කිරීම " මුහාෆලතුස් සලාත්" සලාතය සුරැකීම යන පද පෙළ භාවිත කර තිබීම විශේෂ ය.

සලාතය නිවැරදි ව ඉටු කරන මුඃමින් මෙලොව හා පරලොව ප්‍රයෝජන රැසක් ලබා ගන්නේ ය. ඒවා නම්,

**1. අල්ලාහ් සමග සංවාදයේ යෙදීම.**

නුඹලා අතරින් කෙනකු සලාතය ඉටු කළේ නම් ඔහු තම රබ් (පරමාධිපති) සමග සංවාදයේ යෙදෙන්නේ ය.

"මම හා මගේ ගැත්තා අතර සලාතය දෙකකට බෙදා ඇත. මගේ ගැත්තාට ඔහුගේ ප්‍රාර්ථනාව ඉටු වේ. ගැත්තා, "අල්හම්දු ලිල්ලාහි රබ්බිල් ආලමීන්" යනුවෙන් පැවසූවේ නම්, අල්ලාහුතආලා "මගේ ගැත්තා මාව සතුටට පත් කළේ ය" යනුවෙන් පවසන්නේ ය. ගැත්තා "අර්රහ්මානිර් රහීම්" යනුවෙන් පැවසුවේ නම්, "මගේ ගැත්තා මා ප්‍රශංසා කළේ ය" යනුවෙන් අල්ලාහ් පවසන්නේ ය. ගැත්තා "මාලිකි යව්මිද්දීන්" යනුවෙන් පැවසූවේ නම්, "මගේ ගැත්තා මා උසස් කළේ ය" යනුවෙන් අල්ලාහ් පවසන්නේ ය. ගැත්තා "ඉයියාක නඃබුදු ව ඉයියාක නස්තඊන්" යනුවෙන් පැවසුවේ නම්, "මෙය මා හා මගේ ගැත්තා අතර සිදුවන්නකි. ඔහුගේ ප්‍රාර්ථනාව නියත වශයෙන්ම ඔහුට ම ය"යනුවෙන් අල්ලාහ් පවසන්නේය ගැත්තා, "ඉහ්දිනස් සිරාතල් මුස්තකීම් සිරාතල්ලදීන අන්අම්ත අලෛහිම් ගෛරිල් මග්ලූබි අලෛහිම් වලල්ලා ලීන්" යනුවෙන් පැවසුවේ නම්, අල්ලාහ් "මෙය මා හා ගැත්තා අතර සිදුවන්නකි. ඔහුගේ ප්‍රර්ථනාව නියත වශයෙන් ම ඔහුටම ය"යනුවෙන් අල්ලාහ් පවසන්නේය, යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (මුස්ලිම්)

**2. අල්ලාහ් සිහිපත් කිරීම හා සැනසුම.**

නුඹ මා නමදිනු. මා සිහිපත් කිරීම පිණිස සලාතය ඉටු කරනු. (20:14)

දැන ගනු, අල්ලාහ් සිහිපත් කිරීමෙන් සිත් සැනසුම ලබන්නේ ය. (13:28)

ඇසේ සිසිලස මගේ සලාතය තුළ ඇති කර ඇත. (බුහාරි)

**3. දේව දයාව ලැබීම.**

නුඹලා දයාව ලබනු පිණිස සලාතය ඉටු කරනු; සකාත් ගෙවනු; දේව ධර්ම දූතයාට කීකරු වනු. (24:56)

**4. ස්වර්ගයේ යතුර.**

පරමාන්ත දින ගැත්තකුගෙන් පළමු ව විමසනු ලබන අමල් (ක්‍රියාව) වනුයේ, සලාතය යි. එය යහපත් නම්, ඔහු ජය ලබන්නේ ය. එය අයහපත් නම්, ඔහු පරාජය වී පාඩු ලබන්නේ ය. (අහමද්)

සලාතයේ යතුර වුළූ වේ. ස්වර්ගයේ යතුර සලාතය වේ. (තිර්මිදි)

**5. පරාර්ථකාමී හැඟීම් හා නොසැලෙන සිත.**

නියත වශයෙන් මිනිසා නොඉවසිලිවන්තයකු ලෙස නිර්මාණය කර ඇත. ඔහුට නපුරක් සිදු වූ කල් හි, ඔහු නොසන්සුන් ය. ඔහුට යහපතක් සිදු වූ කල් හි, ඔහු මසුරු ය. සලාතය ඉටු කරන අය හැර (අන් සියල්ලෝ ම එලෙස ය) ඔවුහු, ඔවුන්ගේ සලාත් හි නොකඩවා නිරත වෙති. (70:19-23)

**6. පාපී ක්‍රියාවන්ගෙන් ආරක්ෂාව.**

(නබිවරයාණෙනි!) තව ද, සලාතය ඉටු කරනු! නියත වශයෙන් ම සලාතය ලැජ්ජාශීලී දේ හා පිළිකුල් සහගත දේ වළකයි. අල්ලාහ් මෙනෙහි කිරීම අතිශ්‍රේෂ්ඨ වේ. නුඹලාගේ ක්‍රියා සියල්ල අල්ලාහ් හොඳින් දන්නේ ය. (29:45)

**7. පව් කමාව ලැබීම.**

දවසේ දෙකෙලවරෙහි දී ද, රාත්‍රී කාලයේ මුල් කොටසෙහි දී ද සලාතයෙහි නිරත වනු නියත වශයෙන් ම, යහපත විසින් අයහපත පහ කරනු ලබයි. මෙය අල්ලාහ් මෙනෙහි කරනවුන්ට හොඳ උපදේශයකි. (11:114)

ෆර්ලූ වන සලාතයට අදළ වේලාව පැමිණිය හොත්, නිවැරදි ව වුළූ කර (සලාතය මගින් ඇති කරන්නා වූ) බිය බැතියෙන් හා යටහත්භාවයෙන් (කුෂූඋ, කුලූඋ) සලාතයේ නියැළෙන ඉස්ලාම් භක්තිකයකු සුළු පව් උදෙසා ප්‍රතිකර්මයක් (කෆ්ෆාරා) ලෙස එම සලාතය දිස් වේ. (මුස්ලිම්)

**8. පරමාන්ත දිනයේ සාක්ෂියක් වේ.**

යමෙකු සලාතය නිවැරදිව සුරකිමින් ඉටු කරන්නේ ද එය ඔහුට පරමාන්ත දින ආලෝකයක් ලෙස ද සාක්ෂියක් ලෙස ද ජයග්‍රහණයක් ලෙස ද පවතී. යමෙකු එය අතහැරියේ ද ඔහුට පරමාන්ත දින ආලෝකයක් හෝ සාක්ෂියක් හෝ ජයග්‍රහණය හෝ නොලැබේ. නමුත් ඔහු කාරූන්, ෆිර්අවුන්, හාමාන්, උබෙයි ඉබ්නු කලෆ් යන අය සමග සිටින්නේ ය. (අහ්මද්)

**9. බාහිර - අභ්‍යන්තර පිරිසිදුකම.**

විශ්වාසවන්තයිනි! නුඹලා සලාතය වෙනුවෙන් සූදනම් වූයේ නම්, නුඹලාගේ මුහුණු, වැළමිට දක්වා නුඹලාගේ දෑත්,සෝද ගන්න. තව ද නුඹලාගේ හිස (ජලයෙන් තෙමා) පිරිමැද ගන්න. තව ද වළලුකර දක්වා නුඹලාගේ කකුල ද සෝද ගන්න. අල්ලාහ් නුඹලාට කිසියම් අපහසුතාවක් සිදු වීම ප්‍රිය නොකරන්නේ ය. නමුදු, නුඹලා තුති පිදීම උදෙසා, නුඹලාව පිරිසිදු කරවීමටත් තම දයාද නුඹලා වෙත සම්පූර්ණ කර දීමටත් ප්‍රිය කරන්නේ ය. (5:6)

**10. නිරයේ වේදනාවෙන් ආරක්ෂාව**

ස්වර්ගවාසීන් නිරයේ වැසියන්ගෙන් "නුඹලාව (සකර් නම්) නිරයට ඇතුළු කරනු ලැබුවේ කුමක් නිසා ද?" යැයි විමසන්නෝ ය. එයට ඔවුහු "අපි සලාතය ඉටු කරන්නන් අතර නොසිටියෙමු." යැයි පවසති. (74:40-43)

මේ සියල්ලට ම අමතර ව සලාතය යන්න තනි මිනිසකු සමාජය සමග බන්ධනයක් ඇති කරන ඉබාදතයක් ලෙස ද දක්නට ලැබේ. ගම තුළ රැඳී සිටින පිරිමින් වෙත ජමාඅත් වශයෙන් සලාතය ඉටු කිරීම අනිවාර්ය කර තිබීමෙන් දිනකට පස් වරක් ජනතාව සමඟ සම්බන්ධ වීමේ අවස්ථාවක් හිමි කර ගන්නේ ය.

එහෙයින්, ප්‍රථම වරට අනිවාර්ය කරන ලද, දෙව්ලොව ගමනේ දී ත්‍යාගයක් ලෙස පිරිනැමුණු, පෙර නබිවරුන් වෙත අනිවාර්ය කර තිබුණු, පරමාන්ත දින පළමු වරට ප්‍රශ්න කරනු ලබන, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා විසින් මරණාසන්න මොහොතේ දී සමාජයට වසියියත් කරන ලද වගකීමක් වන සලාතයේ වැදගත්කම ඉගෙන ගෙන, වටහා ගෙන, ඉටු කර, වංචනිකත්වයෙන් වැළකී සත්‍ය මුඃමින්වරයකු ලෙස දෙලොව ම ජය ගැනීමට අදිටන් කර ගනිමු!

**අභ්‍යාස**

01. තනි පුද්ගලයකුගේ ජීවිතය සාර්ථක කරලීමෙහි ලා සලාතයේ වැදගත්කම පහදන්න.

02. සලාතය තුළින් සමාජයට ලැබෙන ප්‍රයෝජන ලැයිස්තු ගත කරන්න.

03. සලාතය අත හරින ඔබගේ යහළුවකුට සලාතය අත හැරීමේ විපාක පිළිබඳ ව විස්තර කර ලිපියක් ලියන්න.

08

# සිෆතුස් සලාත්



ඉස්ලාමීය පංච මහා වගකීම් අතුරින් දෙවැනි වගකීම පංච කාල සලාතය වේ. එය මුස්ලිම්වරයකුගේ ජීවිතයේ දී මග හැරිය නොහැකි වගකීමකි. මිහ්රාජ් ගමනේ දී සලාතය අනිවාර්ය කරන ලදි. එදින සිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම මරණය දක්වා ම සලාතය ඉතා හොඳින් ඉටු කළේ ය. සලාතය නොවරදවා ඉටු කිරීම මුස්ලිම් බැතිමතකුගේ ලක්ෂණයක් ලෙස පෙන්වා දී ඇත.

ඊමාන් හා කුෆ්ර් (ප්‍රතික්ෂේප කිරීම) අතර වෙනස සලාතය වේ. (මුස්ලිම්) යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මස්ජිදයට පැමිණියේ ය. එම අවස්ථාවේ දී ම තවත් මිනිසෙක් මස්ජිදයට පැමිණ සලාතය ඉටු කළේ ය. සලාතය අහවර කර නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට සලාම් පැවසුවේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා එයට පිළිතුරු සලාම් පැවසුවේ ය. පසුව

**"නැවත සලාතය ඉටු කරන්න. නුඹ සලාතය ඉටු කළේ ම නැත."** යනුවෙන් පැවසුවේ ය.

එම මිනිසා පෙර ඉටු කළ පරිදි ම සලාතය කර පැමිණ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට සලාම් පැවසුවේ ය. "නැවත සලාතය ඉටු කරන්න. නුඹ සලාතය ඉටු කළේ ම නැත." යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (මෙලෙස තෙවරක් සිදු විය) ඉන් පසු එම මිනිසා, "සත්‍ය දහම සමගින් ඔබතුමාව එවන ලද අල්ලාහ් වෙත දිවුරමි. සලාතය මෙලෙස ඉටු කරනවා හැර වෙන කිසිදු ක්‍රමයක් මම නොදනිමි. මට උගන්වා දෙන්න" යැයි පැවසුවේ ය.

"නුඹ සලාතය උදෙසා සිට ගෙන "තක්බීර්" පවසන්න. පසු ව අල් කුර්ආනයේ නුඹ දන්නා කොටසක් කියවන්න. පසුව නිහඬ ව රුකූඋ කරන්න. පසු ව රුකූඋහි සිට නිවැරදි ව සිට ගන්න.

පසු ව සංසුන් ව සජද කරන්න. සජදවෙන් හිස ඔසවා සන්සුන් ව හිඳ ගන්න. මෙලෙස ඔබගේ සෑම සලාතයක් ම ඉටු කරන්න." (බුහාරි) යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ.

පරමාන්ත දින ගැත්තාගේ ක්‍රියා පිළිබඳ විමසනු ලබන විට ප්‍රථමයෙන් ම විමසනු ලබන්නේ සලාතය පිළිබඳ ව ය. එය යහපත් නම්, ඔහු ජය ලබයි. එය අයහපත් නම්, ඔහු දුකට හා ශෝකයට පත් වේ. (තිර්මිදි)

සලාතය ඉතා ම සුපරීක්ෂාකාරී ව ඉටු කළ යුතු බැවින් ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට පළමු දින දෙකේ දී ඉමාම් ලෙස හිඳ සලාතය ඉටු කොට පෙන්නුවේ ය. මින් ඉදිරියට සලාතය ඉටු කරන ආකාරය පිළිබඳ ව අවධානය යොමු කරමු.

### ★ කිබ්ලාව පෙරටු කර ගෙන සිට ගැනීම.

සලාතය ඉටු කිරීමට සූදනම් වූ කෙනකුට සිටගෙන සිටීමට ශක්තිය තිබේ නම්, කිබ්ලාවට මුහුණ ලා ඍජු ව සිට ගත යුතු ය. පුරුෂයන් තම පාද අතර සුළු ඉඩ ප්‍රමාණයක් තබා ද, කාන්තාවන් පාද ඉතා සමීප ව තබා ද සිටගත යුතු ය.

### ★ නියියත් තැබීම.

නියියත් යනු සිතෙහි ඇති වන චේතනාව වේ. සලාතයට සූදනම් වන විට ප්‍රථමයෙන්ම එම සලාතයට අදාළ නියියතය සිතින් අදිටන් කර ගෙන "අල්ලාහු අක්බර්" යැයි පළමු ව තක්බීර් පැවසිය යුතු ය. මෙම ප්‍රථම තක්බීරය "තක්බීර් තහ්රීමා" යනුවෙන් හඳුන්වනු ලැබේ. "නිශ්චිත ෆර්ලු සලාතය හෝ සුන්නත් සලාතය ඉටු කරමි, යැයි කෙටියෙන් නියියත් තැබිය හැකි ය. නැතහොත් නිශ්චිත සලාතය ද එහි රක්ආත් ප්‍රමාණය ද සඳහන් කර උතුම් වූ කිබ්ලාව පෙරටු කර ගෙන අල්ලාහ් වෙනුවෙන් සලාතය ඉටු කරමි," යැයි පුළුල් ව නියියත් තැබිය හැකි ය.

උදාහරණ වශයෙන්, "ෆර්ලු වන සුබහ් සලාතය ඉටු කරමි." යන්න කෙටි නියියත් තැබීම වේ. "ෆර්ලු වන සුබහ් සලාතය රකඅත් දෙකක් වශයෙන් උතුම් වූ කිබ්ලාව පෙරටු කර ගෙන අල්ලාහ් වෙනුවෙන් ඉටු කරමි" යනුවෙන් පුථල් ලෙසත් නියියත් තැබිය හැකි ය.

ජමාඅත් වශයෙන් සලාතය ඉටු කරන විට, සලාතය මෙහෙයවන ඉමාම් තුමාගේ නියියතයෙහි "ඉමාමන්" යන්නත් මඃමූන් ලෙස සලාතය ඉටු කරන්නන් නියියතයෙහි "මඃමූමන්" යන්නත් එක් කර ගත යුතු ය.

### ★ දෑත් බැඳීම

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තක්බීර් පවසන විට තම දෙඅත් කන් දෙක දක්වා එසවූහ. (මුස්ලිම්) තම උරහිස් දෙක දක්වා ඔසවන්නකු ලෙස සිටියහ. (බුහාරි) නියියතය සිතෙහි ස්ථිර කර ගෙන "අල්ලාහු අක්බර්" යනුවෙන් තක්බීර් පවසා ආරම්භයේ දී දෙඅත්හි ඇඟිලි කෙළින් කර, පහසුවෙන් විහිදුවා, දෙඅත්හි අත්ල කිබ්ලාව දෙසට හරවා, මහපට ඇඟිල්ලෙහි තුඩ කනෙහි යට පෙදෙසට හෝ උරහිස් දක්වා එසවිය

යුතු ය. එවිට, තක්බීර් පවසමින් ම දෙඅත් සෙමින් පහළට ගෙන පපුව හා නාභිය අතර දෙඅත් බැඳ ගත යුතු ය. වම් අත මත දකුණු අත තබා, දකුණතෙහි අල්ලෙන් වමතෙහි මැණික් කටුව අල්ලා ගත යුතු ය. පුරුෂයින් වැළමිට තම ඉනට ළං නොකොට දුරස් කර ද, කාන්තාවන් ළං කර ද බැඳ ගත යුතු ය.

**★ දුආඋල් ඉෆ්තිතාහ් (ඉස්තිෆ්තාහ්)**

තක්බීර් තහ්රිමා පවසා තක්බීර් බැඳ ගැනීමත් සමග සමාරම්භක දුආව පාරායනය කළ යුතු ය. මෙම සමාරම්භක දුආව "දුආඋල් ඉෆ්තිතාහ්" යනුවෙන් හඳුන්වනු ලැබේ. මෙය සලාතයේ ප්‍රථම තක්බීරය සමග පාරායනය කරනු ලැබේ. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා විවිධ අවස්ථාවන්හි දී විවිධාකාර දුආ පාරායනය කළේ ය. ඒවා අතුරින් තමන් ප්‍රිය කරන දුආ පාරායනය කළ හැකි ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සලාතය ඉටු කරන විට
"අල්ලාහු අක්බර්" යනුවෙන් තක්බීර් පවසා, වජ්ජහ්තු පාරායනය කළේ ය.

وَجَّهْتُ وَجْهِيَ لِلَّذِيْ فَطَرَ السَّمَاوَاتِ وَالْأَرْضَ حَنِيْفًا مُسْلِمًا، وَمَا أَنَا مِنَ الْمُشْرِكِيْنَ، إِنَّ صَلَاتِيْ وَنُسُكِيْ وَمَحْيَايَ وَمَمَاتِيْ

لِلَّهِ رَبِّ الْعَالَمِيْنَ، لاَ شَرِيْكَ لَهُ وَبِذَلِكَ أُمِرْتُ وَأَنَا مِنَ الْمُسْلِمِيْنَ

**★ සූරතුල් ෆාතිහා පාරායනය කිරීම.**

"අඌදු බිල්ලාහි මිනෂ් ෂෛතානිර් රජීම්" යනුවෙන් ආරම්භ කර, "බිස්මිල්ලාහිර් රහ්මානිර් රහීම්" යනුවෙන් පවසා සූරතුල් ෆාතිහාව සංසුන් ව හා නිවැරදි ව පාරායනය කළ යුතු ය. තව ද සියලු ම රක්ආත්වල බිස්මි සමග සූරතුල් ෆාතිහා පාරායනය කළ යුතු ය. ප්‍රථම රක්ආත් දෙකෙහි සූරතුල් ෆාතිහාවට පසු වෙනත් සූරාවක් හෝ සූරාවක කොටසක් පාරායනය කිරීම සුන්නත් වේ. පළමු රක්ආතයේ දී පාරායනය කරනු ලබන සූරාවට වඩා දෙවන රක්ආතයේ දී පාරායනය කරනු ලබන සූරාවේ ප්‍රමාණය කුඩා වීම ප්‍රියමනාපය (මුස්තහබ්)




**★ රුකූඋ කිරීම.**

අල් කුර්ආන් වැකි පාරායනය කර අවසන් වූ පසු සමාරම්භක තක්බීරයේ දී දෙඅත් එසවූ ආකාරයට ඔසවා, තක්බීර් පවසමින් රුකූඋ කිරීම උදෙසා නැමිය යුතු ය. හිස,

බෙල්ල, පිට පෙදෙස යනාදිය එක කෙළින් එක ම මට්ටමක පිහිටන සේ නැමී දෙඅත්හි ඇඟිලි විහිදුවා අල්ල පාදයේ දණහිස මත තබා හොඳින් අල්ලා ගත යුතු ය. රුකූඋ කරන විට ද පුරුෂයින් වැළමිට තම ඉනට ළං නොකොට දුරස් කර ද කාන්තාවන් තම ඉනට ළං කර ද තබා ගත යුතු ය. පසු ව,

سُبْحَانَ رَبِّيَ الْعَظِيْمُ (وَبِحَمْدِه)

(මහිමය හිමි, මගේ පරමාධිපති ව පාරිශුද්ධ කර, ඔහුට ප්‍රශංසා කරමි) යනුවෙන් තෙවරක් පාරායනය කළ යුතු ය.

**★ රුකූඋ සිට නැගිට ඉඃතිදලයට පැමිණීම.**

රුකූඋවේ සිට ඉඃතිදලයට පැමිණෙන විට (ඍජුව සිටගන්නා ඉරියව්වට පැමිණෙන විට) සමාරම්භක තක්බීරයේ දී දෑත් ඔසවන සේ

سَمِعَ اللهُ لِمَنْ حَمِدَهُ

(තමාව ප්‍රශංසා කරන්නාගේ ප්‍රශංසාවට අල්ලාහ් සවන් දෙන්නේ ය.) යනුවෙන් පවසමින් රුකූඋ සිට නැගිට කෙළින් සිට ගත යුතු ය. මෙලෙස ඉඃතිදලයට පැමිණි පසු, දෙඅත් පහළට දමා

رَبَّنَا لَكَ الْحَمْدُ مِلْءَ السَّمَاوَاتِ و مِلْءَ الْأَرْضِ وَمِلْءَ مَا شِئْتَ مِنْ شَيْءٍ بَعْدُ

(අපගේ පරමාධිපතියාණෙනි! අහස පුරවා, පොළොව පුරවා, ඉන් පසු ඔබ අභිමත පරිදි සියල්ල පුරවා (තැබූ) ඔබට සියලු ප්‍රශංසා හිමි ය.) යනුවෙන් පාරායනය කළ යුතු ය.

**★ සජද කිරීම (සුජූද් කිරීම)**

පසු ව ඉඃතිදලයේ සිට දෙඅත් නොඔසවා "අල්ලාහු අක්බර්" යනුවෙන් පවසා සුජූද් කිරීමට යා යුතු ය. "දෙපය, දෙදණහිස්, දෙඅත්, නළල, යන අවයව හත ම පොළොවට පතිත වන සේ සජද කළ යුතු ය. සජද කරන විට දෙඅත්හි ඇඟිලි කිබ්ලාව පෙරටු කර, කන හෝ උරහිස්වලට කෙළින් තබා ගත යුතු ය. පුරුෂයන් වැළමිට තම ඉන,උදරය, හා කළව යන පෙදෙස්වලට ළං නොකොට, දුරස් කර තබා ගත යුතු ය. කාන්තාවන් වැළමිට තම ඉන, උදරය හා කළව යන පෙදෙස්වලට ළං කර තබා ගෙන. සුජූද්හි දී

سُبْحَانَ رَبِّيَ الأَعْلَى (وَبِحَمْدِه)

(අතිශ්‍රේෂ්ඨ වූ මගේ පරමාධිපති ව පාරිශුද්ධ කර, ඔහුට ප්‍රශංසා කරමි.) යනුවෙන් තෙවරක් පාරායනය කළ යුතු ය.

**★ මැද ඉඳුමට පැමිණීම.**

සුජූද්හි ස්වල්ප වේලාවක් රැඳී පසු ව තක්බීර් පවසා හිස ඔසවා දණ හිස අල්ලාගෙන මැද ඉඳුමෙහි හිඳ ගත යුතු ය. එවිට, දකුණු පාදයෙහි ඇඟිලි තුඩු පොළවේ වැදෙන සේ සිටුවා තබා, වම් පාදයේ යටි පාදය මත හිඳ ගත යුතු ය. දෙඅත්හි ඇඟිලි කිබ්ලාව දෙසට, දණ හිසට සමීපයෙහි, කළව පෙදෙස මත තැබිය යුතු ය. මෙම හිඳුම "ඉෆ්තිරාෂ්" නම් වේ. එවිට,

رَبِّ اغْفِرْلِيْ وَارْحَمْنِيْ وَاجْبُرْنِيْ وَارْفَعْنِيْ وَارْزُقْنِيْ وَاهْدِنِيْ وَعَافِنِيْ

(පරමාධිපතියාණනි! මට කමා කොට දයාන්විත වන්න. මගේ අඩුපාඩු මගහරවා දෙන්න. මාව උසස් කොට භාග්‍යය ළඟා කර දෙන්න. මාව ඍජු මගෙහි මෙහෙයවන්න. මට සුවය ලබා දෙන්න.) යනුවෙන් පාරායනය කළ යුතු ය.

### ★ දෙවන සජද (සුජූද්)

මැද හිඳුමෙහි ස්වල්ප වේලාවක් රැඳී සිට, "අල්ලාහු අක්බර්" යැයි පවසමින් දෙවන සුජූදයට යා යුතු ය. පළමු සුජූදය ඉටු කළ සේ එහි ස්වල්ප වේලාවක් රැඳී සිට "තස්බීහ්" පාරායනය කළ යුතු ය.

දෙවන සුජූදයට පසු තක්බීරය ටිකක් දිගුව පවසමින් හිස ඔසවා දෙවන රකාඅතය උදෙසා නැඟිට සිට ගත යුතු ය. දෙවන රකඅතයේ දී දෑත් බැඳ, පළමු රක අතයේ දී පාරායනය කළ සේ සූරතුල් ෆාතිහාව ද ඉන්පසු තවත් සූරාවක් ද පාරායනා කළ යුතු ය. සලාතයේ දී ප්‍රථම රකඅත් දෙකෙහි පමණක් සූරතුල් ෆාතිහාවට පසු වෙනත් සූරාවක් හෝ සූරාවක වැකි කිහිපයක් පාරායනා කළ යුතු ය. තෙවන, සිවු වන රකඅත් සහිත සලාතයන්හි දී සූරතුල් ෆාතිහා පමණක් පාරායනා කළ යුතු ය.

### ★ කුනූත්

සුබ්හු සලාතයේ දෙවන රකඅතයේ දී ද, රමළාන් මස 16 වන රාත්‍රියේ සිට අවසන් දින දක්වා විත්ර් සලාතයේ අවසාන රකඅතයේ දී ද, රුකූඋ සිට නැඟිට ඉඃතිදලයට අදළ දුආව පාරායනය කළ පසු දෙඅත් උරහිස් අසළට ඔසවා මුහුණ ඉදිරියේ තබා කුනූත් පාරායනා කිරීම සුන්නත් වේ.

اَللّٰهُمَّ اهْدِنِيْ فِيْ مَنْ هَدَيْتَ وَعَافِنِيْ فِيْمَنْ عَافَيْتَ وَتَوَلَنِيْ فِيْمَنْ تَوَلَّيْتَ وَبَارِكْ لِيْ فِيْمَا اَعْطَيْتَ وَقِنِيْ شَرَّ مَاقَضَيْتَ فَإِنَّكَ

تَقْضِيْ وَلاَ يُقْضٰى عَلَيْكَ اِنَّهُ لاَيَذِلُّ مَنْ وَالَيْتَ وَلاَيَعِزُّ مَنْ عَادَيْتَ تَبَارَكْتَ رَبَّنَا وَتَعَالَيْتَ, فَلَكَ الْحَمْدُ عَلَى مَا قَضَيْتَ,

وَأَسْتَغْفِرُكَ وَأَتُوْبُ إِلَيْكَ, وَصَلَّى الله عَلَى نَبِيِّنَا مُحَمَّدٍ النَبِيِّ الْأُمِّيِّ وَعَلَى آلِهِ وَصَحْبِهِ وَسَلَّمَ.

### ★ අත්තහියියාත්

අවස්ථා දෙකක දී පාරායනා කරනු ලැබේ. එය පළමු අත්තහියියාත් හා අවසාන අත්තහියියාත් වේ. රකඅත් තුනකින් හෝ හතරකින් යුක්ත සලාත්වල දෙවන රකඅතයේ දෙවන සුජූදයට පසු ඉෆ්තිරාෂ් හිඳුමෙහි හිඳ ගැනීම පළමු අත්තහියාත් වේ.

التَّحِيَّاتُ الْمُبَارَكَاتُ الصَّلَوَاتُ الطَّيِّبَاتُ لِلّٰهِ السَّلَامُ عَلَيْكَ أَيُّهَا النَّبِيُّ وَرَحْمَةُ اللهِ وَبَرَكَاتُهُ, السَّلَامُ عَلَيْنَا وَعَلَى

عِبَادِ اللهِ الصَّالِحِيْنَ, أَشْهَدُ أَنْ لَاإِلَهَ إِلاَّ اللهَ وَأَشْهَدُ أَنَّ مُحَمَّدًا عَبْدُهُ وَرَسُوْلُهُ.

සියලු ම සලාත්වල අවසාන රකඅතයේ දෙවන සුජූදයට පසු අත්තහියියාත් දකුණු පාදයේ යටි පාදය කෙළින් සිටවා, වම් පාදය දකුණු පාදයට යටින් තබා පෙළොවේ හිඳ ගැනීම අවසාන අත්තහියාත් වේ. මෙය "තවර්රුක්" හිඳුම නම් වේ. ප්‍රථම අත්තහියියාතයේ දී අත්තහියාත් දුආවේ "ඉබ්රාහිමීයියා" වන තෙක් ද අවසාන අත්තහියියාතයේ දී "සලවාත් ඉබ්රාහිමීයියා" කොටස අවසාන වන තෙක් ද පාරායනය කළ යුතු ය.

اللَّهُمَّ صَلِّ عَلَى مُحَمَّدٍ وَعَلَى آلِ مُحَمَّدٍ, كَمَا صَلَّيْتَ عَلَى إِبْرَاهِيمَ وَعَلَى آلِ إِبْرَاهِيمَ إِنَّك حَمِيدٌ مَجِيدٌ,  وَبَارِكْ عَلى

مُحَمَّدٍ وَعَلَى آلِ مُحَمَّدٍ, كَمَا بَارَكْتَ عَلى إِبْرَاهِيمَ وَعَلَى آلِ إِبْرَاهِيمَ إِنَّك حَمِيدٌ مَجِيدٌ.

අත්තහියියාත් පවසන හිඳුම් දෙකේ දී ම, දෙඅත් දණහිසට කෙළින් කළවා මත තබා, දකුණතෙහි දබර ඇඟිල්ල තරමක් ඇතුළට නැමෙන සේ එම ඇඟිල්ලෙහි යටි පෙදෙස මහපට ඇඟිලි තුඩට සමීපයෙහි තබා ගත යුතු ය. අනෙකුත් ඇඟිලි තුන ම ඇතුළට නමා තබා ගත යුතු ය.

"අෂ්හදු අන්ලාඉලාහ ඉල්ලල්ලාහ්" යන වැකිය පාරායනය කරන විට, ඇතුළට නමා ගෙන සිටි දකුණතෙහි දබරැඟිල්ල සම්පූර්ණයෙන් ම දිගු කළ යුතු ය. එවිට සලාම් පවසන තුරු දිගුකර තබා ගන්නා එම දබරඟිල්ල දෙස බලා ගෙන සිටීමෙන් අනෙකුත් අවස්ථාවන්හි දී සුජූද් කරන ස්ථානය දෙස බලා සිටීම ද සුන්නත් වේ.

අවසාන අත්තහියියාත් පාරායනය කර අවසන් වූ පසු "අස්සලාමු අලෛකුම් වරහ්මතුල්ලාහ්" යනුවෙන් සලාම් පවසමින් මුහුණ දකුණු දෙසටත් ඒ සමග ම දෙවන සලාමය පවසමින් වම් දෙසටත් හැරවිය යුතු ය. මේ සමගින් සලාතය අවසන් වේ.

السَّلَامُ عَلَيْكُمْ وَرَحْمَةُ اللهِ.

ෆර්ලු සලාතයට අනතුරු ව කරන ප්‍රාර්ථනාවන් ඉක්මනින් ඉටු වේ. ඒ නිසා, අවශ්‍ය පරිදි, ප්‍රියමනාප ප්‍රාර්ථනා සිදු කළ හැකි ය. දුආව හම්දු සලවාත් සමග ආරම්භ කර හම්දු සලවාත් සමගින් අවසන් කළ යුතු ය.

**අභ්‍යාස**

01. සලාතය යන අනිවාර්ය වගකීමෙහි වැදගත්කම පැහැදිලි කරන්න.
02. සුජූද් කිරීමේ දී භූමිය ස්පර්ශ විය යුතු ශරීරයේ කොටස් මොනවාද? එහිදි පාරායනා කළ යුතු 'තස්බීහ්' මොනවාද?
03. සලාතය ඉටු කිරීම පිළිබඳ නොසැලිකිලිමත්ව සිටිනවුන්ට ඔබ දෙන උපදේශය කුමක් ද?
04. පහත දැක්වෙන අරාබි වචනවල අර්ථය ලියන්න.

| | |
|---|---|
| අ) තක්බීර් තහ්රීමා | ඇ) ඉඃතිදාල් |
| ආ) ඉෆ්තිරාෂ් | ඈ) තවර්රුක් |

09



# සලාතයෙන් අනතුරු ව කළ යුතු පාරායනයන්



මිනිසා සෑම මොහොතක ම සෑම අවස්ථාවක ම අල්ලාහ් දෙසින් අවශ්‍යතා ඇත්තකු ලෙස සිටින්නේ ය. එහෙයින්, තමන්ගේ කුමන අවශ්‍යතාවක් වුව ද ඒවා ඔහුගෙන් ප්‍රාර්ථනා කරන ලෙසත් එය සපුරා දීමට ඔහු සෑම විට සූදානමින් සිටින බවත් අල්ලාහ් පවසන්නේ ය.

"යමෙකු තම අවශ්‍යතා අල්ලාහ්ගෙන් ප්‍රාර්ථනා නොකරන්නේ ද ඔහු පිළිබඳ ව අල්ලාහ් කෝපයට පත් වන්නේ ය." යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (අහ්මද්)

එය තවත් ස්ථිර කරන පරිදි "දුආ නැමදුමකි" යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (තිර්මිදි)

එහෙයින්, සියලු ඉබාදත් අතරින් දුආවලට ප්‍රමුඛස්ථානයක් හිමි ව ඇත. විශේෂයෙන් "නැමදුම" ගෙන හැර බලන කල, "සලාත්" නම් අරාබි පදයට "ප්‍රාර්ථනාව" යන අර්ථය අන්තර්ගත වේ. සලාතය තුළ දීත් එය ඉටු කළ පසුවත් පාරායනය කළ යුතු දුආ රැසක් ඉස්ලාම් අපට පෙන්වා දී ඇත. තව ද ෆර්ලු වන සලාතයන්ට පසු ප්‍රාර්ථනා කරනු ලබන දුආවන් ඉතා ඉක්මනින් අල්ලාහ් විසින් පිළිගනු ලබන බැවින් ඒ පිළිබඳ ව දැඩි සේ උනන්දු කර ඇති බව දැකගත හැකි ය.

පංච කාල සලාතයන් ඉටු කළ පසු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා දීර්ඝ වේලාවක් එම ස්ථානයේ හිඳ දික්ර් හා අව්රාද් රැසක් පුරුද්දක් ලෙස පාරායනා කළ අතර සහාබිවරුන්ටත් එය ඉගැන්වූයේ ය. ඔවුහු එය තම ජීවිතයේ දී පිළිපැද්දෝ ය. එපමණක් නොව, සහාබිවරුන් අතරින් කවරකු හෝ සලාතය අහවර කොට අව්රාද් පාරායනය කිරීමෙන් වැළකී යුහුසුලු ව නැගිට පිට වී යන්නේ නම් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඔහු පිළිබඳ ව විශේෂ විමසුමක් පවත් වන තරමට ම දුආ යන විෂයෙහි සැලකිල්ලක් දැක්වූහ. එහෙයින්, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මෙම මගපෙන්වීම අපගේ ජීවිතය තුළත් ක්‍රියාත්මක කිරීමට අප සම්පූර්ණයෙන් ම උත්සහා කිරීම අවශ්‍ය ය.

එම නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා සහාබිවරුන් සලාතයෙන් අනතුරු ව පාරායනය කළ, දුආ තස්බීහ්, අව්රාද් ගොනු කර ඒ කෙරෙහි අපි අවධානය යොමු කරමු.



● නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ජමාඅත් සලාතය අවසන් කර ප්‍රථම3

أَسْتَغْفِرُ اللَّه، أَسْتَغْفِرُ اللَّه، أَسْتَغْفِرُ اللَّه.

●

أَللَّهُمَّ أَنْتَ السَّلاَمُ وَمِنْكَ السَّلاَمُ،

تَبَارَكْتَ يَاذَا الْجَلاَلِ وَالْإِكْرَام

යනුවෙන් පාරායනය කළහ.

අර්ථය :- අල්ලාහ් අති ශ්‍රේෂ්ඨ වේ. මම අල්ලාහ්ගෙන් පව් කමාව අයැදිමි. (තෙවරක්) යා අල්ලාහ්! ශාන්තිය ඔබ ය. ශාන්තිය ලැබෙන්නේ ඔබ වෙතින් ම ය. අති ගෞරවනීය, අති මහෝත්තමයාණනි! ඔබ සෞභාග්‍යට හිමිකරු ය. (මුස්ලිම්)

● නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සලාතයට පසු පහත දැක්වෙන ආකාරයට පාරායනය කළේය.

لاَ إِلَهَ إِلاَّ اللهُ وَحْدَهُ لاَ شَرِيْكَ لَهُ، لَهُ الْمُلْكُ وَلَهُ الْحَمْدُ وَهُوَ عَلَى كُلِّ شَيْءٍ قَدِيْرٍ،لاَ حَوْلَ وَلاَ قُوَّةَ إِلاَّ بَاللهِ، لاَ إِلَهَ إِلاَّ اللهِ، وَلاَ نَعْبُدُ إِلاَّ إِيَّاهُ ، لَهُ النَّعْمَةُ وَلَهُ الْفَضْلُ ،وَلَهُ الثَّنَاءُ الْحَسَنِ، لاَ إِلَهَ إِلاَّ اللهُ مُخْلِصِيْنَ لَهُ الدِّيْنَ وَلَوْ كَرِهَ الْكَافِرُوْنَ.

أَللَّهُمَّ لاَ مَانِعَ لِمَا أَعْطَيْتَ وَلاَ مُعْطِي لِمَا مَنَعْتَ وَلاَ يَنْفَعُ ذَا الْجَدِّمِنْكَ الْجَدِّ

අර්ථය :- නැමදීමට සුදුස්සා අල්ලාහ් හැර (වෙන කිසිවක්, කිසිවකුත්) නොමැත. ඔහු පරම වේ. ඔහු අසමසම ය. රාජ්‍යය ඔහුට හිමි ය. සියලු ප්‍රශංසා ඔහුට හිමි ය. සියලු වස්තුව කෙරෙහි ඔහු බලසම්පන්න ය. අල්ලාහ්ගේ පිහිට නොමැතිව කුසල් කිරීමට හෝ අකුසල් වැළකී සිටීමට හෝ නොහැක. අපි ඔහු හැර අන් කිසිවකු නොනමඳිමු. සියලු දායාද ඇත්තේ ඔහු වෙත ය. තව ද කීර්තිය සහ අලංකාර පැසසුම ද ඇත්තේ ඔහුටයි. අල්ලාහ් හැර වැඳීමට අන් දෙවියකු නැත ප්‍රතික්ෂේප කරන්නන් පිළිකුල් කළ ද ඔහු වෙනුවෙන් ම ඔහුගේ දහම ඉතසිතින් පිළිපදිමු. අල්ලාහ්! ඔබ ප්‍රදනය කළ දේ වළක්වන්නෙක් නැත. ඔහු වැළැක් වූ දේ ප්‍රදනය කරන්නකු ද නැත. ඔහුගෙන් පැමිණෙන දඬුවමින් ආරක්ෂා කිරීමට ධනවතුන්ගේ වස්තුව ප්‍රයෝජනවත් වන්නේ නැත. (මුස්ලිම්)

• මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. "යමෙක් සෑම සලාතයකට ම පසු ව සුබ්හානල්ලාහ් 33 වරක් ද අල්හම්දුලිල්ලාහ් 33 වරක් ද අල්ලාහු අක්බර් 33 වරක් ද පාරායනය කර 100 සම්පූර්ණ කිරීම උදෙසා (මෙහි පහත සඳහන්) හතර වන කලිමාව වරක් පාරායනය කළේ නම්, ඔහුගේ පාපී ක්‍රියාවන් මුහුදු පෙණ මෙන් තිබුණ ද කමා කරනු ලැබේ." (මුස්ලිම්)

| | | |
|---|---|---|
| سُبْحَانَ اللهِ | අල්ලාහ් පරිශුද්ධවන්තයා ය | 33 වරක් |
| اَلْحَمْدُ لِلّٰهِ | අල්ලාහ්ට සියලු ප්‍රශංසා හිමි ය | 33 වරක් |
| اَللّٰهُ أَكْبَر | අල්ලාහ් අති ශ්‍රේෂ්ඨ වේ | 33 වරක් |

لاَ إِلَهَ إِلاَّ اللهُ وَحْدَهُ لاَ شَرِيْكَ لَهُ الْمُلْكُ وَلَهُ الْحَمْدُ وَهُوَ عَلَى كَلِّ شَيْءٍ قَدِيْرٌ

අර්ථය - නැමදීමට සුදුස්සා අල්ලාහ් හැර (වෙන කිසිවක්, කිසිවෙකුත් නොමැත.) ඔහු පරම වේ. ඔහු අසමසම ය. රාජ්‍යය ඔහුට හිමි ය. සියලු ප්‍රශංසා ඔහුට හිමි ය. සියලු වස්තුව කෙරෙහි ඔහු බලසම්පන්නයා ය.

**• නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සෑම සලාතයකට ම පසු ව ඉඛ්ලාස්, ෆලක් හා නාස් යන සූරා තුන පාරායනය කළේ ය. (තිර්මිදි, අබූදාවූද්, නසාඊ)**



سورة الإخلاص مكية وهي أربع آيات

بِسْمِ اللهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝

قُلْ هُوَ اللهُ أَحَدٌ ۝ اَللهُ الصَّمَدُ ۝ لَمْ يَلِدْ ۙ وَلَمْ يُوْلَدْ ۝ وَلَمْ يَكُنْ لَّهُ كُفُوًا أَحَدٌ ۝

අර්ථය - (නබිවරයාණනි !) නුඹ පවසනු. අල්ලාහ් පරම වේ. අල්ලාහ් කිසිවකුගෙන් අවශ්‍යතා රහිත ය. ඔහු (කිසිවෙකුත්) ජාතක කළේ ද නැත. ඔහු (කිසිවකුට දාව) ජනිත වූයේ ද නැත. තව ද ඔහුට සමාන කිසිවකුත් නැත. (112:1-4)



سورة الفلق مكية وهي خمس آيات

بِسْمِ اللهِ الرَّحْمٰنِ الرَّحِيْمِ ۝

قُلْ أَعُوْذُ بِرَبِّ الْفَلَقِ ۝ مِنْ شَرِّ مَا خَلَقَ ۝ وَمِنْ شَرِّ غَاسِقٍ إِذَا وَقَبَ ۝ وَمِنْ شَرِّ النَّفّٰثٰتِ فِي الْعُقَدِ ۝ وَمِنْ شَرِّ حَاسِدٍ إِذَا حَسَدَ ۝

අර්ථය - (නබිවරයාණනි!) නුඹ පවසනු අරුණෝදයේ පරමාධිපතිගෙන් මම ආරක්ෂාව පතමි. ඔහු නිර්මාණය කළ දෙයෙහි හානියෙන් ද අන්ධකාරය පැතිරෙන කල ඇති වන්නා වූ හානියෙන් ද ගැටවලට ජපකර පිඹින ස්ත්‍රීන්ගේ හානියෙන් ද ඊර්ෂ්‍යා කරන්නා ඊර්ෂ්‍යා කරන විට ඇති වන්නා වූ හානියෙන් ද (මම ආරක්ෂාව පතමි.) (113:1-5)


سُورَةُ النَّاسِ
بِسْمِ اللَّهِ الرَّحْمَٰنِ الرَّحِيمِ
قُلْ أَعُوذُ بِرَبِّ النَّاسِ ﴿١﴾ مَلِكِ النَّاسِ ﴿٢﴾ إِلَٰهِ النَّاسِ ﴿٣﴾
مِن شَرِّ الْوَسْوَاسِ الْخَنَّاسِ ﴿٤﴾ الَّذِي يُوَسْوِسُ فِي
صُدُورِ النَّاسِ ﴿٥﴾ مِنَ الْجِنَّةِ وَالنَّاسِ ﴿٦﴾

අර්ථය - (නබිවරයාණනි!) නුඹ පවසනු මිනිසුන්ගේ පරමාධිපතිගෙන් මම ආරක්ෂාව පතමි. මිනිසුන්ගේ අධිපති (ඔහු ය.) මිනිසුන්ගේ නැමදුමට සුදුස්සා (ඔහු ය) සැඟවී සිට නිෂ්ඵල සැක ඇති කරනා (මහ ෂෛතාන් ගේ.) හානියෙන් ද මිනිසාගේ සිත්හි නිෂ්ඵල සැක ඇති කරන්නා වූ ජින්වරුන්ගෙන් හා මිනිසුන්ගෙන් ද (මම ආරක්ෂාව පතමි.) (114:1-6)

## ● නබි සල්ලල්ලාහු අලෛහි ව සල්ලම් තුමා සෑම සලාතය කටම පසුව "ආයතුල් කුර්සී" දිනපතා පාරායනය කළේ ය.

යමෙක් සෑම සලතයකට ම පසු ව "ආයතුල් කුර්සී" පාරායනය කරන්නේ ද ඔහුගේ මරණය හැර (වෙන කිසිවක්) ඔහු ස්වර්ගයට ඇතුළු වීම නොවළක්වන්නේ ය. (නසාඊ)

යමෙක් ෆර්ලු වන සලාතයට පසු "ආයතුල් කුර්සී" පාරායනය කරන්නේ ද ඔහු ඊළඟ සලාතයේ වේලාව පැමිණෙන තෙක් අල්ලාහ්ගේ රැකවරණයෙහි සිටින්නේ ය. (තබරානි)


اللَّهُ لَا إِلَٰهَ إِلَّا هُوَ الْحَيُّ الْقَيُّومُ ۚ
لَا تَأْخُذُهُ سِنَةٌ وَلَا نَوْمٌ ۚ لَّهُ مَا فِي السَّمَاوَاتِ وَمَا فِي الْأَرْضِ ۗ
مَن ذَا الَّذِي يَشْفَعُ عِندَهُ إِلَّا بِإِذْنِهِ ۚ يَعْلَمُ مَا بَيْنَ أَيْدِيهِمْ
وَمَا خَلْفَهُمْ ۖ وَلَا يُحِيطُونَ بِشَيْءٍ مِّنْ عِلْمِهِ إِلَّا بِمَا شَاءَ ۚ
وَسِعَ كُرْسِيُّهُ السَّمَاوَاتِ وَالْأَرْضَ ۖ وَلَا يَئُودُهُ حِفْظُهُمَا ۚ
وَهُوَ الْعَلِيُّ الْعَظِيمُ ﴿٢٥٥﴾ البقرة: ٢٥٥

අර්ථය - අල්ලාහ් හැර නැමදීමට වෙනත් කිසිදු දෙවියකු නොමැත. (ඔහු) සදා ජීවමාන ය; සදාකාලික ය. ඔහුව මද නින්ද හෝ තද නින්ද හෝ ග්‍රහණය නොකරයි. අහස්වල හා මහපොළොවේ (පැතිර) ඇති දේ හිමි වන්නේ ඔහුට ම ය ඔහුගේ අනුමැතියෙන් විනා ඔහු ඉදිරියේ මැදිහත් විය හැක්කේ කා හට ද? (මැවීම්වලට) ඉදිරියේ ඇති දෙයත්, ඔවුන්ගෙන් සැඟ වී ඇති දෙයක් ඔහු දන්නේ ය. ඔහුගේ ඥාන සම්භාරයෙන් ඔහු සිය අභිමානයෙන් අනාවරණය කරනු ලබන දෙයක් හැර වෙන කිසිවක් ඔවුනට අවබෝධ කර

ගත නොහැකිය. ඔහුගේ රාජ්‍යය (කුර්සියියු) අහස පුරා ද මහපොළොවෙහි ද ව්‍යාප්ත ය. මේ දෙක ආරක්ෂා කිරීම ඔහුට වෙහෙස ගෙන දෙන්නක් නොවේ. ඔහු ඉතා උත්කෘෂ්ඨ වන්නේ ය; උත්තරීතර වන්නේය. (2:255)

- **නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සෑම සලාතයකට ම පසු ව පහත සඳහන් ආකාරයට පාරායනය කළේ ය.**

اللَّهُمَّ إِنِّي أَعُوذُ بِكَ مِنَ الْبُخْلِ ، وَأَعُوذُ بِكَ مِنَ الْجُبْنِ ، وَأَعُوذُ بِكَ مِنْ أَنْ أُرَدَّ إِلَى أَرْذَلِ الْعُمُرِ ، وَأَعُوذُ بِكَ مِنْ فِتْنَةِ الدُّنْيَا ، وَأَعُوذُ بِكَ مِنْ عَذَابِ الْقَبْرِ

අර්ථය ඃ- යා අල්ලාහ්! බියගුළුභාවයෙන් හා මසුරුකමින් (මුදවා දෙන මෙන්) මම රැකවරණය පතමි. බෙලහීන වූ වයෝවෘද්ධ තත්ත්වයට මගේ ජීවිතය පත් නොවන්නට මම රැකවරණය පතමි. මෙලොව කෝලහාලවලින් මම රැකවරණය පතමි. කබ්රයේ වේදනාවෙන් මම රැකවරණය පතමි. (බුහාරි, තිර්මිදි)

- **නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සෑම සලාතයකට ම පසුව මෙම දුආව පාරායනා කළේය.**

اللَّهُمَّ أعِنَّا عَلَى ذِكْرِكَ، وَشُكْرِكَ، وَحُسْنِ عِبَادَتِكَ

අර්ථය ඃ- යා අල්ලාහ්! ඔබ මෙනෙහි කිරීමටත් ඔබට තුති පිදුමටත් ඔබ මනා ලෙස නැමදීමටත් ඔබ මට පිහිට වනු මැනව! (අබුදාවුද්, නසාඊ)

- **සුබ්හු හා මග්රිබ් යන සලාතයන්ට පසු ව මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා විශේෂ දුආ කිහිපයක් පාරායනය කළ බව සැල වේ. ඒ අතුරින් "කලිමතුත් තව්හීද්" දස වරක් පාරායනා කර ඇත.**

යමෙක් සුබ්හු සලාතය අහවර කර කිසිවෙකු සමඟ දෙඩමලු වීමට පෙර "කලිමතුත් තව්හීද්" පාරායනය කරන්නේ ද ඔහුට කුසල් 10ක් ලියනු ලැබේ. ඔහුගේ අකුසල් 10ක් විනාශ වේ. ඔහුගේ (තත්ත්වය) 10කින් වැඩි වේ. තව ද එදින සියලු නපුරෙන් ආරක්ෂා කරනු ලැබේ. ෂෛතාන්ගේ හානියෙන් ඔහුව රැකගනු ලැබේ, යනුවෙන් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසුවේ ය. (තිර්මිදි)

لاَ إِلَهَ إِلاَّ اللهُ وَحْدَهُ لاَ شَرِيْكَ لَهُ الْمُلْكُ وَلَهُ الْحَمْدُ يُحْيِيْ وَيُمِيْتُ وَهُوَ عَلَى كَلِّ شَيْءٍ قَدِيْرٌ

අර්ථය ඃ- නැමදුමට සුදුස්සා අල්ලාහ් හැර අන් කිසිවකු නැත. ඔහු ඒකයා ය. ඔහුට කිසිවකුත් සමාන නොවේ. සියලු පාලන බලය ඇත්තේ ඔහුට මය. සියලු ප්‍රශංසා අයත්

වන්නේ ද ඔහුට ම ය. ඔහු පණ දෙයි. මරණයට පත් කරයි. සියලු යහපත රැඳී ඇත්තේ ඔහු වෙත ය. සියල්ලට වඩා බලවතා ඔහු මය.

- **සුබ්හු හා මහරිබ් යන සලාතයන්ට පසු ව මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මෙය සත් වරක් පාරායනය කළේ ය.**

اَللَّهُمَّ أَجِرْنِي مِنَ النَّارِ

අර්ථය ඃ- යා අල්ලාහ්! නිරයේ ගින්නෙන් මාව රැක දෙනු මැනව !

යමෙක් සුබ්හු සලාතයට පසු ව කිසිවකුත් සමග දෙඩමලු වීමට පෙර සත් වරක් පාරායනය කරන්නේ ද එදින ඔහු මිය ගියේ නම්, ඔහු නිරයේ (ගින්නෙන්) නිදහස ලබයි. එලෙස ම, මඟ්රිබ් සලාතයට පසු ව පාරායනය කරන්නේ ද ඒ දින රාත්‍රියේ ඔහු මිය ගියේ නම්, ඔහු නිරයේ (ගින්නෙන්) නිදහස ලබයි. (අබූදාවූද්)

- **සුබ්හු සලාතයට පසු මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ පාරායනය කළහ.**

اَللَّهُمَّ إِنِّيْ أَسْأَلُكَ عِلْمًا نَافِعًا وَرِزْقًا طَيِّبًا وَعَمَلاً مُتَقَبَّلاً

අර්ථය - යා අල්ලාහ්! ප්‍රයොජනවත් අධ්‍යාපනය, පිරිසිදු (හලාල් වන) ආහාර හා පිළිගනු ලැබූ ක්‍රියාව මම ඔබගෙන් ඉල්ලන්නෙමි. (ඉබ්නු මාජා)

මෙවැනි දුආ රැසක් මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ෆර්ලු වන සලාතයන්ට පසු ව පාරායනය කළහ. මේවා අර්ථය සමග කට පාඩම් කර සලාතයට අනතුරු ව සංසුන් ව පාරායනය කිරීම මගින් අල්ලාහ්ගේ තෘප්තිය ලබා ගනිමු.

තවත් මෙවැනි ම දික්ර් හා දුආ රැසක් හදීස්වල සඳහන් වේ. ඒවාද හැකි තරම් ඉගෙන ගෙන මෙලොව, පරලොව ජය ගනිමු.

**අභ්‍යාස**

01. දුආ වැදගත් ඉබාදතයකි, යන්න උදහරණ සමග පහදන්න.

02. සුබ්හානල්ලාහ්, අල්හම්දුලිල්ලාහ්, අල්ලාහු අක්බර් යන පද අරාබි භාෂාවෙන් ලියා අර්ථය හා විශේෂතා ලියා දක්වන්න.

03. ආයතුල් කුර්සිහි අල්ලාහ්ගේ ගුණාංග පිළිබඳ ව පවසන ආකාරය ලියා පෙන්වන්න.

04. සලාතයට අනතුරු ව පාරායනය කරන මෙවැනි ම දුආවන් සොයා ලියන්න.

10



# අත් තස්කියා



## තස්කියා යනු කුමක් ද?

තස්කියා යන අරාබි පදයෙහි පාරිශුද්ධ කිරීම, පිළිවෙළට සකස් කිරීම යන අර්ථය ගැබ් වී ඇත. ඉස්ලාමීය භාෂා ව්‍යවහාරයේ දී චිත්ත පාරිශුද්ධිය යන අර්ථය ගම්‍ය වන පරිදි "තස්කියතුන් නෆ්ස්" යන්න කෙටියෙන් "තස්කියා" ලෙස හැඳින්වේ. තස්කියා තුළින්, මුස්ලිම්වරයකු අල්ලාහ්ට ආදේශ කිරීමෙහි ලා අන්තර්ගත වන සියලු ම දුර්ගුණාංගවලින් ද තම සිතත් ක්‍රියාවත් ආරක්ෂා කරගෙන අල්ලාහ් ප්‍රිය නොකරන සියලු ම ක්‍රියාකාරකම්, ආශාවන්, චින්තනයන් යනාදියෙන් සිත දමනය කොට එහි යහ ගුණාංග වර්ධනය කර පරිශුද්ධ ව තබා ගත යුතු ය.

සිතෙහි (නෆ්ස්) තත්ත්වයන් තුනක් පිළිබඳ ව අල් කුර්ආනයෙහි සඳහන් කර ඇත.

1. 'නෆ්සුල් අම්මාරා බිස්සූඃ' යනු අයහපතට පොළඹවන සිතයි. මෙය යහපත උදෙසා උත්සුක නොකරයි. හැඟීම්වලට හා ෂෙයිතාන්ට වහල් වූ තත්ත්වයක් දක්නට ලැබේ.

2. 'නෆ්සුල් ලව්වාමා' යනු තමාව රිදවා ගන්නා සිතයි. මෙහි හැඟීම්වලට විරුද්ධ ව සටනක් තිබේ. එසේ ම, හැඟීම් උත්සන්න වී අකුසලෙහි නියැළුණේ නම්, එම මොහොතේ ඒ වෙනුවෙන් සිතින් පසුතැවිලි වේ. තමාට ම දෙස් පවරා ගනීයි. තම තත්ත්වය වටහා ගෙන ශෝකයට පත් වේ.

3. 'නෆ්සුල් මුත්මඉන්නා' යනු ශාන්ත වූ සිතයි. එය කලබලයෙන් හා නොසන්සුන් බවින් තොර තැන්පත් තත්ත්වයෙහි දක්නට ලැබේ. මෙහි අයහපතට පෙළඹවීම අඩු ය. යහපත කෙරෙහි ඇති පෙළඹවීම් අධික වශයෙන් දක්නට ලැබේ. මෙම තෙවන තත්ත්වය තුළ අයහපතින් ආරක්ෂා කරන ලද සිතක් ගොඩ නගා ගැනීම "තස්කියා" මගින් බලාපොරොත්තු වේ.

## තස්කියාවෙහි වැදගත්කම.

මිනිසාට දෙලොව ම ජය ගැනීමට චිත්ත පාරිශුද්ධිය අත්‍යවශ්‍ය කරුණකි. පාපී ක්‍රියාවන්ගෙන් සිත ආරක්ෂාකර ගැනීම තුළින් මෙලොව, පරලොව ජය අත් කර ගත හැකි බව අල් කුර්ආනය පවසයි.

නියත වශයෙන් ම යමෙක් එය (සිත) පිරිසිදු කර ගන්නේ ද ඔහු ජය අත් කර ගත්තේ ය. තව ද යමෙක් එය දූෂණය කර ගත්තේ ද ඔහු පරාජයට පත් වූයේ ය. (91:9-10)

මේ පිළිබඳ ව අල්ලාහ් තම මැවීම් වන හිරු, සඳු, රාත්‍රිය, දහවල යනාදිය මත දිවුරා පවසා තිබීමෙන් චිත්ත පාරිශුද්ධියෙහි වැදගත්කම වඩවඩාත් ස්ථිර වේ.

දේව ධර්ම දූතයන් මෙලොවට එවන ලද ප්‍රධාන අරමුණු අතරින් එකක් ලෙස චිත්ත පාරිශුද්ධිය දැක්විය හැකි ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ සේවය පිළිබඳ ව සඳහන් කරන විට අල්ලාහ් තම දේව ග්‍රන්ථයෙහි මෙසේ පවසන්නේ ය.

ලිවීමට, කියවීමට නොහැක්කන් අතුරින් ඔහු (අල්ලාහ්) දේව ධර්ම දූතයන්ව එව්වේ ය. එම රසූල්වරයා ඔවුනට අල්ලාහ්ගේ දේව වැකි පාරායනය කර පෙන්වන්නා ලෙස ද ඔවුන් පාරිශුද්ධ කරවන්නා ලෙස ද ඔවුන්ට ධර්මය හා ඥානය (සුන්නාහ්ව) උගන්වා දෙන්නා ලෙස ද සිටින්නේ ය. (62:02)

ස්වර්ගයට පිවිසිය හැකි මූලික සුදුසුකමක් ලෙස සිත පාරිශුද්ධ කරවන ක්‍රියාකාරකම් දැක්විය හැකි ය. මෙය ප්‍රවේසමින් මෙහෙයවිය යුතු ය. එය නිවැරදි මාර්ගයේ යොමු කරවූයේ නම්, පමණක් ස්වර්ගයට යන මාර්ගයේ ගමන් කළ හැකි ය. මෙය පහත සඳහන් අල් කුර්ආන් වැකියෙහි පැහැදිලි කර ඇත.

කවරකු, ''තම දෙවියන් ඉදිරියේ සිටී'' යැයි බිය බැති ව, තම සිත ඉච්ඡාවෙන් වළක්වා ගන්නේ ද නියත වශයෙන් ඔහුගේ නවාතැන ස්වර්ගය වේ. (80:40-41)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ චිත්ත පාරිශුද්ධියේ වැදගත්කම පිළිබඳ ව අවස්ථා රැසක දී ම තම සගයන්ට ගෙන හැර දැක්වූහ. කෙනකුගේ සිත යහපත් වීමෙහි වැදගත්කම පිළිබඳ ව වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පහත ආකාරයෙන් වටහා දුන්හ.

නියත වශයෙන් ම ශරීරයෙහි එක මස් පිඩක් ඇත. එය අයහපත් වූයේ නම්, මුළු ශරීරය ම අයහපත් වේ. එය යහපත් වූයේ නම්, මුළු ශරීරය ම යහපත් වේ. එය සිත වේ. (බුහාරි, මුස්ලිම්)

ඉස්ලාමය තුළ ජිහාද් අතුරින් ඉතාම යහපත් ජිහාදය ලෙස "මුජාහදතුන් නෆ්ස්" නම් වූ සිතින් කරන ජිහාදය සලකනු ලැබේ. මෙය මෙම හදීසය මගින් පැහැදිලි කරයි. (මල්ලව පොර යුද්ධයේ දී) අනෙකා බිම හෙලන්නා වීරයෙක් නොවේ. කෝපයක දී තම සිත දමනය කර ගනු ලබන්නා සත්‍යය වීරයෙක් වේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ විටින් විට චිත්ත පාරිශුද්ධිය පතා අල්ලාහ්ගෙන් ද ප්‍රර්ථනා කළහ.

اللَّهُمَّ آتِ نُفُوسَنَا تَقْوَاهَا، وَزَكِّهَا أَنْتَ خَيْرُ مَنْ زَكَّاهَا، أَنْتَ وَلِيُّهَا وَمَوْلَاهَا

"යා අල්ලාහ් ! අපගේ සිත්හි දේව බිය ඇති කරත්වා! ඔබ එය පාරිශුද්ධ කරත්වා! නියත වශයෙන්ම ශ්‍රේෂ්ඨතම පාරිශුද්ධ කරන්නා ඔබ ම ය. එහි වගකීම දරන්නා ලෙස හා ස්වාමියා ලෙස සිටින්නේ ඔබ ය." (මුස්ලිම්)

පෙර හා පසු පාපයන් කමා කරනු ලැබූ මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා චිත්ත පාරිශුද්ධිය උදෙසා මෙතරම් දෙවියන් අයැදුයේ නම්, අප එහි අවශ්‍යතාව කෙතරම් ඇත්තවුන් ද? යන්න කල්පනා කළ යුතු ය.

අපගේ ක්‍රියාකාරකම් කොතරම් විශාල වුවත් චිත්ත පාරිශුද්ධිය සමග එය ඉටු නොකරන විට ඒවාට අල්ලාහ් ඉදිරියේ කිසි දු ප්‍රයෝජනයක් හා වටිනාකමක් නොමැත. අල්ලාහ් අපගේ සියලු ක්‍රියාකාරකම්වල දී අපගේ සිත පිළිබඳ අවධානය යොමු කරන්නේ ය. අල්ලාහ් ඉදිරියේ දී අපගේ බාහිර පෙනුමට වඩා සිතට වැඩි වැදගත්කමක් හිමි වන්නේ ය. අබු හුරෛරා රළියල්ලාහු අන්හු තුමා නිවේදනය කරන ලද, "නියත වශයෙන් ම අල්ලාහ් ඔබලාගේ ශරීරය හෝ මුහුණ හෝ නොබලන්නේ ය. නමුදු ඔබලාගේ සිත් බලන්නේ ය" (මුස්ලිම්) යන හදීසය තුළින් මෙය අපට හොඳින් පැහැදිලි කරන්නේ ය.

එම නිසා, අල් කුර්ආනය හා හදීස් අපට පෙන්වා දෙන මගපෙන්වීම් පිළිපැද ආටෝපය, ආඩම්බරකම, ඊර්ෂ්‍යාව, වැනි පහත් ගුණාංගවලින් වැළකීම, ෆර්ලු වන වගකීම් නියමිත ආකරයෙන් ඉටු කිරීම, සුන්නත් වන වතාවත් ඉටු කිරීම, දික්ර්හි නියැළීම, අල් කුර්ආනය වැඩි වශයෙන් පාරායනය කිරීම, තව්බා කිරීම යනාදී විවිධ ක්‍රියාකාරකම් තුළින් අපගේ සිත් පාරිශුද්ධ කරගෙන දෙලොවෙහි ම ජය අත් කරගැනීමට උත්සාහ කරමු.

**අභ්‍යාසය**

01. "තස්කියා" යන්නෙහි භාෂාමය අර්ථය කුමක් ද?

02. ඉස්ලාමීය ව්‍යවහාරයේ දී "තස්කියතුන් නෆ්ස්" යන්නෙන් කුමක් අදහස් කරන්නේ ද ?

03. "තස්කියා" සඳහා අල් කුර්ආනය හා හදීස් සාධක එක බැගින් සොයා ලියන්න.

04. අල් කුර්ආනය මිනිසාගේ සිත බෙදා දක්වා ඇත්තේ කෙසේ ද?

05. තස්කියාවෙහි වැදගත්කම පිළිබඳ ව කරුණු පහක් ලියන්න.

06. අප තුළ චිත්ත පාරිශුද්ධිය ඇති කරලීම උදෙසා අප විසින් පිළිපැදිය යුතු කරුණු පහක් ලියා පෙන්වන්න.



# 11

# යහ ගුණාංග පිළිබඳ ඉස්ලාමීය දැක්ම I



ප්‍රවේසම්සහගත හා අනුමත කරන ලද ජීවිතයක් කෙසේ සැකසිය යුතු ද යන සීමාව පෙන්වා දෙන්නේ යහ ගුණාංග තුළින් ය. ජීවිතයේ සෑම පැතිකඩක දී ම සෑම තත්ත්වයක දී ම සෑම විට ම ඒවා ප්‍රදර්ශනය විය යුතු ය. මක්නිසාද යත්, අනෙකුත් සියලු ජීවින්ගෙන් වෙනස් වූ මිනිසා, ස්වාධීන උසස් තත්ත්වයක් ලබා ගැනීමට මෙම යහගුණාංග හේතු වී ඇත.

යහගුණාංග පෙන්වා දෙන මෙම උසස් තත්ත්වය හේතුවෙන් ඉතිහාසය තුළත් යහගුණාංග පිළිබඳ ව අදහස් හා චින්තනයන් එළිදැක්වුණි. මෙළොව බිහි වූ සියලු ම සමාජවල යහගුණාංගවලට සුවිශේෂී ස්ථානයක් ලබා දී තිබුණු අතර එම ජන සමාජ යහගුණාංග සම්බන්ධ ක්‍රියාකාරකම් ද රැක ගෙන ඇත.

අරාබි භාෂාව තුළ හුලුක් හසන්, අඛ්ලාක් හසනා, මකාරිමුල් අඛ්ලාක්, අදබ්, ආදාබ් ප්‍රමුඛ අරාබි පද යහගුණාංග පෙන්වා දීමට භාවිත කරනු ලැබේ. යහගුණාංගවලට ඉස්ලාම් උසස් ස්ථානයක් ලබා දී ඇත. මිනිසා සතු කර ගත යුතු යහගුණාංග පිළිබඳ ව දේශනා කිරීමෙහි ලා අල් කුර්ආන් හා සුන්නාහ් සුවිසල් මෙහෙයක් ඉටු කරන්නේ ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා යහගුණාංගවල ශිඛරයක් යැයි වර්ණනා කරන අල් කුර්ආනය යහගුණාංග නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගෙන් ඉගෙන ගන්නා ලෙස ආයාචනා කරන්නේ ය."යහගුණාංග තුළින් යහපත් පුද්ගලයා, ඔබලා අතුරින් යහපත් පුද්ගලයා වේ." යන අල් කුර්ආන් වැකිය, යහගුණාංගවලින් පරිපූර්ණ වූ ජීවිතයක් ගත කිරීමෙහි ලා ඇති අවශ්‍යතාව හා වැදගත්කම පහදා දෙන්නේ ය.

කුඩා කල සිට ම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා යහගුණාංග සපිරි පුද්ගලයකු ලෙස දිස් වූ බැවින් ''අල් අමීන්'' හා ''අස්සාදික්'' ලෙසත් එතුමාව හඳුන්වා දෙනු ලැබිණ. නබි ලෙස තෝරා පත් කර ගත් පසුවත් එතුමා ජනයා හා යහගුණාංග ඇතිව ක්‍රියා කළේ ය. නබි තුමා සතු වූ ගුණාංග ඉස්ලාමයේ පරම සතුරන් පවා ඉස්ලාමය සමග එක් ව එහි ආරක්ෂකයන් ලෙස වෙනස් වීමට රුකුලක් විය. ඉස්ලාම් අරාබි දේශයට පිටස්තර ලෝකයේ ප්‍රදේශ රැසක ව්‍යාප්ත වීමට ඉස්ලාම් පුහුණු කළ යහ ගුණාංග හේතු වූ බවට ඉතිහාසය තුළ සාක්ෂි රැසක් දක්නට ඇත.

අල් කුර්ආනය, යහගුණවලට වැඩි ප්‍රමුඛස්ථානයක් ලබා දී ඇත. සූරා ලුක්මාන්හි හා සූරා ෆුර්කාන්හි ඉස්ලාම් බැතිමතකු තුළ තිබිය යුතු වැදගත් යහගුණාංග පෙන්වා දී ඇත. ඉස්ලාම් බැතිමතකු කෙසේ හැසිරිය යුතු ද යන්නට උපදෙස් සූරා ලුක්මාන්හි පහත සඳහන් පරිදි දැක්වේ.

අල්ලාහ්ට කිසිවක් සමාන නොකරන්න. සලාතය ඉටු කරන්න. යහපත පනවමින් අයහපත වළක්වන්න. නුඹලාට ඇති වන සියලු ශෝකයන්හි දී ඉවසීමෙන් පසුවන්න. මිනිසුන්ගෙන් ඉවතට තම මුහුණ හරවා නොගන්න. ගර්වයෙන් මහපොළොව මත නොඇවිදින්න. ක්‍රියාවේ දී මධ්‍යස්ථභාවය පිළිපදින්න. හඬ පහත් කර ගන්න. හඬවල් අතරින් පිළිකුල් සහගත හඬ බූරුවාගේ හඬ ය.(සූරතුල් ලුක්මාල් 12-19)

මෙලෙස ම සූරතුල් ෆුර්කාන්හි දේව ගැත්තන්ගේ ගුණාංග පිළිබඳ ව පැවසීමෙන් ඉස්ලාම් ප්‍රිය කරන යහගුණාංග පෙන්වා දෙනු ලැබේ.

අල්ලාහ්ගේ යහ ගැත්තෝ මෙලොව යටහත් ව ක්‍රියා කරන්නෝ ය. අඥානවන්තයන් සමග තර්ක කිරීමෙන් වැළකී ගෞරවණීය ව සිටින්නෝ ය. රාත්‍රියේ ත් අධික වශයෙන් අල්ලාහ්ට නැමදුම් කරන්නෝය. නිරයේ වේදනාවෙන් ආරක්ෂාවරණය පතන්නෝ ය. නාස්තියෙන් හෝ ලෝභකමින් තොර වී මධ්‍යස්ථව වියහියදම් කරන්නෝ ය. අල්ලාහ්ට ආදේශ කර අන් කිසිවක් නොකැඳවන්නෝ ය. අසාධාරණ ව කිසිවකුත් ඝාතනය නොකරන්නෝ ය. දුරාචාරයේ නොහැසිරෙන්නෝ ය. කිසිවකු උදෙසාත් බොරු සාක්කි නොපවසන්නෝ ය. අනපේක්ෂිත ලෙස දූෂිත ක්‍රියාවක් දුටුවේ නම්, ගෞරවණීයව එයින් වැළකී සිටින්නෝ ය. අල් කුර්ආන් වැකියකට සවන් දෙන විට ඔවුහු අන්ධයන්, ගොළුවන් සේ ක්‍රියා නොකරන්නෝ ය. සතුටුදායක පවුල් දිවියක් පතා ප්‍රාර්ථනා කරන්නෝ ය. (සූරතුල් ෆුර්කාන් 63-73)

එම නිසා අපිත් අල් කුර්ආනය හා සුන්නාහ්හි මග පෙන්වා දී ඇති යහගුණාංග ආභරණ ලෙස පැළඳ ගැනීමට උත්සාහ කරමු.

**අභ්‍යාස**

01. යහගුණාංග යනු කුමක් ද යන්න කෙටියෙන් පැහැදිලි කරන්න.
02. වර්තමානයේ දී සිසුන් සමග යහගුණාංගවල අවශ්‍යතාව පිළිබඳව සාකච්ඡා කර තිබීමෙහි අවශ්‍යතාව ගෙන හැර දක්වන්න.
03. නබි සල් තුමාට රිසාලත් හිමි වීමට පෙර එතුමාව අමතනු ලැබුවේ කුමන යහගුණාංග විදහා දක්වෙන නාමයන් ගෙන් ද යන්න සඳහන් කරන්න.
04. "සූරතුල් ලුක්මාන්" හි සඳහන් වන යහගුණාංග 05ක් ලැයිස්තු ගත කරන්න.
05. "සූරතුල් ෆුර්කාන්" හි සඳහන් වන යහගුණාංග 05ක් ලැයිස්තු ගත කරන්න.

12



# යහ ගුණාංග පිළිබඳ ඉස්ලාමීය දැක්ම II



## ඉස්ලාම් පවසන යහගුණාංග කිහිපයක්

### ආදරය

ආදරය යනු අල්ලාහ්ගේ අලංකාර ගුණයන්ගෙන් එකකි. මෙම ගුණය හා සම්බන්ධ ව විවිධාකාර නාමයන් (අර්-රහ්මාන් - අතිකරුණාවන්තයා), අර් රහීම් - අති දයාවන්තයා, අල් වදූද් (මහගු කරුණාවන්තයා) අල්ලාහ්ට ඇත. අති දයාන්විත ඔහු තම ගැත්තාට දයාව දැක්වීමට අධික ව ප්‍රිය කරයි.

මුස්ලිම් බැතිමතකු ආදරය දැක්වීමේ ගුණය ලබා ගෙන සිටින්නේ නම් ඔහු අල්ලාහ්ට අයත් එම ගුණය ආභරණයක් ලෙස ලබා ගෙන සිටින්නේ ය, යන්න අර්ථවත් වේ.

අල්ලාහ් තම ගැත්තා වෙත තබා ඇති ආදරය කෙබඳු ද යන්න පහත හදීසයෙන් විස්තර කෙරේ.

(හවායින් ගෝත්‍රයට අයත්) සිරකරුවන්ගෙන් සමහරෙක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත පැමිණියහ. ඔවුන් අතර එක් කාන්තාවකගේ පියයුරුවලට කිරි එරුණේ ය. ඇය කිරි දීම සඳහා (තම දරුවා සොයමින් සිටිය ද) දරුවා සොයා ගත නොහැකි විය. එබැවින් සිරකරුවන් අතරින් කාගේ හෝ දරුවකු දැක එම දරුවා (වෙලා) ගෙන කිරි දුන්නා ය. තම දරුවා ලබාගත් වහා ම දරුවා ගෙන තම උදරයට තුරුළු කර කිරි දුන්නා ය. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා "මෙම කාන්තාව තම දරුවා ගින්නෙහි දමයි ද?" පවසන්න යයි අපගෙන් විමසුවේ ය. අප ද "නැත, කිසිවිටෙක දමන්නේ නැත," යයි පැවසුවෙමු. එවිට දේව ධර්ම දූත සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් "මෙම දරුවා වෙත ඇයට ඇති ආදරයට වඩා අල්ලාහ් තම ගැත්තා වෙත ඉතා ආදරයෙන් සිටියි" යනුවෙන් පැවසුවේ ය. (බුහාරි)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ සෙනෙහස, කරුණාව ආදරය, දයාව ආදී අලංකාර ගුණයන්ගෙන් පිරිපුන් වූහ. එහෙයින් අල් කුර්ආනය නබි (සල්) තුමාණන් පහත ආකාරයට අගය කර දක්වයි.

(නබි මුහම්මද්) ලෝකවැසියනට දයාලුවක් සේ මිස අපි නුඹ පහළ නොකළෙමු. (21:107)

"නබිවරයාණෙනි, අප සත්‍යය දන්නා සියල්ලන්ට දයාව දැක්වීමට මිස යැව්වේ නැත."

ඊතලයෙන් ලබා ගත නොහැකි දේ ආදරයෙන් ලබා ගත හැකි ය, යන්න සාමාන්‍ය ව්‍යවහාරයේ පවතියි.

'ආදරය නොමැත්තා තුළ පූර්ණ ඊමානයක් නොමැත' යන්න ද ඊමානය නැති කරගත් තැනැත්තාට ස්වර්ගයට ප්‍රවේශ විය නොහැකි ය' යන්න ද ඉස්ලාමයේ උපදේශයන් ය. මෙම අදහස පහත හදීසයෙන් පැහැදිලි වේ.

මාගේ ආත්මය කවරකු සතු ව තිබේ ද එම දෙවියා මත දිවුරා පවසමි. සත්‍යය වශයෙන් ඔබ ඊමාන් නොදරන තෙක් ස්වර්ගයට ප්‍රවේශ වන්නේ නැත. අන්‍යෝන්‍ය ආදරය දක්වන තෙක් ඊමාන් දැරිය නොහැකි ය.

කෙනෙක් තවත් කෙනකු කෙරෙහි හෝ අනෙකුත් ජීවින් කෙරෙහි හෝ දයාව දක්වීමෙන් ඔහුට කිසිදු අඩුවක් සිදු වන්නේ නැත. ඒ වෙනුවට අල්ලාහ්ගේ ආදරය ද, අන් අයගේ ආදරය ද ගෞරවය ද ඔහුට හිමි වේ. මෙය සමාජමය වශයෙන් අන්‍යෝන්‍ය සතුට, එකමුතුකම, සහයෝගය හා සෞභාග්‍යය උදා වීමට හේතුකාරක වේ.

**ආදරය දැක්වීම කොටස් දෙකකට බෙදා දැක්විය හැකිය.**

1. අල්ලාහ් කෙරෙහි ආදරය දැක්වීම.
2. මැවීම් කෙරෙහි ආදරය දැක්වීම.

"මැවීම් කෙරෙහි මිනිසා දක්වන ආදරයට වඩා ගැඹුරු ආදරයක් අල්ලාහ් කෙරෙහි තැබිය යුතු" යැයි, ඉස්ලාම් අපේක්ෂා කරයි. මෙලෙස ආදරයේ සීමාව අල් කුර්ආනය පහත ආකාරයට දක්වා ඇත.

නුඹලාගේ පියවරුන් නුඹලාගේ පුත්‍රයන්, නුඹලාගේ සහෝදරයන් නුඹලාගේ භාර්යාවන් නුඹලාගේ නෑදෑ හිතවතුන් සහ නුඹලා ඉපයූ ධනයත් එය පිරිහේවී යයි නුඹලා බිය වන වෙළෙඳමත් නුඹලා ප්‍රබෝධයට පත් කරන නිවෙස් (යන මේ සියලු දේවල්) අල්ලාහ්ටත් ඔහුගේ රසූල්වරයාටත් ඔහුගේ මාර්ගයේ ජිහාද් (ඉස්ලාමීය යුද්ධය) කිරීමටත් වඩා බෙහෙවින් නුඹලාට ප්‍රිය නම් අල්ලාහ් ඔහුගේ විනිශ්චය (නුඹලා වෙතට) ගෙනෙන තෙක් බලා සිටිනු යැයි ද (නබි මුහම්මද්) කියනු (9:24)

අල්ලාහ් කෙරෙහි ආදරය දැක්වීමට නිදසුන් ලෙස, ඔහුගේ ආගම කෙරෙහි දයාව දැක්වීම ද ඔහුගේ අණට ගරුකර ජීවත් වීම ද වේ. කෙනෙකු මිනිසුන් අතර කවරෙකු කෙරෙහි හෝ දයාව දක්වන බවට හෝ නැතහොත් පිළිකුල් කරන බවට හෝ සිටින්නේ නම් එය අල්ලාහ් වෙනුවෙන් ම සිදු කළ යුතු ය, යන්න ඉස්ලාමීය ගුණ ධර්මය වේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙසේ පැවසූහ. "කරුණු තුනක් කවරෙකු සතුව පවතී ද ඔහු ඊමානයේ සුවය ලබා ගනියි. එය අන් සියලු කරුණුවලට වඩා අල්ලාහ්ට හා ඔහුගේ දූතයාණන්හට ප්‍රිය වන්නකු ලෙස සිටීම, එක් මිනිසකු වෙත අල්ලාහු වෙනුවෙන් පමණක් සෙනෙහස දැක්වීම, දෙවියන් ප්‍රතික්ෂේප කිරීමෙන් අල්ලාහ් ආරක්ෂා කළ පසු ගින්නට විසි කිරීම පිළිකුල් කරනවා සේ නැවත දෙවියන් ප්‍රතික්ෂේප කිරීමෙහි නිරත වීම පිළිකුල් කිරීම ය. (බුහාරි, මුස්ලිම්)"

අල්ලාහ් කෙරෙහි දයාව දක්වීමෙහි තවත් එක් අදහසක් නම් අල්ලාහ්ගේ ධර්ම දූතයා කෙරෙහි ද ආදරය දක්වා එතුමාගේ අණට සම්පූර්ණයෙන් යටත් ව ක්‍රියා කිරීම වේ. මේ පිළිබඳ ව අල් කුර්ආනය මෙසේ සඳහන් කරයි.

නුඹලා (අවංක ව ම) අල්ලාහ්ට ඇළුම් කරන්නාහු නම් මා අනුගමනය කරනු. (එවිට) අල්ලාහ් නුඹලාට ඇළුම් කරයි. තව ද නුඹලාගේ පාපයන් සඳහා සමාව ද දෙනු ඇත. අල්ලාහ් ක්ෂමාශීලී හා මහා කරුණාන්විත යැයි (මුහම්මද් ජනයාට) පවසනු. (3:31)

කෙනකුගේ ඉබාදතය ප්‍රමාණවත් කිරීමට නම් අල්ලාහ් කෙරෙහි ආදරය දක්වීම ප්‍රධාන වශයෙන් කළ යුතු ය. මෙම අවස්ථාව ආදරය මිශ්‍ර වූ බියක් (මුහබ්බත්) ලෙස ඉස්ලාමීය විද්වතුන් විසින් පැහැදිලි කෙරේ. මේ නිසා "දේව විශ්වාසිකයෝ" ඉබාදතය මානසික තෘප්තියකින් යුතු ව ඉටු කරති, යන අල් කුර්ආන් වාක්‍යය මෙය තහවුරු කරයි.

"ඔහු අල්ලාහ් කෙරෙහි පවතින ආදරය නිසා දිළින්දන් ද අනාථයන් ද සිරකරුවන් ද ඔවුහු පෝෂණය කරති. අපි නුඹලා පෝෂණය කරන්නේ අල්ලාහ් උදෙසා ය. අපි නුඹලාගේ තෑගි හෝ ස්තුති අපේක්ෂා නොකරන්නෙමු. (76: 8–9)

මෙලෙස කෙනකු අල්ලාහ් කෙරෙහි ආදරය තබා අල්ලාහ් වෙනුවෙන් ම ජීවත් වී සිටින විට, ඔහු අල්ලාහ්ගේ ආදරය දිනා ගෙන දේව ගැත්තකු සේ වෙනස් වේ. මේ බව පහත සඳහන් හදීසයෙහි පැහැදිලි වේ. අල්ලාහ් එක් මිනිසකු කෙරෙහි ප්‍රිය මනාප වූයේ නම්, ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා කැඳවා ඔහු කෙරෙහි දයාව දක්වයි. පසු ව ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා කැඳවා "මම මෙම මිනිසා ප්‍රිය කරමි. එබැවින් ඔබ ද ඔහු කෙරෙහි දයාන්විත වන්න" යයි පවසන්නේ ය. එවිට ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා ගුවනේ ජීවත් වන අය වෙතට "අල්ලාහ් මෙම මිනිසා ප්‍රිය කරන්නේය. එබැවින් ඔබ ද ඔහු ව ප්‍රිය කරන්න." යැයි ඇරයුම් කරයි. ගුවනේ සිටින අය ද ඔහුට ප්‍රිය කරයි. පසුව එම ගැත්තාට පෘථිවියේ ජීවත් වන්නන් අතර සමානත්වයක් ලැබීමට මග පෑදෙයි. (බුහාරි, මුස්ලිම්)

ආදරය දක්වීමේ ඊළඟ පියවර නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි ආදරය දක්වීම ය. නබි ජීවිතය ආදර්ශයක් කොට ගෙන එතුමාණන් කැමති, අකමැති දේ සඳහා ප්‍රමුඛත්වය දී ජීවත් වීම, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි ආදරය දක්වීමෙහි ඇතුළත් වේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි දයාව දක්වන එක් මුස්ලිම්වරයකු එතුමාගේ පවුලේ සාමාජිකයන් කෙරෙහි ද දයාව දක්විය යුතු ය. නබි මිතුරන් කෙරෙහි දයාව දක්වීම යන්න සහාබිවරුන්ගේ විශේෂත්වය පිළිගෙන ඔවුන්ගේ දුර්වලතා හා ඔවුන් අතර සිදු වූ කලබලකාරී තත්ත්ව පිළිබඳ වාද විවාදවල නිරත නොවී නිහඬ ව සිටීම වේ. එසේ ම උම්මුහාතුල් මුඃමින්වරියන් වන නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ බිරින්දෑවරුන් සියලු දෙනා ගෞරවයට පාත්‍ර වූ අය ලෙස ද පාරිශුද්ධ වූ අය ලෙස ද පිළිගත යුතු ය.

ආදරය දැක්වීමේ ඊළඟ පියවර වන්නේ තමා කෙරෙහි ද, තම දෙමාපියන්, ඥාතීන්, අසල්වාසීන් හා මුස්ලිම් නොවන්නන් කෙරෙහි ද දයාව දැක්වීම ය.

කෙනෙක් තමා කෙරෙහි දක්වන දයාව යනු තමා කෙරෙහි වූ යුතුකම් හා අයිතිවාසිකම් රැක ගැනීම වේ. ඉස්ලාමීය දැක්මෙන් කෙනෙකු තමා විසින් ම තමා ව විනාශ කර ගැනීම මහා වරදක් හා පාපයක් ලෙස සලකනු ලැබේ.

ආදරය දැක්වීමට ද ස්තුති ප්‍රශංසාව දැක්වීමට ද යටහත් පහත් වීමට ද හැකියාව සුදුසු අය දෙමව්පියෝ වෙති. දෙමවුපියන් කෙරෙහි දරුවන් තම දයාව දැක්විය යුත්තේ කෙසේ ද යන්න පහත අල් කුර්ආන් වැකි හා හදීස් මගින් පැහැදිලි වේ.

තව ද අපි මිනිසාට ඔහුගේ දෙමාපියන් ගැන නියෝග කළෙමු. ඔහුගේ මව දුබල බවින් දුබල බව දරා ගෙන ඔහු ඉසුලුවා ය. තව ද ඔහුගේ කිරි වැරීම වසර දෙකකිනි. (එනිසා) මටත් නුඹගේ දෙමාපියන්ටත් තුති පුද කරනුන්ගේ (නුඹගේ) අවසාන පැමිණීම මා වෙතටයි. (අපි ඔහුට අණ කළෙමු.) (31:14)

කෙනෙක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙතට පැමිණ "අල්ලාහ්ගේ දූතයාණෙනි, අප සියලු දෙනා අතරින් යහපත් ආකාරයෙන් හැසිරිය යුත්තේ කා සමග ද? යැයි විචාළහ. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "ඔබගේ මව සමඟ" යැයි පිළිතුරු දුන්හ. ඉන් පසු කවුරුන්ද? යැයි විමසුවිට "ඔබගේ මව" යැයි පැවසූහ. ඉන් පසු කවුරුන් ද යැයි නැවතත් විමසූ විට එයට ද "ඔබගේ මව" යනුවෙන් ම පිළිතුරු දුන්හ. ඉන් පසු කවුරුන් යැයි සිවුවන වර විමසන විට "ඔබගේ පියා" යැයි පිළිතුරු දුන්හ. (බුහාරි)

දෙමවුපියන් කෙරෙහි ගෞරවය දැක්වීම සමගින් පමණක් මෙය නතර නොවේ. ඔවුන් කෙරෙහි අල්ලාහ්ගේ ආදරය හා දයාව ලැබීමට ද ප්‍රර්ථනා කිරීම දරුවන්ගේ යුතුකම වේ. මේ බව පහත අල් කුර්ආන් වැකියෙන් මනාව පැහැදිලි වේ.

තව ද ඔවුන් දෙදෙනාට දයලුභාවයෙන් යටහත් පහත් ව සලකනු. තව ද මාගේ රබ් (පරමාධිපතියාණනි) බාලවියේ ඔවුන් දෙදෙනා ම (කාරුණික ව හා ආදරයෙන්) හද වඩාගත් ආකාරයෙන් ම ඔවුන් දෙදෙනාට දයාන්විත වනු මැනවැයි නුඹලා ප්‍රර්ථනා කරනු. (17:24)

මෙලෙස දෙමවුපියන් ද තම දරුවන් කෙරෙහි දැඩි ආදරයක් දැක්වීම අත්‍යවශ්‍ය ය. දරුවන් සමග ආදරයෙන් කටයුතු කර ඔවුන්ගේ හදවත් තුළ ද ආදරය වර්ධනය කළ යුතු ය. කෝපය, බැන වැදීම, තර්ජනය කිරීම ආදියෙන් දෙමවුපියන් වැළකී සිටිය යුතු ය. මෙය දරුවන් දඩබ්බර දුෂ්ට පුද්ගලයකු කිරීමට ද හේතු වේ. "තර්ජනය හමුවේ හැදෙන දරුවා තර්ජනයට ම හුරු වේ" යන පාඨය දෙමවුපියන්ගේ අවධානයට යොමු වීම යහපත් ය.

තව ද කෙනෙක් මුස්ලිම් බැතිමතෙකු ලෙස ඥාතීන්, මිතුරන් අසල්වාසීන්, අනාථයන්, අසරණයන්, සේවකයන්, තම පාලනය යටතේ සිටින්නන්ට, මුස්ලිම් නොවන්නන් ආදී සියලු

ම මනුෂ්‍ය වර්ගයා කෙරෙහි ආදරය දැක්විය යුතු ය.

ආදරය දැක්වීම යන තේමාවේ මිනිස් නොවන සියලු ජීවීන් කෙරෙහි ආදරය දැක්වීම ද අන්තර්ගත වන බව අවබෝධ කර ගත යුතු ය.

මහ පොළවේ (සැරිසරන) කුමන සත්ත්වයකු වුව ද, තම පියාපත් දෙකෙන් අහසේ පියාඹන කුමන පක්ෂියකු වුව ද නුඹලා වැනි සමූහ ම මිස වෙනසක් නොවේ. (6:38) යන අල් කුර්ආන් වාක්‍යය මිනිස් නොවන සෙසු ජීවීන් ද මිනිසා මෙන් ම තවත් මැවීමක් බැවින් ඔවුන් කෙරෙහි ද ආදරය, කරුණාව හා සෙනෙහස දැක්විය යුතු බව අවධාරණය කරයි. එපමණක් නොව, ඔවුන් කෙරෙහි දැඩි අවධානයක් යොමු කළ යුතු ය. පහත හදීසයෙන් මේ බව පැහැදිලි වේ.

"ඔබේ සතුන්ගේ පිට ඔබේ හාන්සි පුටුවක් කර නොගන්න" (අහ්මද් හාකිම්) මැවීම් සියල්ල අල්ලාහ්ගේ පාලනය යටතේ ඇත. පොළවේ සිටින්නන් කෙරෙහි දයාව දක්වන්න. එවිට දෙව්ලොව සිටින්නා ඔබ වෙත දයාව දක්වයි. (අබූදාවූද්)

බල්ලන්, ඌරන් වැනි සතුන් නජීස් වූ සතුන් වුව ද ඔවුන්ට වද දීමට ඉස්ලාමයේ අනුමැතිය නොමැත. පිපාසිත බල්ලකුට දිය බීමට දීම නිසා පව්කාර ස්ත්‍රියක් ස්වර්ගයට වරම් ලද බව ද, පූසෙකුට ආහාර නොදී බැඳ තැබීම නිසා හොඳ අමල්වල යෙදුන ස්ත්‍රියක් නිරයට හිමිකම් කී බව (බුහාරි) හදීස්වල සඳහන් වේ. මේ සියල්ල ජීවීන් වන හෙයින් ඔවුන් කෙරෙහි ආදරය දැක්වීම නිසා ඒ වෙනුවෙන් අල්ලාහ්ගෙන් යහ ප්‍රතිඵල අත් වන බව ඉස්ලාම් අවධාරණය කරයි.



මේ සියල්ලට ම වඩා, අප ජීවත් වන පරිසරය රැක ගැනීම ද ඉස්ලාම් පෙන්වා දෙන ආදරය කිරීම යන කවයට අයත් වේ. අවට පරිසරය පිරිසිදු ව ද අලංකාර ව ද තබා ගෙන ස්වාභාවික පරිසරය රැක ගෙන සශ්‍රීක කරන ලෙස උපදෙස් දෙන ඉස්ලාමය එයින් තමා ද ප්‍රයෝජනය ලබා ගනිමින් අන් අයට ද ප්‍රයෝජනය ලබා ගැනීමට මග සලසන මෙන් ඉල්ලා

සිටියි. පරිසරය සශ්‍රීක කිරීම ඉස්ලාම් පෙන්වා දෙන වැදගත් සේවාවන්ගෙන් එකකි.

එබැවින්, අප ආදරය පතුරුවන සීමාවන් නිවැරදි ව අවබෝධ කරගෙන ඒ අනුව ජීවත් වී සියල්ලන්ට ම ආදර්ශවත් ව ජීවත් වී දේව දයාව ලබා ගනිමු.

## පරිත්‍යාගශීලිභාවය

යමක් ලබා ගැනීමට තවත් යමක් කැප කිරීම පරිත්‍යාගය නම් වේ. ඉස්ලාම් පවසන යහ ගුණ අතරින් පරිත්‍යාගයට උසස් ස්ථානයක් හිමි වේ. ඉතා සුළු කාලයකින් ඉස්ලාමය ව්‍යාප්ත වීමට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ හා ඔහුගේ මිතුරන්ගේ පරිත්‍යාගශීලි භාවය හේතු විය. එහෙයින් ඉස්ලාම් ධර්මය පරිත්‍යාගශීලී භාවයෙන් පිබිදුණ ධර්මයක් ලෙස හඳුන්වනු ලැබේ.

අල්ලාහ් වෙනුවෙන් යන "ඉඛ්ලාස්" චේතනාවෙන් ශාරීරික වශයෙන් හෝ ද්‍රව්‍යමය වශයෙන් අන් අයට සහය වීම ද එමගින් ඇති වන කරදර විඳ දරා ගැනීම ද පරිත්‍යාග ශීලීත්වය වේ. මිනිසකුට කිසියම් දෙයක අවශ්‍යතාවක් තිබෙන විට තම අවශ්‍යතාව පසෙකලා තවත් මිනිසකුගේ අවශ්‍යතාව සපුරාලීම ද අන් අයට උදව් කළ යුතු ය යන බල කිරීම් කිසිවකින් තොරව තම පෞද්ගලික යහපත නොතකා උදව් උපකාර කිරීම පරිත්‍යාග ශීලීත්වය ලෙස හැඳින්විය හැකි ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ මක්කා කාල වකවානුවේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට හා නබි මිතුරන් කුරෛෂිවරුන්ගේ දරුණු වද හිංසාවලට ලක් කෙරුණු විට ඔවුහු තම යහපත හා සුවය පරිත්‍යාග කරමින් බොහෝ හිරිහැර වලට හා දරුණු වධහිංසාවලට ලක් වූහ. සමහරු තම ජීවිතයම පරිත්‍යාග කළහ. මෙලෙස අති මහත් පරිත්‍යාගයන් කළ එම ජනතාව අගයමින් අල්ලාහ් ඔවුන්ව "සාදිකූන්" ෆාඉසූන් යනුවෙන් වර්ණනා කළේ ය.

තමන්ගේ ගෙවල්වලින් ද තමන්ගේ වස්තුවෙන් ද බැහැර කරන ලද දිළිඳු මුහාජිර්වරුන්ට (කොටසක්) ය. ඔවුහු අල්ලාහ්ගේ වරප්‍රසාදය ද සොම්නස ද සොයන්නෝ ය. තව ද අල්ලාහුට ද ඔහුගේ රසූල්වරයාට ද උදව්කරන්නෝ ය. ඔවුහු ය, සත්‍යවන්තයෝ. (59:8) එලෙසම සූරා තව්බා හි 20 වැනි වැකිය මොවුන් ෆාඉසූන් යන ජයග්‍රාහකයන් යනුවෙන් ද සඳහන් කර ඇත.

ඉස්ලාමයේ ආරම්භක කාලයේ විරෝධීන්ගේ බියගැන්වීම්වලට මුස්ලිම්වරුන් ලක් වූ විට, ධනවත් නබි මිතුරන් තම දේපළ ද තම ධනය ද කැප කරමින් අල්ලාහ්ගේ ආගම ආරක්‍ෂා කිරීම සඳහා කළ අප්‍රමාණ පරිත්‍යාග ඉතිහාසගත වී ඇත.

තබූක් යුද්ධයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ඇරයුම් කළ විට අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමා යුධ වියදම් සඳහා තමා සතු ධනය සම්පූර්ණයෙන් ම ගෙනැවිත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ඉදිරියේ ගොඩ ගැසුවේය. එවිට, නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාණන් තම කල්‍යාණ මිත්‍ර අබූබක්ර් රළියල්ලාහු අන්හු තුමාගෙන් "ඔබගේ පවුල වෙනුවෙන් ඉතුරු කළේ කුමක් දැයි විමසූ විට එතුමා" අල්ලාහ් හා ඔහුගේ ධර්මදූතයාව යැයි පිළිතුරු දුන්නේ ය.

වරක් අරාබිකරයේ දැඩි සාගතයක් හා නියගයක් ඇති විය. එවිට රෝම අධිරාජ්‍යයේ චක්‍රවර්තී වූ හෙරක්ලියස් (Heraclius) මුස්ලිම් ජාතිකයන්ට එරෙහි ව විශාල සේනාවක් සූදානම් කර යුද්ධයකට ප්‍රවේශ විය. එහෙත් රටේ පවතින උවදුරු හේතුවෙන් හෙරක්ලියස්ගේ අභියෝගය භාර ගැනීමට මුස්ලිම් ජාතිකයන්ට මහත් පරිශ්‍රමයක් දැරීමට සිදු විය. මෙම අවස්ථාවේ දිර්හාම් 5000ක් වටිනා වස්තූන් සමග පැමිණ සිටි උස්මාන් රළියල්ලාහු අන්හු තුමාගේ වෙළෙඳ කණ්ඩායමත් සමග ගනුදෙනු කිරීම සඳහා විවිධ ව්‍යාපාරිකයෝ පැමිණ සිටියහ. එහෙත්, උස්මාන් රළියල්ලාහු අන්හු තුමා එම ද්‍රව්‍යය අලෙවි කිරීම ප්‍රතික්ෂේප කර එම සියලු ද්‍රව්‍යය හෙරක්ලියස්ගේ සේනාවට මුහුණ දීම සඳහා පරිත්‍යාග කළේ ය.

පරිත්‍යාගය මෙලොව දී මතුපිටින් බලන විට විශාල පාඩුවක් ලෙස පෙනුණ ද එයට අයත් ප්‍රතිඵලය හිමි වීම අනිවාර්ය ය. පරිත්‍යාග කිරීම අල්ලාහ්ගේ විධානයක් බැවින් එය ඉබාදතයක් ලෙස ද පිළිගනියි. පරිත්‍යාගයට හිමි වන ප්‍රතිඵලය ස්වර්ගය වේ. මෙම අදහස පහත අල් කුර්ආන් වාක්‍යයෙන් තහවුරු වේ.

අල්ලාහ් නියත වශයෙන් මුඃමීන්වරුන්ගෙන් (විශ්වාසිකයන්) ඔවුන්ගේ සිරුරු සහ ඔවුන්ගේ වස්තුව මිලට ගෙන ඇත. (9:111)

ඉස්ලාමීය දර්ශනය "පරිත්‍යාගය යනු අල්ලාහ්ගේ විධානයක්" යන්නට වඩා එය අල්ලාහ් තෘප්තිමත් කිරීම පිණිස කරනු ලබන අමල් වූ ක්‍රියාවක් වේ. මෙය පහත හදීසය මගින් ද, ඒ සමග ඇති අල් කුර්ආන් වැකිය මගින් ද ගෙන හැර දක්වේ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙතට එක් මිනිසෙක් පැමිණ තම දුප්පත්කම පිළිබඳ පැමිණිලි කළේ ය. මෙයට සවන් දුන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා යමක් දෙන ලෙස පවසා ඔහු තම නිවසට යැව්වේ ය. එහෙත්, දීමට නබි නිවසෙහි කිසිවක් නොතිබිණි. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා එහි සිටි තම මිතුරන් අමතා "අද රාත්‍රියේ මොහුට ආහාර සැපයීමට ඔබ අතර කෙනකු සිටින්නේ දැයි විමසා, අල්ලාහ් ඔහුට කරුණාව දක්වයි" යැයි පැවසුවේ ය. එය ට සවන් දුන් අන්සාරිවරුන් අතරින් එක් මිත්‍රයෙක් "අල්ලාහ්ගේ දූතයාණනි" මම සිටිමි" යැයි පැවසුවේ ය. පසුව නබි මිත්‍රයා එම මිනිසා සමග තම නිවසට ගියේ ය. එහි දී තම බිරිඳට 'අල්ලාහ්ගේ දූතයාගේ අමුත්තකු පැමිණ සිටියි. එබැවින් නිවසේ කිසිවක් ඉතිරි කර තිබේ දැයි' විමසුවේ ය. එවිට, ඔහුගේ බිරිඳ දරුවන්ගේ ආහාර වේල මිස වෙන කිසිවක් මා ළඟ නොමැත, යැයි කීවා ය. එසේ නම් දරුවන් නිදි කරවන්න" යැයි සැමියා කිවේ ය. (දරුවන් නින්දට ගිය පසු අමුත්තාට සංග්‍රහ කළහ.)

මෙම අවස්ථාවේ බිරිඳ දෙස බලා "අනුභව කරනවා සේ මුළා කිරීමට පහන නිවා දමා, අද රාත්‍රියේ අප අපගේ කුසගින්න ද නිවා දමමු" යයි පැවසුවේ ය. බිරිඳ ද එසේම කළා ය. (මේ හේතුව නිසා එම ආහාරය අමුත්තා විසින් සම්පූර්ණයෙන් අනුභව කරන ලදි) පසු දින එම මිතුරු අන්සාරිවරයා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මුණගැසුණු

විට "ගෞරවපූර්වක අල්ලාහ් එම යුවළගේ ක්‍රියාවලිය දැක ආශ්චර්යයට පත්වූවේ ය." යැයි පවසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මෙම සිද්ධිය පිළිබඳ ව තමාට පහළ වූ අල් කුර්ආන් වැකිය පාරායනය කර පෙන්වූහ.

තමන් දුප්පත්කමින් පෙළුණත් තමන්ට වඩා සෙස්සන්ට තිබීම ගැන වැඩි කැමැත්ත දක්වති. යමෙක් තම තෘෂ්ණාවෙන් මිදුණේ ද ඔවුහු ම ය ජයග්‍රාහකයෝ. (59:9)

මෙවැනි, පරිත්‍යාගයන්ට ආදර්ශයක් වන බොහෝ ඉතිහාසගත සිද්ධි පෙර නබිවරුන් තුළ පමණක් නොව ඔවුන්ගේ සමාජ වැසියන් තුළ ද දක්නට ලැබුණි.

මෙලෙස පෙර නබිවරුන් ද ඔවුන්ගේ සමූහ වාසීන් විසින් ද ඔවුන්ගේ ජීවන ඉතිහාසයේ මෙවැනි පරිත්‍යාග බොහෝමයක් සිදු කර ඇත. එබැවින් අපි ද අපට පෙර සිටි අය මෙන් පරිත්‍යාග කර අල්ලාහ්ගේ තෘප්තිය ලබා ගනිමු.

## දන් දීම

ආදරයේ එළිදැක්වීම් අතුරින් දන්දීම ද එකකි. දන්දීම යනු අල්ලාහ් තමාට ලබා දී ඇති ධනයෙන් එක් කොටසක් අන් අයට දීම ය. මෙය ඉස්ලාම් ප්‍රිය කරන යහගුණයන්ගෙන් එකකි. අල්ලාහ් මහා පරිමාණයේ දානපතියෙකි. තම ගැත්තාට අල්ලාහ් දානය ලෙස ලබා දුන් දේ, එම ගැත්තා වෙනත් ගැත්තන් සමග බෙදාහදා ගැනීම අල්ලාහ් ප්‍රිය කරන්නේ ය. මේ පිළිබඳ ව අල් කුර්ආනය බොහෝ ස්ථානවල අවධාරණය කර ඇත.



තම ධනය දිවා රාත්‍රියෙහි ද රහසේ මෙන් ම ප්‍රසිද්ධියේ ද වැය කරන අයට ඔවුන්ගේ රබ් (පරමාධිපති) වෙතින් තිළිණ ලැබෙන්නේ ය. තව ද ඔවුන්ට බිය නැත. ඔවුහු ලතැවෙන්නෝ ද නොවෙති. (2:274)

තමා ලද ධනය තමා හා තම පවුලේ උදවිය පරිහරණය කිරීම ද තම අවශ්‍යතාව සඳහා භාවිත කිරීම ද වරදක් නැත. එසේ ම එය ඔවුන්ට ලබා දුන් අල්ලාහ් එය අන් අයට දෙන ලෙස පවසන විට අල්ලාහ්ගේ විධානය පිළිපැදීම මිනිසාගේ යුතුකමකි. අල්ලාහ් ප්‍රිය වූයේ නම් එම ධනය නැවත ලබාගෙන අන් අයට දීමට ද ඔහුට ශක්තිය ඇත්තේ ය.

එම නිසා අපි අල්ලාහ්ව"අල්-මුඃනී" හෙවත් ධනපතියකු බවට පත් කරන්නා, "අල්-මුඃතී"හෙවත් ලබාදෙන්නා යන නම්වලින් ආමන්ත්‍රණය කරමු. ස්වභාවයෙන් ම මිනිසා තුළ ආත්මාර්ථකාමීත්වය ඇත. විවිධාකාර ආත්මාර්ථකාමීත්වය ඔහුගේ දෑතෙහි වෙලී ඇත. ඔහුගේ සිතෙහි මසුරුකම ඇති වේ. එහෙත්, ඉස්ලාම් මෙම මානසිකත්වය ඉතා පහත් තත්ත්වයෙහි ලා සලකයි. මෙය මිනිසා අතර පිළිකුල හා ක්‍රෝධය වර්ධනයට ද තරගකාරීත්වය හා ඊර්ෂ්‍යාව ඇති කිරීමට ද හේතු වන හෙයින් දැඩි දණ්ඩනයකට ලක් කරනු ඇත. එයට පිළියමක් ලෙස පරෝපකාරීව සිටීම කළ යුතු ය. පරිත්‍යාගය, දීම, දානය, පරෝපකාරය යනාදිය ඉස්ලාම් පෙන්වා දෙන උසස් ගුණාංග වේ. දන්දීම, ප්‍රදානය කිරීම, දනය, පරාර්ථකාමී හැඟීම නොමැති ව කෙනෙක් මසුරු වී මසුරකු ලෙස හැසිරෙන්නේ නම් තමාට ලැබිය යුතු යහප්‍රතිඵල, හොඳ නාම යනාදිය අල්ලාහ්ගෙන් මෙන් ම මිනිසුන්ගෙ න් ද නැතිකර ගනියි. තවත් කෙනෙක් අල්ලාහ් ඔහුට ලබා දුන් ධනයෙන් පරාර්ථකාමී ව අන් අයට ලබා දී ජීවත් වන්නේ නම් අල්ලාහ්ගෙන් යහ ප්‍රතිඵල ද, මිනිසුන්ගෙන් ආත්ම ගෞරවය ද ලබා ගන්නේ ය.

මිනිසකු තමා ද ජීවත් වෙමින්, අන් අයට ද දන් දී අන් අය ද ජීවත් කරවන විට ජීවිතය සැබවින් ම ඵලදායක වන්නේ ය. ඔහුගේ මෙලොව ජීවිතය සතුටින් ගත වේ. පරලොව ජීවිතය අධික නිදහසක් ලද්දවුන් සේ වෙනස් වේ. මෙය පහත අල් කුර්ආන් වැකියෙන් ප්‍රකාශ කෙරේ.

මේ නිසා නුඹලාට හැකි පමණින් අල්ලාහ්ට බිය වනු, තවද ඔහුට සවන් දෙනු, කීකරු වනු, තව ද වියදම් කරනු, යමෙක් තම ලෝභ කමින් මිදුණේ ද ඔවුහු ම ය සැබෑ ජයග්‍රාහකයෝ. (64:16)

කෙනකු දන් දෙන විට ඔහුගේ ධනය අන් අය වෙතට යයි. මෙය බාහිර ව බලන විට එක් පාඩුවක් ලෙස පෙනේ. සැබැවින් ම එය පාඩුවක් නොවේ. ඔහුට එය ආනිසංස ලැබෙන්නක් ලෙස ද, යහපතක් ලෙස ද පවතියි. ඉහත වැකිය සමග ඇති අනෙක් වැකිය අල්ලාහ් මෙය අලංකරණයක් ලෙසට වර්ණනා කරන්නේ ය. අප කෙනකුට යම් ණයක් දුන් විට එය අපට නැවත හිමි වේ. එසේ ම අප දානයක් දෙන්නේ නම් එය අල්ලාහ්ට දෙන ණයක් වේ. මෙම ණය අල්ලාහ් කිහිප ගුණයකින් වැඩි කර තවත් බොහෝ ප්‍රතිඵල ද සමගින් නැවත ලබා දෙන්නේ ය. තවත් ලෙසකින් පවසන්නේ නම් අප අල්ලාහ් වෙනුවෙන් අන් අයට ලබා දෙන දානයන් යනු අප ආරක්ෂාකාරී ව ඉතුරු කරගත් දේ තැන්පත් කරන ස්ථානය යැයි පැවසිය හැකි ය.

නුඹලා සතු ව ඇති දෑ ක්ෂය වන්නේ ය. අල්ලාහ් සතු ව ඇති දෑ ස්ථායි වන්නේ ය. (6 : **96**)

"නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඉතා උසස් ධානපතියකු වී සිටියහ. හමන සුළඟට වඩා වේගයෙන් දන් දීමෙහි නිරත වූහ" (බුහාරි) යයි හදීස්හි සඳහන් වේ.

තමාට තිළිණ ලෙස යමක් ලැබුණේ නම් එය කෙතරම් වේගයෙන් අන් අයට දිය හැකි ද එපමණ වේගයකින් අන් අයට දී හමාර කරයි. එතුමාගේ මිතුරෝ ද එලෙස ම කළහ. අල්ලාහ් වෙනුවෙන් දානය දෙන විට නියත වශයෙන් ම අල්ලාහ් වෙතින් එයට අදාළ ප්‍රතිඵලය තමන්ට හිමි වේ, යන්න ස්ථිර ව විශ්වාස කළහ.

කෙනෙක් දන් දීමෙහි නිරත වන විට නිශ්චය වශයෙන්ම පහත ප්‍රයෝජන අත් කර ගනිති.

- ⋆ මෙලොව අල්ලාහ්ගේ ආදරය හා මිනිසුන්ගේ අභිමානය හිමි වේ.
- ⋆ පරලොව දී විශේෂ දීමනාවක් හිමි වේ.
- ⋆ ධනයේ වර්ධනයක් ඇති වේ.
- ⋆ අනතුරු මග හැරේ.
- ⋆ මනසට සතුටක් හා සහනයක් ලැබේ.

එම නිසා අපිද මසුරුකම තුරන් කර හැකි පමණ අනුන්ට උදව් කරමින් ජීවත් වීමට හුරු වෙමු.

## විශ්වාසවන්තබව

ඉස්ලාම් වර්ධනය කිරීමට ප්‍රිය කරන යහගුණ අතරින් විශ්වාසවන්ත බව යනු එක් ගුණයකි. විශ්වාසවන්ත බව යනු සත්‍යය, උසස් බව, අවංක බව ආදී අදහස් දරන පුළුල් අර්ථයකින් යුත් වචනයකි. සත්‍යවන්ත බව හා විශ්වාසවන්ත බව එකම කාසියේ පැති දෙකක් සේ එක් මුඃමින්වරයකුට තිබිය යුතු අත්‍යවශ්‍ය ගුණාංගයකි.

කුඩා කාලයේ සිට ම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් විශ්වාසවන්තයකු ලෙස ද සත්‍යවාදියකු ලෙස ද සිටිය හෙයින් මක්කාවාසීහු එතුමාණන් අල් අමීන්, අස්සාදික් යන නාමයන්ගෙන් හඳුන්වමින් ප්‍රශංසා කළහ. මෙම ගුණය නිසා ම එකල ජනයා තම වටිනා ධනය ආරක්ෂාව පිණිස නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් භාරයේ තැබූහ.

කෙනෙක් මෙලෙස පවසයි දිනක් මම භාණ්ඩයක් විකිණීමට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සමග ගිවිසුමක් ඇති කර ගත්තෙමි. නියමිත භාණ්ඩය නියමිත ස්ථානයේ දී ලබා දීමට මම පොරොන්දු වුණෙමි. පසු ව, මට එය අමතක වුණි. තෙදිනකට පසු එය මතක් විය. ඒ සමග ම මම එම ස්ථානයට ගියෙමි. එහි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සිටගෙන සිටිනු මම දුටුවෙමි. එතුමා මා දුටු විගස, 'තරුණයා ! ඔබ මාව අපහසුතාවට පත් කළේ ය. මම ඔබ වෙනුවෙන් තෙදිනක් සිට සිටින්නෙමි.' (අබූදාවූද්)

තවත් එක් අවස්ථාවක මග ගමන් කරමින් සිටි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ අසළ තිබූ ධාන්‍ය ගොඩක් දැක එතුළට තම දෑත ඇතුළු කර පරීක්ෂා කර බැලූහ. තම ඇඟිලි තුඩු වලට ධාන්‍ය ගොඩෙහි පහළින් තිබූ ධාන්‍ය වල තෙත් බව දැනුනු හෙයින් "

ධාන්‍ය හිමිකරුවාණෙනි ! මේ කුමක් ද?" යැයි ඇසුවේය. "තෙත් වූ ධාන්‍ය ජනතාව දකින සේ ඉහළින් තබා තිබිය යුතු නොවේද ? වංචා කරන්නා මගේ සමූහයට අයත් නොවේ." යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසුවේ ය. (මුස්ලිම්)

මුඃමින්වරයකු තුළ සියලු නරක ගුණාංග තිබිය හැකි ය. එහෙත් ඔහු තුළ බොරුව, වංචාව තිබිය නොහැකි ය. (අහ්මද්)
අන් අය විශ්වාස කර භාර දෙන ලද උකස් භාණ්ඩ අස්ථාන ගත වීමට ආරම්භ වන දිනය උදා වූ විට පරමාන්ත දිනය උදා වී ඇත, යන්න දැන ගන්න. (බුහාරි)

තෘප්තියෙන් තම ස්වාමියාගේ විධානයන් ඉටු කරන විශ්වාසනීය වගකීම් දරන්නකු දන් දෙන්නකුගෙන් කෙනෙක් වේ. (බුහාරි-කිතාබුල් ඉජාරා)

ඉහත පෙන්වා දෙන ලද හදීස් සියල්ල ම විශ්වසනීය ලෙස ක්‍රියා කිරීමෙහි අවශ්‍යතාව අපට ගෙනහැර දක්වයි.

වර්තමානයේ සාමාන්‍යයෙන් ව්‍යාපාර, අධ්‍යාපනය, ආර්ථිකය, දේශපාලනය ආදී සෑම අංශයක ම වංචනිකත්වය ද රැවටීම ද අවිශ්වාසවන්ත බව ද විශාල වශයෙන් දක්නට ලැබේ. ව්‍යාපාර ක්ෂේත්‍රයේ විශ්වාසනීයත්වය යන්න සිහිනයක් බවට පත් වී ඇත.

පහත අල් කුර්ආන් වැකිය මගින් ව්‍යාපාර කටයුතුවල දී සත්‍යවාදී ව හැසිරීමේ අවශ්‍යතාව ද එය රැක ගැනීමට නොහැකි වීමෙන් පරලොවෙහි සිදුවීමට නියමිත භයානක ප්‍රතිඵල ද පිළිබඳ පැහැදිලි කෙරේ.

"ඔබ කිරුම් මිනුම්වල දී පරිපූර්ණ වන්න. කිරුම්වල දී නිවැරදි පඩියක් තබා කිරන්න". (17:35)

කිරුම් මිනුම්වල වංචා කරනවුන් නපුරු ය. ඔවුහු මිනිසුන්ගෙන් යමක් කිරා ලබා ගන්නා විට (ප්‍රමාණයෙන්) මුළුමනින්ම ලබා ගන්නෝ ය. නමුත් ඔවුන් අනුන්ට කිරා දෙන විට නැතහොත් ඔවුන් අනුන්ට මනින විට ලබන්නන් යැයි ඔවුහු නොසිතන්නෙහු ද? මහත් දිනයකට එදින (සියලු) මිනිසුන් විශ්ව්‍යාධිපති අභිමුඛව නැගී සිට ගන්නෝ ය. (83:16)

ව්‍යාපාර කටයුතුවල දී විශ්වාසනීය ව හැසිරෙන්නන්ගේ පරමාන්ත දින තත්ත්වය පිළිබඳ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මෙසේ පවසා ඇත.

විශ්වාසනීය, සත්‍යවාදී වෙළෙන්දෙක් පරමාන්ත දින නබිවරුන් සිද්දීක්වරු (සත්‍යවාදීන්), ෂුහදවරු (අල්ලාහ්ගේ මාර්ගයේ මරණයට පත් වූවන්) සමග සිටින්නේ ය. (ඉබ්නු මාජාහ්)

හුදෙයිබියා ගිවිසුම සිදු වන අවස්ථාවේ දී එය සතුරන් විසින් කඩ කිරීමට පෙර විරුද්ධ වාදීන්ගේ ග්‍රහණයෙන් මිදී බේරී ආ මිතුරකු ම, පොරොන්දු ඉෂ්ඨ කළ යුතු ය, යන එක ම හේතුව මත ඉතා අකමැත්තෙන් වු වද ඔහු ආපසු යැවූ සිද්ධිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්

තුමාණන්ගේ විශ්වාසනීයත්වයට කදිම නිදසුනකි.

එක්තරා සිද්ධියක දී සොරකම් කළ තැනැත්තිය උසස් ගෝත්‍රයක කාන්තාවක "බැවින් "ඇගේ අත් සිඳලීම නොකරන්න" යයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් කෙරෙහි නිර්දේශයක් ඉදිරිපත් කළ විට "සොරකම් කළ තැනැත්තිය මාගේ දියණිය වන ෆාතිමා වුව ද අත් සිඳවා දමමි." යයි ස්ථාවරව පවසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම විශ්වසනීයත්වය පෙන්නුම් කළහ.

විශ්වාසනීයත්වය නිශ්චිත අංශ කිහිපයකට පමණක් සම්බන්ධ නොවේ. ජීවිතයේ සියලු ම අංශයවල දී විශ්වසනීයත්වය රැකගත යුතුය. රැවටීම, ද්‍රෝහිකම, අසාධාරණ ලෙස ධනය ඉපයීම යනාදියෙන් වැළකී සිටිය යුතු ය. කිසිවෙක් වංචා කරනු ලැබුවේ නම් ඔහු එම වංචා කළ වස්තුව ද පරමාන්ත දිනයේ දී තමා සමග ගෙන යා යුතු තත්ත්වයක් ඇති වේ, යන්න අල් කුර්ආනයේ අවවාද කර තිබීම අවධානයට ලක් කළ හැකි ය.

එම නිසා රැවටීම, කපටිකම, බොරු කීම, බාල දේ මිශ්‍ර කිරීම, ව්‍යාජ දිවිරීම වැනි පාපී ක්‍රියාවන්ගෙන් තමන් ද ඉවත් වී අන් අය ද ඉවත් කර සත්‍යවන්ත හා විශ්වාසවන්ත ලෙස සිටීමට ප්‍රයත්න දැරිය යුතු ය.

## ඉන්ද්‍රිය දමනය

ඉස්ලාම් මිනිසා තුළ වර්ධනය කළ යුතු යයි ප්‍රිය කරන යහ ගුණාංග අතර ඉන්ද්‍රිය දමනයෙන් සිදු වන යහපත් විපර්යාස මිනිසාගේ යහ ගුණාංග එළි දැක්වීමට හේතු වේ. ඉන්ද්‍රිය නිසි පරිදි දමනය කර නොගැනීමෙන් අයහපත් ලක්ෂණ කෙනකු තුළ මතුවීම වැළැක්විය නොහැකි ය.

මිනිසා අසීමිත ආශා ඇත්තෙකි; බෙලහීනයෙකි; ක්ෂණික ව හැඟීම්වලට වහල් වන්නෙකි. මෙම තත්ත්වය තුළ දී ඉන්ද්‍රිය පාලනය කර තම ජීවිතය යහපත් කර ගැනීම ඔහුගේ පරම යුතුකමකි.

එම නිසා යහපත් ගුණාංගයන් ගෙන් ද, සාරධර්මයන්ගෙන් ද සපිරි යහ සමාජයක් බිහි කිරීමට හේතු වන ආරම්භයක් ලෙස ද පදනමක් ලෙස ද යහ ගුණාංග ජීවිතය තුළින් විදහා දැක්වීමට උත්සාහ කරමු.

**අභ්‍යාස**

01. ඉස්ලාමීය දැක්ම අනුව යහගුණාංග යනු මොනවාදැයි පැහැදිලි කරන්න.

02. ඉස්ලාම් අවධාරණය කරන පහත සඳහන් යහ ගුණාංග පිළිබඳ කෙටි සටහන් ලියන්න.

අ) දයාව / ආදරය
ආ) දන් දීම
ඇ) පරිත්‍යාගශීලිභාවය/ කැප කිරීම

03. විශ්වාසවන්ත භාවය යන යහගුණාංගය ඉස්ලාමීය සංසිද්ධියක් ඇසුරින් පැහැදිලි කරන්න.

04. මුස්ලිම්වරයකු තම ජීවිතයේ දී පිළිපැදිය යුතු වෙනත් යහගුණාංග පෙළක් ලැයිස්තු ගත කරන්න.

05. සංවේදී ඉන්ද්‍රිය පාලනය කිරීම යන යහගුණාංගය පිළිබඳ ඔබට හැඟෙන්නේ කුමක්ද?

06. යහගුණාංග පිළිබඳ වූ අල් කුර්ආන් වැකියක් හා හදීස් එකක් සඳහන් කරන්න.

07. ආදරය දැක්වීම යන යහගුණාංගය කොටස් දෙකකට බෙදා දැක්විය හැක. එම කොටස් දෙකටම උදාහරණ 03 බැගින් ලබා දෙන්න.

13

# ආධ්‍යාත්මික දියුණුව සඳහා වූ මග පෙන්වීම

අධ්‍යාත්මය ඉස්ලාමයේ ඉතා වැදගත් කොට සැලකේ. මිනිසාට අලංකාර වූ ශරීරයක් ලැබී ඇති අතර අලංකාර වූ ආත්මයක් ද ලබී ඇත. කෙනෙක් තම සිරුර අලංකාර කර ගැනීමට ලබා දෙන්නා වූ ප්‍රමුඛත්වය ම ඔහුගේ අධ්‍යාත්මික දියුණුව උදෙසා ද ලබා දිය යුතු ය, යන්න ඉස්ලාම් ප්‍රිය කරයි. එසේ ම මිනිස් ආත්මය පිළිබඳ අලංකාර උපදෙස් ලබා දී ආධ්‍යාත්මික උත්තරීතර භාවයට ලඟා වීමට මගපෙන්වීම්ද ලබා දී ඇත. ආධ්‍යාත්මික ජීවිතය මෙලොව ජීවිතයෙන් වෙන් වූ එකක් ලෙස ඉස්ලාම් අදහස් කරන්නේ නැත.

මිනිසා මූලික වශයෙන් සිරුර, ඥානය හා ආත්මය යන ප්‍රධාන කොටස්වලින් යුක්ත වන්නේ ය. මේ අතර ආත්මයක් නොමැති සිරුර හෝ සිරුරක් නොමැති ආත්මය වැදගත් කොට සලකන්නේ නැත. "අල්ලාහ් අලංකාර ය; ඔහු අලංකාරය ම ප්‍රිය කරයි" (මුස්ලිම්) යන හදීසය මගින් සිරුර හා සිත සම තත්ත්වයක තැබීමේ අවශ්‍යතාව අවධාරණය කරයි. ලස්සන සිරුරක් හා අවලස්සන ආත්මයක් ද නැතහොත් ලස්සන ආත්මයක් හා අවලස්සන සිරුරක් පවතින තත්ත්වයක් ද ඉස්ලාම් ප්‍රිය නොකරයි.



වර්තමාන ලෝකයේ සිරුර හා ආත්මය අතර පැවතිය යුතු සමබරතාවය පෙර කිසි කාලයක නොමැති ආකාරයට අඩු වී ගෙන යන්නේ ය. අධ්‍යාත්මික අවශ්‍යතාව ඉවත දමා ශාරීරික අවශ්‍යතාව පමණක් හේතුකොට ගත් මිනිසාගේ අවශ්‍යතා සීමා වී ඇත. එම නිසා වර්තමාන මිනිසා හිස් වාණිජ ජීවියකු බවට පත් වී ඇත. සමාජීය හැඟීම, නීතිය,

අවංකබව, සාධාරණය, විශ්වාසය, සත්‍ය ආදී මානුෂික සාරධර්ම සහමුලින් ම විනාශ වන භයානක තත්ත්වයක් කරා නවීන සහස්‍ර සමාජය ගමන් කරමින් සිටියි. මෙම තත්ත්වය ඉස්ලාමීය විද්වත්හු "ආධ්‍යාත්මික දිළිඳු බව" යැයි සඳහන් කරති.

මෙම අධ්‍යාත්මික දිළිඳු බවින් මිනිසා ආරක්ෂාව ලැබිය යුතු නම් ඔහු සිත පතුලෙන් ම ලෝකෝත්තර ලක්ෂණ වර්ධනය කර ගත යුතු ය. ලොව සියලු ආගම් මේ කෙරෙහි අවධානය යොමු කරයි.

ඉස්ලාමීය දර්ශනය ට අනුව එක් මුස්ලිම්බැතිමතකු තම ආධ්‍යාත්මික දියුණුව සඳහා අල් කුර්ආන් හා සුන්නාහ්හි මග පෙන්වීම අනුගමනය කළ යුතු ය. "මෙලොව-.පරලොව, සිරුර ආත්මය යන වෙනස්කම් නොමැති ව ඒ දෙක එක් කර යහපත් ජීවිතයක් ලබාගැනීම තුළින් දෙලොවෙහි ම ඵල ලබා ගත හැකි ය" යන්න ඉස්ලාමයේ උපදේශය වේ. මෙම මග පෙන්වීමට විරුද්ධ විධික්‍රම මගින් ආත්මීය පාරිශුද්ධත්වය සෙවීමට උත්සාහ කිරීමෙන් ආධ්‍යාත්මික අංශයට හානි ඇති විය හැකි ය.

ආධ්‍යාත්මික ක්ෂේත්‍රයේ දියුණුව සඳහා ඉස්ලාම් පෙන්වන මග පෙන්වීම් මෙසේ ය.

## 1.ඉඛ්ලාස්

'ඉඛ්ලාස්' යන වචනයෙන් පිරිසිදු චේතනාව, නිකැළැල් සිතුවිලි යන අර්ථය ගෙන දේ.

මුස්ලිම් බැතිමතකු විසින් සිදු කරන යහ ක්‍රියා අල්ලාහ්ගෙන් අනුමත වීමට 'ඉඛ්ලාස්' මූලික කොන්දේසියක් ලෙස සැලකේ. ගැත්තකු කුමන ක්‍රියාවක් කරන්නේ ද, එය අල්ලාහ් වෙනුවෙන් ම යන අධිෂ්ඨානයෙන් කිරීම ඉඛ්ලාස් වේ. තම දෙවියන් පරලොව දී මුණ ගැසීම අරමුණ කර ගත් තැනැත්තා යහ ක්‍රියා කරත්වා! එසේ ම කිසිවක් සම නොකර සිටිත්වා! (19:110) යනුවෙන් අල්ලාහු තආලා අල් කුර්ආනයේ පවසා ඇත.

යම් ක්‍රියාවක් වෙනත් කෙනෙකු හෝ දෙයක් සමග අල්ලාහ් සමාන කිරීමක් කරයි නම් එය ආදේශ කිරීමක් බවට පත් වේ. වැරදි ක්‍රියාවක් ලෙසට ද පත් වේ. නිදසුනක් ලෙස ව්‍යාජ සිතැඟි අරමුණු කරගෙන ක්‍රියා කරන්නේ නම් 'ආදේශ කිරීමක්' බවට පත් වේ. ඉතා සුළු වශයෙන් හෝ ව්‍යාජ සිතැඟි තිබීම ආදේශ කිරීමක් (ෂිර්ක්) ය යි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. ධනය, බලය, තනතුර, ප්‍රශංසාව, ලෞකික ලාභ, ආදියෙහි විශ්වාසය තබා එය අරමුණු කර ගනිමින් ක්‍රියා කරන විට, එම ක්‍රියා පාරිශුද්ධ නොවන අතර ඉස්ලාමීය දර්ශනයට අනුව එය වරදක් බවට පත් වේ. පරිශුද්ධ නොවන ක්‍රියා සඳහා අල්ලාහ්ගෙන් කිසිදු වටිනාකමක් ලැබෙන්නේ නැත.

"ක්‍රියා සියල්ල චේතනාව පදනම් කර ගනිමින් සිදු වේ." යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පවසූහ. (බුහාරි, මුස්ලිම්)

මෙම හදීසය මිනිසාගේ එක් එක් ක්‍රියාවට පිරිසිදු චේතනාව අවශ්‍ය බව ගෙන හැර දක්වයි. කෙනකුගේ චේතනාව මූලික කර ගනිමින් ම ඔහුගේ "අමල්" වලට අල්ලාහ් පරලොව දී ප්‍රතිඵල ලබා දෙන්නේ ය. නියත වශයෙන් අල්ලාහ් ඔබගේ පෙනුම හෝ ඔබගේ වස්තුව දෙස බලන්නේ නැත. ඔබගේ සිත හා ඔබගේ ක්‍රියා දෙස පමණක් බලන්නේ ය." යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (මුස්ලිම්)

පරලොව දී විනිශ්චය දෙනු ලබන දිනයේ තම ජීවිතය පරිත්‍යාග කළ එක් පුද්ගලයකු අල්ලාහ් වෙත කැඳවාගෙන එනු ලැබේ. එවිට අල්ලාහ් ඔහුට, ඔහු වෙනුවෙන් ලබා දුන් දයාව හා කරුණාව ගෙන හැර දක්වයි. ඔහු ද එය පිළිගනී. පසු ව "ඔබ මා වෙනුවෙන් කුමක් කරනු ලැබුවේ" දැයි අල්ලාහ් විමසන්නේ ය. "මම ඔබ වෙනුවෙන් යුද්ධ කළෙමි. එම නිසා මරුමුවට පත් වූයෙමි." යැයි ඔහු පවසයි. එවිට අල්ලාහ් "ඔබ පවසන්නේ මුසාවකි. ඔබ වීරයකු යයි ප්‍රශංසා ලැබීම පිණිස යුද්ධ කළ කෙනෙකි." යයි පවසන්නේ ය. පසු ව (මලක්වරුන් අමතා) "මෙම මිනිසා මුනින් අතට තබා නිරයට තල්ලු කරන්න" යැයි අණ කරන්නේ ය" යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ පැවසූහ. (මුස්ලිම්)

මෙම හදීසය මගින් පිරිසිදු චේතනාව කොපමණ වැදගත් වන්නේ ද යන්න වටහා ගත හැකි ය. අල්ලාහ්ට භක්තියෙන් කළ හැකි කැපකිරීම් කොපමණ ද?, එම කැපකිරීම, එනම් ප්‍රාණය අල්ලාහ්ගේ මාර්ගයේ අහිමි කර ගත්තේ ය. මෙය කිසිවකුට ප්‍රතික්ෂේප කළ නොහැකි ය. එපමණ පහසුවෙන් කිසිවකුට කළ නොහැකි කැප කිරීමක සිදු කළ ද ඔහුගේ චේතනාව අයහපත් බැවින් ඔහුට නිරයට යාමට සිදු වූ බව මෙම නබි වදන් පෙන්වා දෙයි.

වර්තමානයේ බොහෝ මිනිසුන් අල්ලාහ් වෙනුවෙන් කළ යුතු යහ ක්‍රියා (අමල්) කීර්තිය, ප්‍රශංසා, ධනය ආදී දේ වෙනුවෙන් කරනු දක්නට ලැබීම ඉතා කණගාටුදායක තත්ත්වයකි. ඔවුහු මේ පිළිබඳව කිසි දු තැකීමක් නොමැති ව සරල ව සිදු කරති. මොවුන් පිළිබඳ මැවුම් කරන අල්ලාහ් අල් කුර්ආනයේ මෙලෙස සඳහන් කරන්නේ ය.

කවරෙක් මෙලොව ජීවිතය ද එහි අලංකාරය ද බලාපොරොත්තු වන්නේ නම් එහි (මෙලොව) දී අපි ඔවුන්ගේ ක්‍රියාවන්ට ඵල විපාකය ඔවුනට සම්පූර්ණයෙන් ම දෙන්නෙමු. තව ද එහි දී ඔවුනට (ඔවුන්ගේ ඵල විපාකයෙන්) කිසිවක් අඩු කරනු නොලැබේ. ඔවුනට පරලොව දී අපා ගින්න හැර (වෙන කිසිවක්) නැත. ඔවුන් කරමින් සිටි දෑ නිරර්ථක ය. තව ද, එවුන් එහි දී කළ දෑ නිෂ්ඵල ය. (11:15,16)

එබැවින් අපගේ ක්‍රියා පිරිසිදු චේතනාවෙන් කළ යුතු ය. අන් අයට පෙන්වීමට හෝ ප්‍රශංසා ලැබීමට හෝ ක්‍රියා කරනු ලැබුවේ නම් පරලොව දී අපට පසුතැවීමට සිදු වේ.

## 2. තව්බා

සිතෙහි ඇති පාපි ක්‍රියා ඉවත් කර ගැනීමට හොඳ ම ක්‍රියාවලිය තව්බා වේ. එනම් පාපී ක්‍රියාවන්ගෙන් වැළකී දෙවියන් වෙත මුළුමනින් ම සමීප වීම ය. තව්බා යන්නෙහි වචනාර්ථය ආපසු ඒම, හැරීම වේ.

ඉස්ලාමීය ව්‍යවහාරයේ මිනිසකු රහසිගත ව හෝ ප්‍රසිද්ධියේ අල්ලාහ් පිළිකුල් කරන දෙයින් වැළකී ඔහු ප්‍රිය කරන දේ වෙත හැරීම යන්න මෙයින් අදහස් වේ.



තව්බා යනු මිනිසා සමාන්‍යයෙන් ගත කරන එක්තරා ජීවන රටාවකින්, අලුත් ජීවන රටාවක් කරා ගමන් කිරීම යැයි සඳහන් කළ හැකි ය. මෙම වෙනස ඇති වීමට නම් හිස් වචන කිහිපයක් වාචිකව ප්‍රකාශ කිරීම ප්‍රමාණවත් නොවේ. මෙම වෙනස ඔහුගේ දැනුමෙන් හැඟීමෙන් පමණක් නොව ක්‍රියාවෙන් ද සිදු විය යුතු ය.

මෙම වෙනස ඔහුගේ අරමුණු ද ක්‍රියා ද ගුණාංග ද පූර්ණ වශයෙන් වෙනස්වීමකට භාජන කළ යුතු ය. මෙලෙස සැබෑ වෙනසක් ඇති වන්නේ නම් පමනක් එය සැබෑ තව්බාවක් ලෙස සැලකේ.

මිනිසා යහපත හා අයහපත අතර සුපරික්ෂාකාරී ජීවිතයක් ගත කළ යුතු ය. මෙම තත්ත්වය යටතේ යහපත හෝ අයහපත හෝ ඔහුගෙන් සිදු විය හැකි ය. මෙලෙස සිදු විය හැකි අයහපත් දේ සඳහා පිළියමක් ලෙස තව්බාව හඳුන්වා දී ඇත.

කෙනෙක් තව කෙනකු ඝාතනය කළ තත්ත්වයක දී දෙදෙනා ම ස්වර්ගයට ඇතුළු වනු දැක අල්ලාහ් සිනාසෙන්නේ ය. එක් අයෙක් අල්ලාහ්ගේ මාර්ගයේ සටන් කර එහි දී ඝාතනයට ලක් වූ කෙනෙකි. අනෙකා ඔහුව ඝාතනය කර (තව්බා කර අල්ලාහ් දෙසට හැරුණේ ය) අල්ලාහ් ඔහුගේ තව්බාව පිළිගන්නේ ය. ඔහු අල්ලාහ්ට යටත් වන්නේ ය. පසුව අල්ලාහ්ගේ මාර්ගයේ ඔහු ද ෂහීද් වන්නේ ය. (මොහු තව්බා කර යහපත් කෙනකු වී ෂහීද් වූ හෙයින් ඔහුට ස්වර්ගය හිමි වේ. (බුහාරි,මුස්ලිම්) යන නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ වැකිය මෙය සනාථ කරන්නේ ය.

මෙලෙස මිනිසුන් වරදෙහි නිරත වන්නට ඔවුන්ගේ නොදැනුවත්කම, පාලනය කළ නොහැකි මනෝ ආශාවන් පමණක් නොව පාරිසරික බලපෑම් ද හේතු වේ.

පාපයෙහි නිරත වන මිනිසා ඔහුගේ පාපයන්ගෙන් මිදී අල්ලාහ් වෙත හැරෙන්නේ නම් ඔහු මෙලොව හා පරලොව විවිධාකාර වූ ප්‍රතිඵල ලබා ගනියි. මිනිසෙක් තව්බා කර

ආපසු හැරීමෙන් අල්ලාහ්ට කීකරු වීම යන උසස් ගුණය හිමි කර ගනියි. තව්බා කිරීම දෙලොව ජයග්‍රහණය හිමි කර ගැනීම සඳහා මග පෙන්වන ක්‍රමයකි.

තව්බා මගින් දේව සමීපතාව හිමි වේ. නිරයෙන් මිදී ස්වර්ගයට යාමට හැකි වේ. ඔහුගේ අකුසල කර්ම කුසල් බවට පරිවර්තනය වේ. මෙලොව සෞභාග්‍යවත් ජීවිතයක් හිමි වේ.

එමනිසා මිනිසකු තමා කළා වූ පාපයෙන් මිදී ආනිසංස ලබා ගත යුතු නම් අල්ලාහ් හා ඔහුගේ ධර්ම දූත මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පෙන්වූ ආකාරයට තව්බා කළ යුතු ය. මෙලෙස තව්බාව සඳහා කොන්දේසි හතරක් දක්නට ලැබේ.

1. අල්ලාහ් වෙතය යන පිරිසිදු චේතනාවෙන් තව්බා කිරීම

2. තමා කළ පාප අතහැර එයින් සහමුලින් ම ඉවත් වීම.

3. "තමා කළ ඒ පාපය අවබෝධ කර ඒ වෙනුවෙන් පසුතැවිලි වීම.

4. කරන ලද පාපය මිනිසා හා සම්බන්ධ වන්නේ නම් ඔහුගෙන් සමාව ඉල්ලමින් අල්ලාහ් ට සමීප වීම

මෙම කොන්දේසි සම්පූර්ණ වූ විට පමණක් අපගේ තව්බා පරිපූර්ණ වේ. මිනිසා දෙවියන් වෙනුවෙන් තම සිත පරිශුද්ධ කර ගෙන තමා කරන ලද පාප පිළිබඳ ව සිතා පසුතැවිලි වී එම පාපයන්ගෙන් තමා සම්පූර්ණයෙන් ම මිදී යහපත් කටයුතු කෙරෙහි ශීඝ්‍රයෙන් යොමු විය යුතු ය.

තම පහත් හැඟීම් වලට ප්‍රති විරුද්ධ ව තම ක්‍රියාවල නිරත වී අල්ලාහ්ට සම්පූර්ණයෙන් භාර කර ප්‍රර්ථනා කළ විට එය අල්ලාහ් පිළිගත් ප්‍රාර්ථනා බවට පත් වේ.

මෙලෙස මිනිසා තව්බා කර දෙවියන් වෙත හැරුණේ නම් ඔහුගේ තත්ත්වය පෙරට වඩා යහපත් වේ. සුළු පවක් පිළිබඳ සිතන විට පවා ඔහු තුළ අල්ලාහ්ගේ බියක් හටගනියි.

අල්ලාහ් ඉදිරියේ යටහත් පහත් වූවකු සේ සිටියි. අහංකාර බව ඔහුගෙන් ඉවත් වේ. එසේ ම ඔහුගේ අවයව අල්ලාහ් වැළැක් වූ දෙයින් මිදී ඉතා සුරක්ෂිත ව පවතියි. අපගේ මරණය කෙදිනක සිදු වේ ද යන්න දන්නේ අල්ලාහ් පමණි. අපගේ ජීවිතයේ සෑම මොහොතක ම අප අල්ලාහ් මුණ ගැසීමට සූදානමින් සිටිය යුතු ය. තව්බා අයැද සිටීම පසුවට කල් දැමීම නොකළ යුතු ය. තව්බා කල් දැමීම ද, ඒ පිළිබඳ ව නොසැලකිලිමත් ව සිටීම ද ෂෙයිතාන්ගේ උවදුරකි.

'තව්බා' වෙනුවෙන් වෙන් වූ කාල සීමාවක් නොමැත. වාර්ශික ව අපට හමු වන රමළාන් මාසය පමණක් ම තව්බාව සඳහා වෙන් කර නොමැත. තව්බාව ඕනෑ ම කාලයක කළ හැකි ය. රමළානය ද ගිලිහී යාමට නොදී මේ සඳහා භාවිතයට ගනිමු.

පාපයන්ගෙන් මිදී මනෝ ඉච්ඡාවෙන් ද මිදී අල්ලාහ් වෙතට නැවත හැරෙමු. දහවල් කාලයේ පාපයක යෙදුණු කෙනෙකුව කමා කිරීමට රාත්‍රී කාලයේ ද රාත්‍රී කාලයේ පාපයක යෙදුණු කෙනකු කමා කිරීමට දහවල් කාලයේ ද අල්ලාහ් මග බලාගෙන සිටින්නේ ය. අල්ලාහ්ගේ රහ්මතය ද පව්කමාව ද සොයා අපි ද ඒ වෙතට යමු.

## 4. වරඋ

මෙහි අදහස "පිළිවෙත් සුරැකීම" නම් වේ. ඉස්ලාම් පවසන උසස් ගුණයක් ලෙස පිළිවෙත් සුරැකීම යන්න මූලික වශයෙන් "සැක සහිත දේ අතහරින්න; සැක රහිත දේ පිළිපදින්න" (අහ්මද්, තිර්මිදි, නසාඊ) යැයි හදීස්හි සඳහන් වේ. ඉස්ලාමයේ සැකයට මග පාදන දේ වළක්වා ගැනීමේ අවශ්‍යතාව පෙන්වා දෙයි. මෙම අදහස පහත හදීසය මගින් මෙසේ තහවුරු වේ.

වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ මිනිසකු දෙස බලා "ඔබට සැක සහිත දේ අතහරින්න. සැකයක් ඇති නොවන දේ පිළිපදින්න" යැයි පැවසූහ. එයට එම මිනිසා එය හඳුනා ගන්නේ කෙසේ දැයි විමසුවේ ය. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඔබ යම් දෙයක් කිරීමට පැතුවේ නම් ඔබගේ හදවතෙහි අත තබා බලන්න; නිශ්චය වශයෙන් ඔබගේ හදවත හරාම් වූ දේ ඉදිරියෙහි කලබල වෙයි; හලාල් වූ දේ ඉදිරියෙහි තෘප්තිමත් වේ; තවද "පිළිවෙත් සුරැකීම" සහිත මුස්ලිම් බැතිමතා මහා පාප කර්මයකට බිය වී සුළු පාපයන් පවා සැම විටම අතහරින්නකු ව සිටියි, යනුවෙන් පිළිතුරු දුන්හ. (තබරානි)

මෙම හදීසය පිළිවෙත් සුරැකීම සඳහා වූ සීමාව පැහැදිලි කරයි.

"පාපයක් සිදු වේ දෝ යන බියෙන්, වරදක් නොවන දේ ද සිදු නොකර සිටින (පිළිවෙත් සුරැකීම) ස්වභාවය (රැකීම) ඇති නොවන තුරු එක් ගැත්තකුට "මුත්තකී" වීමට නුපුළුවන. (තිර්මිදි)

පිළිවෙත් සුරැකීම යන ස්වභාවය කෙනකුගේ සිතින් ද, වචනයෙන් ද ක්‍රියාවෙන් ද ඇති විය යුතු ය. සිතෙහි ඇති වන සුළු සුළු සිතුවිල්ලක් වුව ද අල්ලාහ් කෙරෙහි වූ සිතුවිල්ලකට පත් කර ගැනීම සිතින් පිළිවෙත් සුරැකීම යැයි පැවසිය හැකි ය. වචනයෙන් පිළිවෙත් සුරැකීම යන්න, සියලු අනවශ්‍ය කතාවලින් දිව ආරක්ෂා කර ගැනීම ය. ක්‍රියාවෙන් පිළිවෙත් සුරැකීම යන ක්‍රියාව චලනය, ඇඳුම, භාවිතය ආදී සියලු අංග හලාල් ලෙස සිදු කිරීම ය.

"අබූ හුරෛරා! ඔබ පිළිවෙත් සුරකින්නකු වී සිටින්න. එවිට ඔබ මහා නැමදුම්කරන්නකු ව සිටියි. (තිර්මිදි) යන හදීසය මගින් පිළිවෙත් සුරැකීම යන මෙම ගුණය කෙනකුගේ සියලු ක්‍රියාදාම පිළිවෙළකට සකස් කරයි, යන්න ගෙන හැර දක්වයි. තව ද මෙම ස්වභාවය ඉස්ලාම් බැතිමතකු 'මුත්තකී' ලෙසට වෙනස් කරයි. මෙම ස්වභාවයේ වැදගත්කම පිළිබඳ පැහැදුණු සහාබිවරු පිළිවෙත් සුරැකීම යන ගුණය රඳවා ගැනීමට කොතෙක් දුරට ප්‍රයත්න දැරුවේ ද යයි පවසන්නේ නම් හරාම් වන දෙයක් සිදු වේ දෝ යන බිය හේතුවෙන් හලාල් කටයුතු හැත්තෑවකින් වැළකෙන්නන් ලෙස ද සිටියහ. අපි ද "පිළිවෙත් සුරැකීම" යන ගුණය රැක ගනිමු.

## 4. Zසුහුද්

ආධ්‍යාත්මික දියුණුව උදෙසා ඉස්ලාම් මගපෙන්වන දේ අතරින් Zසුහුද් යනුවෙන් හඳුන්වන ඇල්මක් නොමැති මෙලොව ජීවන ක්‍රමය ද එකකි. ඇල්මක් නොමැති මෙලොව ජීවිතය යනු, පරලොව ජීවිතය සමග සංසන්දනය කරන විට නොවටිනා දෙයක් ලෙස අදහස් කෙරෙයි.

'දාරුල් ෆනා' යනුවෙන් හඳුන්වා විනාශ වනසුලු මෙලොව ජීවිතය මායාවෙන් වශී වී 'දාරුල් බකා' යන නිමක් නොමැති පරලොව ජීවිතය අමතක නොකර සිටීමට නම් එක් එක් පුද්ගලයා තුළ මෙලොව ජීවිතය පිළිබඳ ව ඇල්මක් නොමැති වීම අවශ්‍ය ය. මෙම අදහස නුඹලාගේ කවරකු ක්‍රියාවෙන් ඉතා හොඳ දැයි නුඹලා පිරික්සනු පිණිස මරණයත් ජීවිතයත් ඔහු නිර්මාණය කළේ ය. තව ද ඔහු අතිබල සම්පන්න ය, ක්ෂමාශීලී ය, (67:2) යන අල් කුර්ආන් වාක්‍යය මේ බව මනාව පෙන්නුම් කරයි.

මෙලොව ජීවිතයේ ආඩම්බරය හා විනෝදය මගින් අල්ලාහ් කෙරෙහි වූ සිතුවිල්ල අමතක කර මෙලොව දී ම නින්දාව හා විනාශය ඇති කරවන නිසා ඒ පිළිබඳ අල්ලාහ් අපට අවවාද කරයි.

(මිනිසුනි!) නුඹලා දැන ගන්න. මෙලොව ජීවිතය යනු පුහු කෙළි දෙළකි; (පුහු) විනෝදයකි; (පුහු) අලංකාරයකි; නුඹලා එකිනෙකා අතර ඇති වන පුහු ආඩම්බරය ද වස්තුවත්, පරපුරත් වර්ධනය කළ යුතු ය යන පුහු හැඟීමද වේ. එකිනෙකා අතර පුරසාරම් දෙඩවීමකි. මෙලොව ජීවිතය මායා සුඛෝපභෝගයක් මිස නැතැයි දැන ගනු. (57:20)

විශ්වාසවන්තයිනි! අල්ලාහ් නුඹලාට හලාල් (අනුමත) කළ පිවිතුරු දේ නුඹලා තහනම් නොකරගනු. තව ද සීමාව නොඉක්මවනු. නියත වශයෙන් ම අල්ලාහ් ඉක්මවන්නන් ප්‍රිය නොකරයි. (5:87)

මෙලොව අල්ලාහ්ට යටහත් වීම සඳහා මවන ලද මිනිසා, මෙලොව භුක්ති විඳීම තම එක ම අරමුණ නොකරගත යුතු ය. මෙලොව සම්පත් සොයා ගැනීමේ ආශාව පරලොවට අවශ්‍ය දේ සොයා ගැනීම අතහැර එයින් කෙනෙකුව නොහැරවිය යුතු ය. ප්‍රශංසාව පදවිතානාන්තර ආදිය ලබා ගත යුතු ය යන ආශාව, අල්ලාහ් හට ප්‍රශංසා කිරීම ද ස්වර්ගයේ පදවිය ලබා ගැනීම ද අතහැර ඔහු නොහැරවිය, යුතු ය. මෙලොව යම්

අවස්ථාවක් අහිමි වන විට ඇති වන සංවේගය පරලොව යම් අවස්ථාවක් අහිමි වන විට ඇති වන සංවේගයට වඩා අධික නොවිය යුතු ය. තමා දුක් මහන්සි වී උපයාගත් ධනය අල්ලාහ්ගේ මාර්ගයේ වැය කිරීමට කිසිවිටෙක පසුබට නොවිය යුතු ය. "මෙලොව ජීවිතය නුඹලා රවටවා නොගත යුතු ය" (31:33) යන අල් කුර්ආන් වැකිය ද වරක් නබිතුමාගේ මිත්‍රයෙක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෙතට පැමිණ, අල්ලාහ්ගේ ධර්ම දූතයාණනි! "අල්ලාහ් හා මිනිසුන් මා කෙරෙහි ප්‍රිය වීමට මා කුමන ක්‍රියාවක් කළ යුතු දැයි මට කියා දෙන්න" යැයි විචාළේය. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ "මෙලොව ජීවිතයට ඇල්මක් නොමැති වූවකු ලෙස සිටින්න. අල්ලාහ් ඔබව ප්‍රිය කරයි. මිනිසා අතර ඇති දෙයින් මිදී අවශ්‍යතා නොමැත්තෙකු ව සිටින්න, මිනිසා ඔබව ප්‍රිය කරයි". (සුනන් ඉබ්නු මාජාහ්) යැයි පැවසූහ. ඉහත සඳහන් වැකිය මෙලොව ඇල්මක් නොමැති ව ජීවත්වීම පිළිබඳ ඉස්ලාමීය තත්ත්වය පැහැදිලි කරන්නේ ය.

මෙලොව ඇල්මක් නොමැති ව ජීවත්වීම යනු, මෙලොව ජීවිතය ම අතහැර එහි ආශ්වාදයන් සහමුලින් ඉවත් කර දැමීම නොවේ. එසේ ම මෙලොව ජීවිතයේ දී වුවමනාවෙන් ම කරදර පිරි, රළු ජීවිතයක් ගත කිරීමත් නොවේ. මෙලෙස ජීවත් වීම ඉස්ලාම් "රහ්බානියියා" යන පැවිදි තත්ත්වයට ගෙන යනු ලබයි යන්නෙන් අවවාද කර එය තහනම් කර ඇත.

**අභ්‍යාස**

1. ආධ්‍යාත්මික දියුණුව යනු කුමක් ද?
2. "පිළිවෙත් සුරැකීම" යන අදහස දෙන අරාබි වචනය කුමක් ද? එය ලුහුඬින් පැහැදිලි කරන්න.
3. "Zසුහුද්" යනු කුමක් ද? එය "රහ්බානියා" නම් තත්ත්වයෙන් වෙනස් වන්නේ කෙසේ ද?
4. "තව්බා" පිළිගැනීම සඳහා වූ කොන්දේසි මොනවා ද?
5. "ඉඛ්ලාස්" තත්ත්වය මතු කර දක්වන සිද්ධියක් ගෙනහැර දක්වන්න.

14



# වහී හි වැදගත්කම



**හාරිස්:-** අස්සලාමු අලයිකුම් පඬිතුමනි. ඔබ සමග කතා කිරීමට සුළු මොහොතකට අවසර දිය හැකි ද?

**පඬිවරයා:-** වඅලෛකුමුස්සලාම් වරහ්මතුල්ලාහි වබරකාතුහු. ඇයි එහෙම අසන්නේ. ඇති පමණ කතා කළ හැකි යි.

**හාරිස්:-** වහී පිළිබඳ ව විමසා දැන ගෙන එන ලෙස අපේ ගුරුතුමා පැවසුවා. ඒ පිළිබඳ ව දැන ගැනීමට පැමිණියෙමි.

**පඬිවරයා:-** හොඳයි. අසුන් ගන්න. ඔබගේ ගැටලු විමසන්න.

**හාරිස්:-** ඥානය, ඉන්‍ද්‍රීය ඥානය හා විචක්‍ෂණ ඥානය වශයෙන් කොටස් දෙකකට බෙදා දක්වයි. ඒ දෙක අතරින් වහී කුමන කොටසට අයත් වේ ද?

**පඬිවරයා:-** ඉන්‍ද්‍රීය ඥානයට මෙන්ම විචක්ෂණ ඥානයට ඉහළින් වූ ඥානය වහී ලෙස හැඳින්වේ. ඉන්ද්‍රීය ඥනය හා විචක්ෂණ ඥනය මිනිසා තුළ පෝෂණය වී මිනිසාගේ වර්ධනයත් සමග එය ද මුවහත් වේ. එහෙත් වහී එසේ නොවේ. ඇත්තෙන් ම එය මුලින් කී වර්ග දෙකෙහි ඇති ඥානය සම්බන්ධ කර මිනිසාට සත්‍යයේ මග පෙන්නුම් කරයි.

**හිෂාම්:–** එය ටිකක් විස්තරාත්මක ව කිව හැකි ද?

**පඬිවරයා:-** සියලු ම ජීවින්ට ඉන්ද්‍රීයයන් පදනම් කොටගත්, ඒවායෙහි අවශ්‍යතාවට අනුව සීමා කරන ලද ඥානයක් ලබා දී ඇත. මිනිසා මෙම ඉන්ද්‍රීය ඥානය සමග සිතුවිලි පදනම් කර ගනිමින් විචක්ෂණ ඥානය ලබා ගෙන ඇත. විචක්ෂණ ඥානය ඇති මිනිසාට සෘජු මාර්ගය තෝරා ගැනීම සඳහා උදව්වක් ලෙස වහී මගින් දැනුම ලබා දෙනු ඇත. මෙය එක් එක් මිනිසාට තනි තනි ව ලබා දී නොමැත. ඒ වෙනුවට මිනිසුන් අතරින් තෝරා පත් කර ගන්නා ලද නබිවරුන්ට ලබා දී ඔවුන් එය ගෙන හැර දැක්ම මගින් අන් මිනිසුන් වෙතට එය ලැබී ඇත.

**හිෂාම්:-** වහී යන පදයේ අර්ථය පැහැදිලි කළ හැකි ද?

**පඬිවරයා:-** භාෂාමය වශයෙන් වහී යන පදය සංඥාව, පිබිදීම, සිතෙහි ඇතිවීම, පණිවිඩ පැවසීම, රහසිගත කථනය යන අදහස් ගෙන දෙයි. අල් කුර්ආනයේ වහී යන පදයට අර්ථ රැසක් භාවිත කර ඇත. අන් අයට නොදැනෙන පරිදිත් ග්‍රාහකයාට පමණක් ග්‍රහණය වන පරිදිත් පුවතක් ඉතා වේගයෙන් හා ඉතා රහසිගත ව හුවමාරු කිරීම යනුවෙන් ද, අන් අයට නොදැනෙන ආකාරයට ඉතා රහසිගත ව හා ඉතා වේගයෙන් අල්ලාහ් තආලා මගින් ඔහුගේ ධර්ම දූතයාට පහළ කරන ලද අල්ලාහ්ගේ කථනය යනුවෙන් ද හඳුන්වනු ලැබේ.

**හිෂාම්:-** වහී මත්ලුව් යනුවෙන් ද, වහී ගෛරු මත්ලුව් යනුවෙන් ද වහී වර්ග දෙකක් ඇති බව පවසනවා නේද? ඒ පිළිබඳව පවසන්න පුළුවන් ද?

**පඬිවරයා:-** වහී මත්ලුව් යනු අල්ලාහ් ජිබ්රීල් අලෛහිස්සලාම් මගින් රසූල්වරුන්ට පාරායනය කර පෙන් වූ වහී වේ. රසූල්වරු එය එලෙස ම ජනතාවට පාරායනය කර පෙන්වති. මිනිසා එය තම අවශ්‍යතාව අනුව වාචික ව ද ලිඛිත ව ද ආරක්ෂා කර ගත්තේ ය. මේ සඳහා උසස් ම නිදසුන අල් කුර්ආනය වේ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට පාරායනය කර පෙන්වන ලද මෙය වනපොත් ක්‍රමයෙන් ද පැවත ආ අතර ලේඛන ක්‍රමයෙන් ද වර්තමානය දක්වා එයාකාරයෙන් ම ආරක්ෂා වී ඇත. මෙය අල් කුර්ආනයට පමණක් ලබා දී ඇති විශේෂත්වයකි.

**හාමිද් :-** වහී ගෛරු මත්ලුව් යනු කුමක් ද?

**පඬිවරයා:-** මෙහි අදහස පාරායනය කර නොපෙන් වූ වහී යන්න ය. මෙය විවිධ ආකාරයෙන් දේව ධර්ම දූතයන්හට හිමි වුණි.

**හාමිද් :-** මෙයට නිදසුන් කිහිපයක් පෙන්නුම් කළ හැකි ද?

**පඬිවරයා:-** ඉබ්‍රාහිම් අලෛහිස්සලාම් තුමා තම පුත් ඉස්මායිල් අලෛහිස්සලාම් තුමාව කුර්බාන් කරන ලෙස සිහිනයක් දුටුවේ යැයි සූරතුස් සාෆ්ෆාත් හි 102 වැකියෙහි සඳහන් නොවේ ද? එවැනි සත්‍ය සිහින මෙහි අන්තර්ගත වේ. එසේ ම මූසා අලෛහිස්සලාම් තුමා තූර්සිනා කන්ද අසලින් යන විට හඬක් නොඇසුණේ ද? අල්ලාහ් එතුමා සමග සංවාදයේ යෙදුණේ ය. Zසකරියියා අලෛහිස්සලාම් තුමා තම සමාජයට සංඥා මගින් අල්ලාහ් නැමදීමට ද, ප්‍රශංසා කිරීමට ද ඉගැන්වූයේ ය. යනුවෙන් අල් කුර්ආනයේ සඳහන් වේ. මෙය ද එයට අයත් වේ. මෙලෙස ම මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ හදීසයන් ද වහී ගෛරු මත්ලුව් යනුවෙන් හඳුන්වනු ලැබේ.

**හුදෙයිෆා :-** වහී හි වැදගත්කම පිළිබඳ ටිකක් විස්තර කළ හැකි ද?

පඬිවරයා:- මෙතෙක් පැවසූ කරුණු මගින් මිනිසාට ඍජු මග ලැබීමට නම් වහී හි ඥානය අවශ්‍ය බව ඔබට අවබෝධ වී ඇත. ඒ හැර වෙනත් හේතූන් ද ඉදිරිපත් කළ හැකි ය. අල්ලාහ් මිනිසා පරීක්ෂා කිරීම සඳහා මනෝ ඉච්ඡාව යන පොළඹවීම ඔහුට ලබා දී ඇත. මනෝ ඉච්ඡාව මිනිසාගේ විචක්ෂණ ඥානයට අදාළ හොඳ හා නරක පිළිබඳ සිතීමට නොදී ලෝක ආස්වාදය වෙතට ඔහුව ඇද ගැනීමට උත්සාහ කරයි. මෙම අවස්ථාවේ දී වහී දැනුම මිනිසාට හොඳනරක, හරිවැරදි පිළිබඳ අවබෝධය ලබා දෙයි. එය විශ්වාස කර ජීවත් වන මිනිසා ක්‍රමයෙන් මනෝ ඉච්ඡාව පාලනය කර ගනියි.

තව ද විශ්වය තුළ විවිධාකාර වූ මැවීම් දක්නට ලැබේ. එයින් බොහොමයක් මිනිසාගේ ඉන්ද්‍රියයන්ට ගෝචර නොවේ. මක්නිසා ද යත් මිනිසාගේ ඉන්ද්‍රියයන් වල සංවේදී බව සීමා කර ඇත. සමහර ජීවීන් මිනිසාට වඩා අධික ඉන්ද්‍රිය ඥානයකින් යුක්තය. විද්‍යාඥයන්ගේ ප්‍රකාශ මෙයට කදිම නිදසුන් ය. මිනිසාගේ ඉන්ද්‍රියයන්ට ගෝචර නොවන විවිධ සත්‍යයන් වහී මගින් පැහැදිලි කෙරේ. එහෙත් බොහෝ දෙනෙක් ඉන්ද්‍රිය ඥානය ගැන පමණක් විශ්වාසය තබා වහී මගින් පවසන සත්‍යය ප්‍රතික්ෂේප කරති. මෙම තත්ත්වය අස්ථීර ය. මෙවැනි මිනිසුන් තම ඉන්ද්‍රියයන්ගෙන් වටහා නොගත් බැවින්, පෘථිවිය පැතලිය යැයි විශ්වාසය කර එය ගෝලාකාරය යැයි පැවසූ විද්‍යාඥයන් ඝාතනය කිරීමට ද උත්සාහ දැරූහ.

පෘථිවියේ අල්ලාහ්ගේ නියෝජිතයා ලෙස මිනිසා අල්ලාහ්ට හා ඔහුගේ මැවීම් අතර ඇති සම්බන්ධතාව දැන ගැනීමට වහී පමණක් මග පෙන්වීම ලෙස පවතියි.

හිෂාම්:- පඬිවරයාණනි! මිනිසාගේ ඉන්ද්‍රීය ඥානයෙන් පමණක් දැන ගත නොහැකි කරුණු පැවතිය හැකි ද?

පඬිවරයා:- මිනිස් සිතෙහි ඇති වන සමහර මූලික ගැටලුවලට පවා ඉන්ද්‍රිය ඥානය මගින් හෝ විචක්ෂණ ඥානයෙන් හෝ පමණක් නිවැරදි පිළිතුරු පැවසිය නොහැකි ය. එලෙස පිළිතුරු දීමට ප්‍රයත්න දැරූ මිනිසා, පිළිම දෙවියන් ලෙස සැලකීය. දෙවියකු නොමැත යැයි පැවසුවේ ය. මිනිසා වානරයාගෙන් බිහි විය යැයි පැවසුවේ ය.

හුදෙයිෆා :- මිනිස් සිතෙහි උද්ගත වන මූලික ගැටලු මොනවා දැයි පැවසිය හැකි ද?

පඬිවරයා :- මා කවුද?
කොහි සිට පැමිණියෙම් ද?
යන්නේ කොයි දෙසට ද ?
මාගේ උපතේ අරමුණ කුමක් ද?
මෙම ගැටලු මූලික වේ. ඒවාට වහී හි ආධාරය නොමැති ව ඉන්ද්‍රීය ඥානයත් විචක්ෂණ ඥානයත් පාදක කොට ගෙන පමණක් කිසිවිටක නිශ්චිත පිළිතුරක්

පැවසිය නොහැකි ය. පිළිතුරු නිවැරදි ව නොලද විට මිනිසා වැරදි මාර්ගයක ගමන් කරයි. දෙවියන් ප්‍රතික්ෂේප කරන අදේව වාදීන් ද පරලොව ප්‍රතික්ෂේප කරන ලෞකිකවාදීන් ද මෙයට කදිම නිදසුන් ය.

**හාරිස් :-** පඬිවරයාණනි, මෙතෙක් වේලා අප සමග සිට අපගේ ගැටලුවලට පැහැදිලි විස්තරයක් ලබා දුන් ඔබට අල්ලාහ්ගේ දයාව හිමි වේවා! යයි පතමින් අපගේ හෘදයාංගම ස්තුතිය පුද කරමු. ජZසාකල්ලාහු කයිරන් කසීරා.

**පඬිවරයා :-** බාරකල්ලාහු ෆීකුම් සිසුවනි, කරුණු සොයා ඉගෙන ගැනීමට ඉදිරිපත් වූ ඔබගේ දැනුම අල්ලාහ් පුළුල් කරත්වා!

**හාරිස් :-** අස්සලාමු අලයිකුම් වරහ්මතුල්ලාහි වබරකාතුහු.

**පඬිවරයා :-** වඅලෛකුමුස්සලාම් වරහ්මතුල්ලාහි වබරකාතුහු.

**අභ්‍යාස**

1. වහී හි ප්‍රධාන කොටස් මොනවා ද? උදාහරණ සහිත ව පැහැදිලි කරන්න.

2. වහී පහළ කරන ක්‍රම මොනවා ද?

3. වහී පහළ කිරීමේ අරමුණු ගෙනහැර දක්වන්න.

4. ඉන්ද්‍රීය ඥානය, විචක්ෂණ ඥානය යන දෙවර්ගයට වඩා වහී දැනුම ශ්‍රේෂ්ඨ වේ, යන්න විස්තර කර පෙන්වන්නේ කෙසේ ද?

15

# අල් කුර්ආනය පහළ කිරීම හා ගොනු කිරීම

**ගුරුවරයා :-** ඉස්ලාමීය මූලික මූලාශ්‍රය අතුරෙන් ප්‍රධාන මූලාශ්‍රය වන අල් කුර්ආනය පිළිබඳ සංවාදයක් පැවැත්වීමට නියමිත ය. මෙහි දී පිරිසක් සහභාගීවන්නන් ලෙස ද, තවත් පිරිසක් නරඹන්නන් ලෙස ද සිටිති. සංවාදය නෂාත් සිසුවා ආරම්භ කරයි.

**නෂාත් :-** අල් කුර්ආනය පහළ කිරීම හා ගොනු කිරීම යන මාතෘකාව යටතේ, අල් කුර්ආනය ප්‍රථම වරට පහළ වූ ආකාරය පිළිබඳ ව ඔබ සමග අදහස් හුවමාරු කර ගැනීමට ඉදිරිපත් වූයෙමි.

අල්ලාහු තආලා විසින් පහළ කරන ලද ආගම් සතරක් ඇති බව අපි දනිමු. එයින් අල් කුර්ආනය අවසන් වරට මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ට පහළ කරන ලද ආගමික කෘතිය වේ. මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ හතලිස් වන වියෙහි (ක්‍රි:ව 610 දී පමණ) මක්කාවේ පිහිටි හීරා ගුහාවේ තනි ව සිටි අවස්ථාවේ ලෛලතුල් කද්ර් නම් රාත්‍රියේ ප්‍රථම වහීය පහළ විය.



වහී රැගෙන එන මලක්වරයා වන ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා, එතුමාණන් වෙතට පැමිණ "ඉක්රඃ" (කියවන්න) යැයි පැවසුවේ ය. එතුමාණෝ "මම කියවීමට නොදන්නෙමි" යනුවෙන් පැවසූහ. එවිට ජිබ්රීල් අලෛහිස්සලාම්

තුමා මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ව තදින් වැළඳ ගත්තේ ය. පසු ව අතහැර "ඉක්රඃ" යනුවෙන් නැවත වරක් පැවසුවේ ය. එවිට ද "මම කියවීමට නොදන්නෙමි" යනුවෙන් ම පිළිතුරු දුන්හ. ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා නැවත වරක් තදින් වැළඳ ගෙන "ඉක්රා" යැයි පැවසුවේ ය. මෙලෙස තෙවරක් ම සිදු වූ පසු "කුමක් පාරායනය කරන්න ද?" යැයි විමසූහ. එවිට 'සූරතුල් අලක්' හි ප්‍රථම වාක්‍ය පහ පාරායනය කර පෙන්වූයේ ය. මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ එය පාරායනා කළහ.

මෙය මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් හට එක් අලුත් අත්දැකීමක් විය. එබැවින් එතුමාණන් හට තැතිගැන්මක් හා බියක් ඇති විය. නිවස කරා ගොස් "මාව පොරවන්න, මාව පොරවන්න" යැයි පැවසූහ. බිරිඳ වන කදීජා රළියල්ලාහු අන්හා තුමිය එතුමාණන් පෙරවූවා ය; සැනසුවා ය. පසු ව සිදු වූ දේ විමසා ධෛර්යමත් කළා ය. පෙර ආගම් පිළිබඳ දැනුමක් ඇති තම ඥාතියකු වූ වරකත් බින් නව්ෆල් තුමා වෙතට කැඳවා ගෙන ගියා ය. එතුමා "මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අල්ලාහ්ගේ ධර්ම දූතයකු ලෙස පහළ කර ඇති බව ද, මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙතට පැමිණියේ ජිබ්රීල් අලෛහිස්සලාම් නම් දේව දූතයා" බව ද පැහැදිලි කළේ ය.

**නුස්කී :-** නෂාත් සහෝදරයා පළමු වහී පහළ වීම පිළිබඳ පැහැදිලි කළේ ය. ඒ සමග විවිධ අවස්ථා හා අවශ්‍යතාවලට අනුව අල් කුර්ආන් වැකි පහළ විය. ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා අල් කුර්ආන් වැකි දැනුවත් කරන විට මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ඒවා වනපොත් කර ගත්හ. එසේ ම ලිඛිත දැනුම ඇති තම මිතුරන්ගෙන් ලිඛිත ව තබා ගන්නා ලෙස ආයාචනා කළහ. එලෙස වහී සටහන් කරන්නෝ "කුත්තාබුල් වහී" යැයි අමතනු ලැබූහ. එකල මක්කාවේ කියවීමට හා ලිවීමට දන්නා ඉතා සුළු පිරිසක් පමණක් සිටියහ. එසේම ලේඛනය සඳහා අවශ්‍ය උපකරණ ද තිබුණේ ඉතා අල්ප වශයෙනි. එබැවින් ඔවුහු සම්, සත අස්ථි, සුදු ගල් යනා දී ද්‍රව්‍යවල ලියා තැබූහ.

අල් කුර්ආන් වැකි අවස්ථාවන්ට අනුව පහළ වූ බැවින් ඒවා තනි වාක්‍යයක් ලෙස ද, වාක්‍ය කිහිපයක් ලෙස ද, සූරාවක් ලෙස ද පහළ විය. එවිට අලුතින් පහළ කරන ලද ආයත් හෝ සූරා, පෙර පහළ වූ කුමන ආයතයක හෝ සූරාවට පෙර ද පසු ද පිහිටිය යුත්තේ යන විස්තරය ජිබ්රීල් අලෛහිස්සලාම් තුමා දැනුම් දුන්නේ ය. එය ද සටහන් කර ගන්නා ලෙසට මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ 'කුත්තාබුල් වහී' වරුන් වෙත දන්වා සිටියහ.

අල් කුර්ආනය පියවරින් පියවර පහළ වූ පිළිවෙළ 'තර්තීබුත් නුසූල්' යනුවෙන් ද, අල් කුර්ආනය පාරායනය කිරීම සඳහා නබි මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් පෙන්වා දුන් පිළිවෙළ 'තර්තීබුත් තිලාවත්' යනුවෙන් ද හඳුන්වනු ලැබේ. අල් කුර්ආනය මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ වෆාතය දක්වා ම පහළ විය.

**නස්මියා :-** නුස්කී සහෝදරයා මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ කාලයේ අල් කුර්ආනය පහළ වූ ආකාරය පෙන්නුම් කළේ ය. බොහෝ විට අරාබිවරුන් අතර ඉතා ඉහළ මතක ශක්තියක් තිබුණි. එය එම සමාජයට හිමි වූ විශේෂත්වයකි. එම නිසා සහාබිවරු අල් කුර්ආනය ඉතා පහසුවෙන් වනපොත් කර ගත්හ. එසේ ම "කුත්තාබුල් වහී" යනුවෙන් නම් කළ අය හා තවත් සමහරු අල් කුර්ආනය වන පොත් කරන අතර ම, ලියා ගනිමින් ද සිටියහ. කෙසේ වෙතත් මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ කාලයේ අල් කුර්ආනය ග්‍රන්ථාරූඪ නොවී ය.

නමුත් සෑම රමළාන් මාසයක ම එතෙක් පහළ කරන ලද වැකි ජිබ්රීල් අලෛ)හිස්සලාම් තුමාණන් පාරායනය කර පෙන්වන විට මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම මතකය පරීක්ෂා කර ගත්හ. මෙලෙස මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් ගේ වෆාතයට පෙර වූ මාසයේ දී (රමළාන්) දෙවතාවක් පරීක්ෂා කරගත්හ. එවිට සයිද් ඉබ්නු සාබිත් රළියල්ලාහු අන්හු තුමා නබි තුමාණන් සමග සිට එයට සවන් දුන්නේ ය.

**සබ්රිනා :-** මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් අල් කුර්ආනය ගොනු කිරීමට පෙර සූදානමක් සකස් කර තිබෙන්නේ ද, යන්න නස්මියා සහෝදරිය පෙන්නුම් කළා ය. මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් වෆාත් වී අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමාණන් කලීෆා ලෙස පදවි ප්‍රාප්ත වූ විට මුතනබ්බිවරු ද (ව්‍යාජ නබිවරුන්) මුර්තද්වරුන් ද (ඉස්ලාමය අතහැර ගිය අය) කලබල ඇති කරන්නට වූ බැවින් ඔවුන්ට විරුද්ධ ව යමාමා නම් ස්ථානයේදී සටනක් සිදු විය. එහි දී අල් කුර්ආනය වන පොත් කළ හාෆිල්වරු අධික ලෙස ෂහීද් වූහ. මේ නිසා අල් කුර්ආනය නැති වී යැයි දෝ යන බිය උමර් රළියල්ලාහු අන්හු තුමාණන්හට ඇති විය. එතුමා කලීෆා තුමාට අල් කුර්ආනය ගොනු කර ලිඛිත ව තබා ගත යුතු යැයි, උපදෙස් දුන්නේ ය. කලීෆා තුමා එය මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන් සිදු නොකළ ක්‍රියාවක් යැයි පවසා ප්‍රථමයෙන් පසුබට වූයේ ය. නමුත් තත්ත්වය අවබෝධ කරගෙන එයට එකඟ වුණේ ය. එම වගකීම z සයිද් ඉබ්නු සාබිත් රළියල්ලාහු අන්හු තුමාගේ නායකත්වයෙන් යුත් කමිටුවකට පවරන ලදි. ඔහු ද ආරම්භයේ දී පසුබට වී පසු ව වගකීමෙන් යුතු ව ක්‍රියා කර එම සේවය ඉටු කළේ ය.



එතුමා මස්ජිදුන් නබවියේ දොරටුවේ දෙදෙනකු රඳවා, මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ කාලයේ ලියන ලද තමන් අතර ඇති කුර්ආන් පාඨ ලියූ ද්‍රව්‍ය ගෙනැවිත් සාක්ෂි සහිත ව භාර දෙන ලෙස දැනුම් දුන්නේ ය. එලෙස ගෙන එන ලද ද්‍රව්‍ය සියුම් ලෙස අධ්‍යයනයට ලක් කළේ ය. එම කමිටුව ඒවා පරීක්ෂා කළහ. කඩදාසිවල ලියා කලීෆා තුමා වෙත භාර දුන්හ. කලීෆා තුමා එය "මුස්හෆ්" යනුවෙන් නම් කළේ ය. එය ආරම්භ කාලයේ කලීෆා අබූබක්කර් රළියල්ලාහු අන්හු තුමා භාරයේ තබා, පසු ව එතුමාගේ වෆාතයෙන් පසු කලීෆා උමර් රළියල්ලාහු අන්හු වෙත භාර කරන ලදී. උමර් රළියල්ලාහු අන්හු තුමා එය තම දියණිය වන හා මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණන්ගේ බිරිඳ වන හෆ්සා රළියල්ලාහු අන්හු තුමිය වෙත භාර කළේ ය.

**නදාරා :-** අල් කුර්ආනය ගොනු කිරීමේ ඊළඟ පියවර, කලීෆා උස්මාන් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ සිදු විය. එතුමාගේ කාලයේ ආර්මේනියා, අසර්බයිජාන් යන ප්‍රදේශවල මුස්ලිම් ජාතිකයෝ සටන්වල නිරත වෙමින් සිටියහ. සේනාව ඉරාකයේ හා ෂාම් දේශයේ සිටියහ. ඔවුහු අල් කුර්ආනය පාරායනය කරන විට විවිධාකාරයෙන් පාරායනය කළහ. එපමණක් නොව තම පාරායන රටාව නිවැරදි යයි තර්ක කළහ. මෙය හුදෙයිෆා අල් යමානි රළියල්ලාහු අන්හු තුමා අවධාරණය කළේ ය. යුද්ධය අවසන් වී මදීනාවට ගිය වහා ම අල් කුර්ආනයේ නමින් මුස්ලිම්වරුන් භේද නොවිය යුතු ය, යන අදහස ඉදිරිපත් කර සටනේ දී සිදු වූ දේ කලීෆා තුමාට ගෙනහැර දැක්වූයේ ය. ෂාම්දේශවාසීන් හා ඉරාක දේශවාසීන් එක ම අල් කුර්ආනය වෙනස් ආකාරයෙන් පාරායනය කිරීමට හේතුව කුමක් ද, යන පැනය ඔබට සිතෙන්නට පුළුවන. එකල එක් එක් ගෝත්‍රිකයෝ එකිනෙකට වෙනස් වූ අරාබි භාෂාවලට පුරුදු වී සිටියහ. එම නිසා එම භාෂා ව්‍යවහාරයේ උච්චාරණය විවිධ විය. එහෙත් අර්ථය විවිධ නොවී ය. එබැවින් මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ තම තමන්ගේ උච්චාරණයට අනුව අල් කුර්ආනය පාරායනය කිරීමට අනුමැතිය ලබා දුන්හ.

**උමයිර් :-** හුදෙයිෆා අල්යමානි රළියල්ලාහු අන්හු තුමාගේ පැමිණිල්ලට සවන් දුන් කලීෆා තුමා වහා ම ක්‍රියාත්මක විය. සයිද් බින් සාබිත් රළියල්ලාහු අන්හු තුමාගේ නායකත්වය යටතේ කුරෛයිෂිවරුන්ගෙන් සමන්විත කමිටුවක් පත් කළේ ය. කලීෆා තුමා ඔවුන්ගෙන් කුරෛයිෂිවරුන්ගේ උච්චාරණ ව්‍යවහාරයට අනුව අල් කුර්ආනය පිටපත් කරන ලෙස ඉල්ලා සිටියේ ය. ඔවුහු අබූ බක්කර් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ මුස්හෆ් ද, කුරෛයිෂිවරුන්ගේ උච්චාරණය ද අවධානයට ලක් කරමින් පිටපත් අටක් සකස් කළහ. ඒවා එක් එක් පළාත්වලට යවනු ලැබුණි. එම පිටපත් සමග කුරෛයිෂිවරුන්ගේ ව්‍යවහාරයට පාරායනය කළ හැකි කාරිවරුන් ද යැව්වේ ය. ඒ සමග ම "මින් පසු එම කාරිවරුන් සේ ම පාරායනය කළ යුතු ය, යන්නත් එවන ලද පිටපත බලා ලියා ගත යුතු ය, යන්නත් (පෙර තිබුණු) අනෙක් පිටපත් සියල්ල ගිනිබත් කළ යුතු ය" යන්නත් අණ කළේ ය. මේ නිසා සියලු දෙනා ම අල් කුර්ආනය එක ම ආකාරයට පාරායනය කරන තත්ත්වයක් ඇති විය. එම නිසා උස්මාන් රළියල්ලාහු අන්හු තුමා 'ජාමිඋල් කුර්ආන්' යනුවෙන් හඳුන්වනු ලැබුණි. එතුමාගේ කාලයේ අල් කුර්ආන් පිටපත 'මුස්හෆ් උස්මානි' යනුවෙන් හඳුන්වනු ලැබී ය.

**ගුරුවරයා :-** මෙතෙක් වෙලා සවන් දුන් සංවාදය තුළින් ඔබ අල් කුර්ආනය පහළ කරන ලද හා ගොනු කරන ලද ආකාරය පිළිබඳ වටහා ගන්න ඇති. මේ පිළිබඳ අල්ලාහු තආලා පවසා ඇති දේ ද දැන ගත යුතු ය.

"නියතවශයෙන් ම සිහිපත් කිරීම (අල් කුර්ආන්) පහළ කළේ අප ය. නියත වශයෙන් ම එය ආරක්ෂා කරන්නෝ අපි ම ය." (15:09)

**අභ්‍යාස**

01. පහත අරාබි පදවල සිංහල අර්ථය ලියා දක්වන්න.
    1. සූරා
    2. ආයත්
    3. මුස්හෆ් උස්මානි
    4. කුත්තාබුල් වහී
    5. ඉක්රඃ
    6. තර්තීබුන් නුzසූල්
    7. කාරී කුර්රා
    8. මුර්තද්
    9. මුතනබ්බි
    10. වහී මත්ලූව්

02. මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ප්‍රථම වහී පහළ වීමේ සිදුවීම ලියා දක්වන්න.

03. අබූ බක්කර් රළියල්ලාහු අන්හු තුමාගේ කාලයේ දී අල් කුර්ආනය ගොනු කිරීමට හේතුව විස්තර කරන්න.

04. උස්මාන් රළියල්ලාහු අන්හු තුමාව "ජාමිඋල් කුර්ආන්" යන නාමයෙන් ඇමතීමට හේතුව විස්තර කරන්න.

05. අල් කුර්ආනය ගොනු කිරීමෙහි ලා සයිද් ඉබ්නු සාබිත් රළියල්ලාහු අන්හු තුමාගේ දායකත්වය විස්තරාත්මක ව ලියා දක්වන්න.

16

# සුන්නත් හි වැදගත්කම

ඉස්ලාමයේ අල්කුර්ආනය ට පසුව දෙවන මූලාශ්‍රයය වශයෙන් සුන්නත් (සුන්නා) හැඳින්විය හැකි ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතය සහ ප්‍රකාශ සුන්නත් යනුවෙන් නිර්වචනය කළ හැකි ය. සුන්නත් 'හදීස්' යනුවෙන් ද ව්‍යවහාර කරනු ලැබේ. සුන්නත් ඉස්ලාමයේ මූලික මූලාශ්‍රයයක් ලෙස අල් කුර්ආනය සහ සුන්නාව ස්ථිරව ප්‍රකාශ කර ඇත.

## සුන්නත් පිළිබඳ අල් කුර්ආනයේ සඳහන් කරුණු

قُلْ إِن كُنتُمْ تُحِبُّونَ ٱللَّهَ فَٱتَّبِعُونِى يُحْبِبْكُمُ ٱللَّهُ وَيَغْفِرْ لَكُمْ ذُنُوبَكُمْ ۗ وَٱللَّهُ
غَفُورٌ رَّحِيمٌ ﴿٣١﴾

(නබි තුමනි ජනතාවට පවසන්නට) ඔබලා සත්‍ය වශයෙන්ම අල්ලාහු තආලා කෙරෙහි භක්තියක් ඇත්තේ නම් මා අනුගමනය කරන්න එවිට අල්ලාහු තආලා ඔබ කෙරෙහි දයාව ආදරය දක්වනු ඇත. ඔබලාගේ පාප කර්ම වලට ඔහු සමාව දෙනු ඇත. අල්ලාහු තආලා සමාව දීමේ සහ අසීමිත ආදරය පෙන්වීමේ දි ප්‍රමුඛ ස්ථානයේ සිටියි. (3.31)

مَّن يُطِعِ ٱلرَّسُولَ فَقَدْ أَطَاعَ ٱللَّهَ ۖ

කෙනෙක් අල්ලාහු තආලාගේ දූතයා අනුගමනය කරන්නේ ද ඔහුට අල්ලාහ් තආලා ගේ ආනිශංස ලැබන්නේ ය. (4.80)

وَمَآ ءَاتَىٰكُمُ ٱلرَّسُولُ فَخُذُوهُ وَمَا نَهَىٰكُمْ عَنْهُ فَٱنتَهُوا۟ ۚ

අපගේ දූතයා අපට ලබා දුන් දෙය ඔබ හිතට අවංක ව ලබා ගන්න. ඔහු කුමන දෙයින් වලකින ලෙස උපදෙස් දුන්නේ ද ඔබ ඒවායින් වළකින්න. (59.07)

## සුන්නත් පිළිබඳ හදීස්වල සඳහන් කරුණු

සත්‍යවශයෙන් ම මාගේ අල්ලාහ් තආලා මට ලබා දුන් උපදෙස්වලින් ඔබ නොදත් දේ මට දේශනා කරන ලෙස මට උපදෙස් දී ඇත. (මුස්ලිම්)

මම ඔබලා වෙත කාරණා දෙකක් හැර යමි. එය ඔබ නිසියාකාර ව අනුගමනය කරන තෙක් ඔබ කිසි ම විටක නොමග යන්නේ නැත. ඒවා නම් අල් කුර්ආනය සහ මාගේ සුන්නත්, (මුවත්තා)මා නිසි ලෙස අනුගමනය කළ අය ස්වර්ගයට යාම නියත වේ. අන් අය ප්‍රතික්ෂේප වෙති. (බෛහකි) වැනි හදීස් සුන්නත් අනුගමනය කළ යුතු යැයි තරයේ කියා සිටියි. එම නිසා අල් කුර්ආනය "වහි මත්ලුව්"යනුවෙන් ද සුන්නාව "වහි හයිරු මත්ලුව්" යනුවෙන් ද හඳුන්වනු ලැබෙන්නේ මෙනිසා ය.




අල් කුර්ආනය බොහෝ ස්ථානවල (කිතාබ්) ග්‍රන්ථය යන වචනයත් හික්මා (ඥානය) යන වචනයත් සම්බන්ධ කර කියනු ලැබේ. එම දූතයා ඔවුන්ට අල්ලාහු තආලා ගේ වචන පාරායනා කර පෙන්වා ඔහු පාරිශුද්ධ කර ඔහුට ආගම සහ ඥානය (හික්මා) උගන්වන ලදි. (62.2) ඉහත සඳහන් වූ ඥානය යන වචනය සුන්නාව හඳුන්වන බව සාෆිඊ රහ්මතුල්ලාහි අලෛහි තුමා සලකයි". මට අල් කුර්ආනය සහ ඊට සමාගාමී ව තවත් දෙයක් පිළිගන්වන ලදි" යන හදීසය ඒ සඳහා ඔහු උපයෝගි කරගෙන ඇත.

අල් කුර්ආනය සහ සුන්නත් යන දෙක එකින් එක මත රඳා පවතින පරිපූර්ණ කොටස් දෙකක් ය. අල් කුර්ආනය සහ සුන්නාව පොතක් හා එම පොත අඳුරේ දී කියවීමට රුකුලක් වන ආලෝකයට සමාන කර ඇත. එම නිසා සුන්නත් මගහැර අල් කුර්ආනය තේරුම් ගැනීමට හෝ ක්‍රියාවේ යෙදවීමට හෝ නීති සකස් කිරීමට නොහැකි ය.

මේ පිළිබඳ නිදසුන් කීපයක් බලමු. අල් කුර්ආනය සලාතය නිසි පරිදි අනුග මනය කරන ලෙස මග පෙන්වයි. එනමුත් සලාතය කෙසේ අනුගමනය කළ යුතු ද යන්න සුන්නත් මගින් පැහැදිලි කරයි. සලාත් ඉටු කළ යුතු ක්‍රමවේද පිළිබඳ ව සවිස්තර ව සුන්නාව මගින් පැහැදිලි කරයි.

එක් අවස්ථාවක ඉම්රාන් බින් හුසේන් රළියල්ලාහු අන්හු තුමා වෙත කෙනෙක් ආවේ ය. අපට අල් කුර්ආනය හැර වෙනත් කිසිවක් පවසන්න එපා යැයි කී ය. ඔහු තමා සමීපයට කැඳවූ ඉම්රාන් රළියල්ලාහු අන්හු තුමා අල් කුර්ආනයේ ලුහර් සලාතයට රකාඅත් හතරක් තිබෙන බව කියනවා ද කඃබාව හත් වරක් තවාෆ් කරන්න ඕනෑ කියා තියෙනවා ද? සෆා සහ මර්වා යන ස්ථාන දෙක අතර "සඊ" කරන්න ඕනෑ කියා තිබෙනවා ද? යැයි අසා සුන්නත්හි වැදගත්කම හුදෙක් පැහැදිලි කළේ ය.

තවත් කෙනෙක් අබ්දුල්ලා ඉබ්නු උමර් රළියල්ලාහු අන්හු තුමා වෙත කස්රු ජම්උ යන සලාතය අල් කුර්ආනයේ පැහැදිලි කර තිබේ ද? යන්න ඇසී ය. එවිට සහෝදරයා අල්ලාහ් තආලා අපට මුහම්මද් සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අපගේ දූතයා වශයෙන් එවා ඇත. එතුමා සේම අපි කරන්නෙමු යැයි කී ය. (මුවත්තා)

එමෙන් ම නීති සම්පාදනයට ද සුන්නත් අවශ්‍යය වී ඇත. එසේ ම සොරකමට දඬුවම අත කැපීම යනුවෙන් අල් කුර්ආනයේ සඳහන් කර ඇත. නමුත් සුන්නත්වලින් කුඩා දරුවන් මානසික රෝගීන් වැනි අයට මෙම දඬුවම ලිහිල් කර ඇත. ඒ වගේ ම සොරකමේ වටිනාකම අනුව දඬුවම වෙනස් විය හැක. මැණික්කටුව දක්වා අත ඉවත් කළ හැකි ය. තව ද ආහාර ද්‍රව්‍ය සොරකම් කළා නම් මෙම දඬුවම ක්‍රියාත්මක කළ නොහැකි ය. මෙවැනි විවිධ ක්‍රියාදාම පිළිබඳ විස්තර සුන්නත් මගින් ලබා ගත හැකි ය. තව ද ජනයා සලාතය සකාත් ෆිත්ර්, ඉහ්රාම් ඇඳීම වැනි දෑ පිළිබඳ විස්තර සුන්නත් මගින් ලබා ගත හැකි ය.

සුන්නත් ආරක්ෂා කර ගැනීම සඳහා සහාබාවරු, තාබිඊන්වරු, සහ ඉන් පසු ව පැමිණි සමාජවල කැපවීම මනාව පැහැදිලි වෙයි. සහාබාවරු විසින් හදීස් සියල්ල නිවැරදි ව කටපාඩම් කරන ලදි. අක්ෂර පිළිබඳ දැනුම ඇති අය ඒවා ලියා ආරක්ෂා කළෝ ය. ඔවුහු දැනගත් හදීස් සියල්ල සාක්ෂි සහිතව පිළිගැන්වූවෝ ය; හදීස් අනුව ක්‍රියා කළෝ ය. අනාගත සමාජයට හදීස් දායාද කිරීම සඳහා විද්වතුන් වෙතට ගියෝ ය; ව්‍යාජ හදීස්වලින් නිවැරදි හදීස් හඳුනා වෙන් කර ගැනීමට නොයෙක් පර්යේෂණවල යෙදුණෝ ය; හදීස් ග්‍රන්ථ නිර්මාණය කළෝ ය; ප්‍රශ්නයක් ඇති වූ අවස්ථාවල හදීස් ආධාරයෙන් නිගමනයකට පැමිණියෝ ය.

ඉහත සඳහන් ක්‍රියාදම තුළ සුන්නත්හි වැදගත්කම අවබෝධ කරගෙන අප එදිනෙදා ජීවිතයේ අනුගමනය කළ යුතු යහපත් පුරුදු හුරු වෙමු.

**ක්‍රියාකාරකම් :-**

1. සුන්නත් ඉස්ලාමයේ මූලික මූලාශ්‍රයයක් බවට තිබෙන කරුණු පැහැදිලි කරන්න.
2. සුන්නාව ආරක්ෂා කිරීමට විද්වතුන් අනුගමනය කළ ක්‍රියාදම පිළිබඳ පැහැදිලි කරන්න.
3. සුන්නත් නොමැතිව අල් කුර්ආනය පැහැදිලි කළ නොහැකි ය, යන තේමාව කරුණු සහිතව පැහැදිලි කරන්න.

# 17



# සහාය මූලාශ්‍රය



මුස්ලිම් කෙනෙක් ආගමික නීතිරීතිවලට අනුකූල ව ජීවත් වීම අනිවාර්ය වේ. එසේ ජීවත් වීමට අනුගමනය කළ යුතු ප්‍රධාන මූලාශ්‍ර ලෙස අල් කුර්ආනය සහ සුන්නාව යන දෙක සැලකේ. මෙම ප්‍රධාන මූලාශ්‍රය දෙක තුළ ලෝකය අවසානය දක්වා එළඹෙන සියලු ම ගැටලුවලට විසඳුම් සොයා ගත හැකි මූලික සිද්ධාන්ත ගැබ් වී ඇත. මේවා උපයෝගී කොට නිර්මාණය කළ මූලාශ්‍රය උපකාරක මූලාශ්‍රය වෙයි. මේ තුළ ගැබ් වී ඇති මූලාශ්‍රය දෙක නම් ඉජ්මාඋ හා කියාස් වෙයි.

## ඉජ්මාඋ

ඉජ්මාඋ නම් අරාබි වදනේ නිර්වචනය එකමුතු කිරීම යි, ස්ථිරත්වයට එළඹීම තුළ ඒකමතික තීරණයට අවතීර්ණ වීම යි.

මේ අනුව ඉස්ලාමීය ව්‍යවහාරයේ දී ඉජ්මාඋ 'ඒකමතික තීරණය' ලෙස හැඳින්විය හැකි ය. ඉජ්මාඋ නීති මූලාශ්‍රයයක් ලෙස අනුගමනය කළ හැකි බවට අල් කුර්ආනය සහ සුන්නාව යන දෙකෙන් ඉඩකඩ සලසා ඇත.

1. යම් කෙනකු යහ මග ගැන තමාට අවබෝධ වූ පසු ව ද අල්ලාහ්ගේ මෙම දූතයා ගැන නොතකා මුඃමින්වරු නොයන මග ගමන් කළොත් ඔහු යන මග යන්න දී අපායට ද යාමට ඉඩ හරිමු. එය ඉතා ම භයානක ස්ථානයකි. (4:115)

2. අල්ලාහුත් තආලා මාගේ සමාජය නොමග යාමට නොහරියි. (තිර්මිදි)

ඉජ්මාඋ යනුවෙන් හඳුන්වනුයේ නබි රළියල්ලාහු අන්හු තුමාගේ අභාවයෙන් පසු පැන නැගෙන ආගමික ගැටලු අල් කුර්ආනයේ සහ සුන්නාවේ සඳහන් නොවූ අවස්ථාවල දී එවකට ජීවත් වූ මුජ්තහිද්වරුන් විසින් ඒකමතික ව එළඹෙන තීරණ වේ.

මෙම කරුණු හේතු කොට ගෙන :-

- ★ මුස්ලිම් සමාජය නොමග යාමෙන් වැළකී තිබේ.
- ★ මුඃමින් වරුන්ගේ මග ඒකමතිකව තීරණය වූ මග වේ.
- ★ ඒකමතික තීරණයට අවනත නොවීම අල්ලාහ්ගේ දූතයා පිටු දැකීමට සමාන වේ.
- ★ අල්ලාහ්ගේ දූතයා සහ මුඃමින්වරු පිටුදකිමින් හුදකලා මග ගමන් කරන්නා අපායට ගොඩ වෙයි.

මේ ගැන සැලකීමේ දී ඉජ්මාඋ ඉතා ම වැදගත් නීති මූලාශ්‍රයයක් ලෙස පෙනී යනු ලැබේ.

ඉජ්මාඋ පිළිගෙන ඒ මග ගමන් කරන්නාට යහපතක් සිදු වෙයි.

1. සමාජයේ සමගිය රැකෙයි.
2. සමාජයේ හික්මීම බිඳ නොවැටෙයි.
3. එකිනෙකාට උදව් උපකාර ලබා ගැනීමේ අවකාශය සැලසෙයි.

මුජ්තහිද්වරුන් ඉජ්මාඋ විවිධ අංශවලට බෙදා පැහැදිලි කර ඇත. ඒවායින් වැදගත් යැයි සැලකෙන කිහිපයක් පහත දැක්වෙයි.

### 1. ඉජ්මාඋස් සරීහ් :-

පැහැදිලි ඉජ්මාඋ යනුවෙන් මෙය හැඳින්විය හැකි ය. නිශ්චිත කාලයක දී ජීවත් ව සිටින සියලු ම මුජ්තහිද්වරුන් ඒකමතික තීරණයකට එළඹුණු බව ඔවුන්ගේ වාග් මාලාවලින් හෙළි වූ විට එම තීරණය මෙසේ හඳුන්වනු ලැබේ. මෙය "ඉජ්මාඋල් කෞලි" යනුවෙන් ද හැඳින්වෙයි.

### 2. ඉජ්මාඋල් අක්සරිය්යා :-

බහුතරයකගේ තීරණයට මෙසේ කියනු ලැබේ. යම් ගැටලුවක දී මුජ්තහිද්වරුන් බහුතරයකගේ තීරණය මෙයින් ප්‍රකාශ වේ.

### 3. ඉජ්මාඋස් සුකූති :-

නිශ්ශබ්ද වූ ඉජ්මාඋ යනුවෙන් මෙය හැඳින්වෙයි. නිශ්චිත කාල සීමාවක් තුළ ජීවත් වන මුජ්තහිද් වරුන්ගෙන් කෙනකුගේ හෝ එළඹෙන තීරණයකට කැමැත්ත හෝ අකමැත්ත ප්‍රකාශ නොකර නිහඬව සිටීමට මෙසේ කිව හැකි ය. මෙම තීරණය නිවැරදි යැයි නිගමනයකට පැමිණිය නොහැකි බව ඉමාම් ෂාෆිඊ රහ්මතුල්ලාහි අලෛහි තුමා ප්‍රකාශ කරයි. මාලික් මද්හබයට අයත් බහුතරයක් විද්වත්හු මෙය නිවැරදි යැයි පවසති.

## කියාස්

නවීන මූලාශ්‍රයවලින් අධික ලෙස උපයෝගී කරගන්නා, ක්‍රියාවට නගන එක් මූලාශ්‍රයයක් ලෙස සැලකිය හැක. මෙහි නිර්වචනය අරාබි භාෂාවෙන් සසඳා බැලීම සහ අනුමාන කිරීම වැනි අරුත්වලින් භාවිත වේ. අල් කුර්ආනය හා සුන්නාවෙහි සඳහන් නොවන ගැටලුවක් මතු වූ විට එය අල් කුර්ආනයේ සුන්නාවෙහි තීරණය හෝ විසඳුම සඳහන් වූ ගැටලුවක් සමග සසඳා බලා එම තීරණය හෝ විසදුම නව ගැටලුවට විසඳුමක් ලෙස භාවිත කිරීම මෙම වචනයෙන් පිළිබිඹු වේ. එනම් ඉස්ලාමීය ගැටලුවල දී නිගමනයකට එළඹිය නොහැකි අලුත් ගැටළුවක් නම් එය අල් කුර්ආනය සහ සුන්නා යන දෙක ම උපයෝගී කරගෙන ලබාගත් තීරණය නව ගැටලු වලට ද යොමු කිරීම යි. මෙසේ තීරණ ගැනීමේ දී එකමුතුකමක් පිළිබිඹු විය යුතු ය.

කියාස් පහත සඳහන් අනුමැතිය ලත් මූලික කරුණු හතරට සීමා වී තිබේ. මේවා "අර්කානුල් කියාස්" යනුවෙන් හඳුන්වනු ලැබේ.

**1. අල් අස්ල් :-**

මීට පෙර තීරණය දෙන ලද ගැටලුවට මෙසේ පවසයි. උදාඃ මිනීමරුවාට උරුමක් කාරයෙක් විය නොහැකි ය. (තිර්මිදි) යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා ඇත. පරම්පරාගත දායාදයක් ලැබීමට හිමිකම් ඇති පුද්ගලයා එම බූදලය හිමි කරු ඝාතනයකර ඇත් නම් ඔහුට හිමි දේපළහි හිමිකම ලැබීමට අයිතියක් නොමැත.

**2. අල් ෆරඋ :-**

අල් කුර්ආනය හෝ සුන්නාවේ හෝ ඉජ්මාවේ හෝ තීරණය නොදක්වා ඇති තීරණය ගත යුතු ව නිරාකරණය නොවූ ගැටලුව මෙසේ හඳුන්වනු ලැබේ. උදාහරණ වශයෙන් "වසීයත්" එනම් අන්තිම කැමැත්තෙන් දේපළ හිමි වන පුද්ගලයා දේපළ ලබා දෙන වසීයත් කරන ලද පුද්ගලයාව ඝාතනය කර ඇත්නම් වසීයත් ලද පුද්ගලයාට දේපළ හිමි විය යුතු ද, යන්න නිගමනයකට එළඹ නොමැති ගැටලුවකි.

**3. අල් ඉල්ලත් :-**

ගැටලු දෙකක් අතර තිබෙන්නා වූ පොදු ගුණාංග හෝ පොදු කරුණු ඉල්ලත් නම් වෙයි. ඉහත අවස්ථා දෙකේ දී ම ඇති පොදු ගුණාංගය වනුයේ දේපළ ලබා ගැනීමට ඇති හදිස්සිය වේ.

**4. අල් හුකුම් :-**

අල් කුර්ආන් සහ සුන්නාවෙන් ලබා ගත් තීරණය මෙසේ හඳුන්වයි. මුදල් ලබා ගැනීමට ඝාතනයට යොමු වූ දරුවන්ට එම දේපළ ලබා නොදිය යුතු යැයි හුකුම් පවසයි.

ඉහත සඳහන් කරුණුවලට අනුව ඉක්මනින් දේපළ ලබා ගැනීමේ චේතනාවෙන් වසීයත් කළ පුද්ගලයා ඝාතනය කිරීම නිසා ඝාතකයාට වස්තු හිමි වන්නේ නැත,යන තීරණය ලබා දෙයි. මෙය කියාස් මූලික කර ගෙන ගත් තීරණයක් වෙයි. කියාස් නීති

මූලාශ්‍රයයක් ලෙස සැලකිය හැකි බවට බොහෝ සාධක තිබේ. ඒවායින් තුනක් පහත දැක්වේ.

1. හජ් වාජිබ් වූ මරණයට පත් වූ පියා වෙනුවෙන් හජ් කළ හැකි ද, යනුවෙන් කාන්තාවක් ඇසී ය. "ඔබගේ පියා ණයක් දෙන්න තිබුණ කෙනකුට එම ණය මුදල ඔබ ගෙව්වොත් ඔබේ පියාට එය ප්‍රයොජනවත් වෙයි ද, යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඇසී ය. එවිට එම කාන්තාව 'ඔව්'කීවා ය. එසේ නම් අල්ලාහු තආලාට ගෙවීමට ඇති ණය ගෙවීම වඩා උචිත වේ'' යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසී ය.

2. සහාබාවරු නොයෙක් අවස්ථාවල කියාස් මූලාශ්‍රයය කරගෙන නොයෙක් තීරණවලට එළඹියහ. උදාහරණ වශයෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා රෝගාතුර ව සිටින අවස්ථාවේ සලාතයට ඉමාම් වශයෙන් අබුබක්කර් රළියල්ලාහු අන්හු තුමා කටයුතු කළේ ය. එතුමාගේ එම ක්‍රියාව මුල් කරගෙන සහාබාවරුන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමාගේ අභාවයෙන් පසු කලීෆා වශයෙන් ඔහු පත් කළෝ ය. විචක්ෂණ බුද්ධිය කියාස් වන්නේ ය. එනම් අල් කුර්ආනය මත්පැන් හරාම් කර තිබේ. එනමුත් ඒ වගේ හෝ ඊටත් වඩා නරක දේවල් ගැන සඳහන් වී නැත. කියාස් නොපිළිගන්නේ නම් මත්පැන් පමණක් හරාම් වෙයි. එනමුත් විචක්ෂණ බුද්ධිය තුළින් සියලු ම මත්ද්‍රව්‍ය හරාම් වශයෙන් හැඳින්විය හැකි ය.

මනුෂ්‍ය සමාජය දිනෙන් දින විවිධ ක්ෂේත්‍ර තුළින් දියුණු වෙමින් පවති. මෙම දියුණුව නව ගැටලු බිහි කිරීමට ද හේතු විය. ඒවාට ද නිසි පිළිතුරු අල් කුර්ආනයේ සහ සුන්නාවෙහි දැක්වෙයි. එම නිසා ඒවායේ ආලෝකයෙන් මෙම ප්‍රශ්න වලට තීරණ ගැනීමට අවශ්‍ය වී ඇත.

එයට උපයෝගී වන වැදගත් මූලාශ්‍රයයක් ලෙස කියාස් පත් වේ. එලෙස ඉස්ලාමය සියලු ම කාලවලට අදල ගැටලු වලට පිළිතුරු දීමට කියාස් ඉමහත් උපකාරයක් වී ඇත.
ඉජ්මාඋ සහ කියාස් හැර වෙනත් මූලාශ්‍රය හයක් පහත දැක්වෙයි.

ඒවා නම් :.

1. ඉස්තිහ්සාන්
2. ඉස්තිස්හාබ්
3. ඉස්තිස්ලාහ් (මස්ලහා මුර්සලා)
4. උර්ෆ්
5. අෂ්ෂරාඉඋස් සාබිකා
6. කව්ලුස් සහාබි

සමස්තයක් වශයෙන් මූලාශ්‍රය සියල්ල නීති ක්ෂේත්‍රයේ පැන නගින ගැටලුවලට විසඳුම් ලබා ගැනීමට උපකාර වනවා මෙන් ම සියලු කාල වකවානුවලට ඉස්ලාමය නම්‍යශීලිභාවයක් දක්වයි, යන්නට සාක්ෂි දරයි.

**අභ්‍යාස**

1. ඉජ්මාළ යනු කුමක් ද?

2. ඉජ්මාළ වල වර්ග හඳුන්වන්න.

3. ඉජ්මාළවෙහි ප්‍රයොජන දෙකක් පෙන්වා දෙන්න.

4. "කියාස්" අවශ්‍ය වන්නේ ඇයි දැයි පැහැදිලි කරන්න.

5. උපකාරක මූලාශ්‍රය සියල්ල පෙළගස්වන්න.

18

# අරාබිකරයේ ඉස්ලාම් ව්‍යාප්තිය




අරාබිකරය බටහිර ආසියාවේ, උතුරට සිරියා කාන්තාරය ද, දකුණට අරාබි මුහුද ද, බටහිරට රතු මුහුද ද, නැගෙනහිරට පර්සියාව ද මායිම් ව පිහිටා ඇත. එම ප්‍රදේශයට ඉස්ලාම් ධර්මය හඳුන්වා දෙනු ලැබූ කාලවකවානුව ජාහිලියියා කාලය යනුවෙන් හැඳින්වෙයි. "ජාහිලියියා" කාලය බුද්ධිය සහ මානුෂිකත්වයෙන් තොර වූ කාලය කි. දේව මග පෙන්වීමට පටහැනි ව ජීවන ක්‍රමය තිබූ කාලය යන අරුත ද එම වදනට ඇත. මේ තත්ත්වය අරාබිකරයේ පමණක් නොව අන් රටවල ද දක්නට ලැබුණේ ය.

## සමාජය

අරාබිකරයේ ගෝත්‍ර ස්වරූපයෙන් යුත් සමාජයක් දක්නට ලැබිණි. පවුල් කිහිපයක් ඒකාබද්ධ වී ශුඋෟබ් (පොකුර) තැනුණේ ය. මෙම පොකුරු කිහිපයක් ඒකාබද්ධ වී කබීලා (ගෝත්‍ර) විය. මෙම ගෝත්‍රය "ශෛකු" යන නමින් යුතු නායකයකු විසින් පාලනය කරන ලදි. මේ හැර එහි විධිමත් පාලන ක්‍රමයක් දක්නට තිබුණේ නැත. අරාබිකරයේ භෞතික තත්ත්වය මෙවැනි සමාජ ව්‍යුහයක් ගොඩනැගීමට හේතු වුයේ යැයි කිව හැකි ය.

අරාබිකරයේ සීමිත සම්පත් සහ බහුල අවශ්‍යතා දකින්නට ලැබුණේ ය. එළුවන් ඇති කිරීමේ කාර්යයෙහි යෙදුණු ඔවුන්ට තණ කොළවලට සහ ජලයට අඬ දබර වීමට සිදු විය. ඒ සඳහා තමන් ශක්තිමත් වීමේ චේතනාවෙන් ඔවුහු ගෝත්‍රික ව පෙළ ගැසුණහ. කඃබාව පරිපාලනය කළ කුරෛෂි ගෝත්‍රිකයෝ උසස් කුලයට අයත් වූහ. ඔවුහු වෙළෙඳාම් කටයුතු වල යෙදී සිටියෝ ය.

කාලයක් ගත වී යාමේ දී ගෝත්‍ර සංවිධාන බලවත් හා අන්තවාදී තත්ත්වයකට පත් විය. සෑම පුරවැසියකු ම ගෝත්‍රයක සාමාජිකයෙක් විය. ඔවුහු තම තමන්ගේ ගෝත්‍ර වර්ධනයට කැප වූහ. මෙය "අසබියියා" නොහොත් ගෝත්‍ර හැඟීම් ලෙස හැඳින්වෙයි. සියලු ම අවස්ථාවල ගෝත්‍රයට විශ්වසනීය ලෙස හැසිරීම පුරුද්දක් විය. එය කඩ කරන අය සමාජයෙන් කොන් වෙති.

එම සමාජයේ ඉතා ම සුළු වරදකට පවා දීර්ඝකාලීන සටන් පැවතුණි. එක්තරා ගෝත්‍රයකට අයත් ඔටුවෙක් තවත් ගෝත්‍රයකට අයත් වත්තක කෑ අතර උෟට පහර දී කකුලක් කැඩීම හේතු කොට ගෙන සටන් දීර්ඝ කාලීනව පැවතුණි. එසේම අවුස් කස්රජ් වැනි ගෝත්‍ර අතර ගැටුම් දීර්ඝ කාලීනව පැවතුණි. යුද්ධ කිරීම සඳහා යුද්ධයට අවැසි හැඟීම් ආරෝපණය සඳහා පිරිමි අය අවශ්‍ය විය. යුද්ධයට පෙළඹවීමත් පවත්වාගෙන යාමටත්, කිරීමටත් කවියන් අවශ්‍ය විය. එම නිසා පිරිමි ළමුන් හා, කවියන් වෙනුවෙන් උත්සව පැවැත්විණි. පිරිමි ළමුන් කුඩා කල සිට යුද පුහුණුව ලැබීම අනිවාර්ය විය.

## ආගම

එකල අරාබිකරයේ ජනතාව යහමග යැවීමේ ආගම් කිසිවක් නොතිබුණි. ආගමක් ලෙස ක්‍රියාත්මක වූයේ සංස්කෘතික අංග කිහිපයකි. මක්කමේ එක ම දෙවියන් වන අල්ලාහු තආලා නැමදීමට ඉබ්‍රාහිම් අලෛහිස්සලමේ තුමා විසින් ඉදි කරන ලද කඃබාව තිබුණේ ය. එහෙත් එහි පාරිශුද්ධත්වය කෙලෙසී තිබුණි. එහි බිතුසිතුවම් නිර්මාණය කරන ලදි. පිරිමි සහ ගැහැනු අය නිර්වසත්‍රව (තවාෆ්) යාච්ඤා කළෝ ය. ඔවුහු මුෂ්රික්වරු වශයෙන් ම ජීවත් වූහ. ඔවුන්ගේ දේව භක්තිය ව්‍යාජ විය. අල්ලාහ් දෙවියකු (රබ්බු) වශයෙන් විශ්වාස කළෝ ය. නමුත් ඒක දේව වාදය පිළිගත්තේ නැත.

"අහසේ සිට සහ පොළවේ සිට ඔබට ආහාර සපයන්නේ කවුද? (ඔබගේ) දෘෂ්ඨිය සහ ශ්‍රවණ හැකියාවේ පරම අයිතිකරු කවුද? පණ ඇති (සජීවි) දෙයින් පණ නැති (අජීවි) දෑ පිට කරන්නේ ද (අජීවි) පණ නැති දෙයින් (සජීවි) පණ ඇති දෑ පිට කරන්නේද කවුද? (ලෝකයේ) සියලු දේ විධිමත් ව ක්‍රියා කරවන්නේ කවුද? යනුවෙන් (නබිතුමණි ඔබ) අසන්න. එයට ඔවුහු අල්ලාහ් යනුවෙන් කියයි. එසේ නම් ඔහුට ඔබ බිය විය යුතු නැද්ද ? යනුවෙන් අසන්න," (10:31) යන අල් කුර්ආන් වැකිය මෙය පැහැදිලි කරයි.

ආබ්රහා කඃබාව බිඳීමට පැමිණි විට කඃබාවේ දෙවියෝ එය බලා ගනියි, යන කුරෛෂිවරුන්ගේ හැඟීම මෙයට කදිම නිදසුනකි. මොවුහු දෙවියන් (අල්ලාහ්) ගේ දූතයන් වශයෙන් පහළ සිටින කුඩා දෙවියන් පත් කර ගත්හ. මෙය "අප අල්ලාහ් වෙත වඩාත්

සමීපකරවීමට මිස අපි එම දෙවිවරු වන්දනා කළේ නැත" (යනුවෙන් පවසති) (39:3) යනුවෙන් අල් කුර්ආනයේ සඳහන් වේ.

සෑම වසරක් පාසා ම ශුද්ධ වූ මාසවල කඃබාවට බැතිමත්හු පැමිණෙති. එම නිසා ඒ ප්‍රදේශ උත්සවාකාරයෙන් හැඩවූයේ ය. එම කාලය තුළ වෙළෙඳ පොළ පවත්වන ලදි. එහි මල්ලව පොර තරග සහ ගායන තරග පැවැත්විණි. එම තරගවලින් දිනන ගීත කඃබාවේ ප්‍රදර්ශනයට තැබී ය. ගායකයෝ ගෞරවයට පාත්‍ර වූහ. එම නිසා අරාබි භාෂාව සාහිත්‍යමය වශයෙන් සරු විය. එම ගීත හා කවි පසුකාලීන ව ලේඛනගත විය. 'සබ්අ මුඅල්ලකාත්' මේවායින් වැදගත් තැනක් ඉසිලී ය.

## පවුල

ස්ත්‍රී පිරිමි දෙපාර්ශවය තුළ සමතුලිතතාවක් නොපෙනුණ නිසා විධිමත් පවුල් පරිසරයක් ද නොවී ය. විවාහ කටයුතු පවා අවුල්සහගත තත්ත්වයක තිබුණේ ය. ඉහළ පෙළේ ගෝත්‍රවල "නිකාහ් ෂරීෆ්" යනුවෙන් ජාතික විවාහ පද්ධතියක් දක්නට ලැබුණේ ය. මෙහි දී කාන්තාවෝ ගෞරවයෙන් සලකනු ලැබූහ.එනමුත් අන් ගෝත්‍රවල විවිධ අයුරින් විවාහය සිදු කිරීම දක්නට ලැබුණේ ය.

පුරුෂයින්ට බහු භාර්යාවන් සිටි අතරම කාන්තාවන්ට ද බහු ස්වාමි පුරුෂයෝ සිටියෝය. පියාගේ භාර්යාව ද පියාගේ අභාවයෙන් පසු පුතා විවාහ කර ගත්තේ ය. "මුත්ආ" යනුවෙන් තාවකාලික විවාහ ක්‍රමයක් ද තිබුණේ ය. පියා කවුදැයි මව විසින් හඳුන්වා දෙන ලදි. ස්ථිර වාසස්ථානයක් නොමැති නිසා ඔවුන්ගේ ජීවිතයේ ශිෂ්ට ක්‍රමවේදයක් නොපෙනුණේ ය. එහි දී නොයෙක් අපරාධ සිදු විය. ගෝත්‍ර මුල් කරගෙන ජනතාව තුළ උසස් පහත් භේද දක්නට ලැබුණි. යුද සිරකරුවන් ලෙස අල්ලා ගත් අය සහ මුදල් දී ලබාගත් අය වහලුන් වශයෙන් සැලකුවෝ ය. ඔවුන් හාම්පුතුන්ට උපයා දීමේ ක්‍රමවේදයක් පැවති නමුත් ඔවුන්ට කිසි ම අයිතිවාසිකමක් නොලැබුණේ ය.

තව ද පිරිමි ගැහැනු අතර උසස් පහත් භේදයක් දක්නට ලැබුණේ ය. කාන්තාවන්ට තම අයිතිවාසිකම් බොහොමයක් අහිමි විය. දර රැස් කිරීම, ආහාර පිසීම, ජලය රැගෙන ඒම, කිරිදෙවීම, නූල් ගෙතීම, ළමයින් රැකබලා ගැනීම යනාදි වැඩවල ඔවුහු යෙදුණහ. සමහර ගෝත්‍රවල ගැහැනු දරුවන් පණපිටින් වල දැමීමේ පුරුද්දක් ද තිබුණි.

## හැසිරීම

ඝාතනය, මත්ද්‍රව්‍ය, පොළිය, ස්ත්‍රී දූෂණ, පළිගැනීම්, මංකොල්ල වැනි ක්‍රියා මෙහි දී බහුල ව තිබුණි. එනමුත් ඒවා අශෝභන ක්‍රියා ලෙස නොව ගෞරවණීය ක්‍රියා ලෙස සැලකුණේ ය. තම මරණයෙන් පසු සුරා සූදු වැනි පුරුදු නැති අය නැවත විවාහ කර ගන්න එපා යැයි පැවසූ පුවතක් ද තිබුණි. ඉතා ම සුළු පිරිසක් මෙවැනි පාප ක්‍රියාවලින් මිදී සිටියෝ ය. ඒ වගේ ම භාෂා නිපුණත්වය නිදහස් ආකල්ප, පොරොන්දු කඩ නොකිරීම, ආගන්තුක සත්කාර, ධෛර්යය, සරල බව, වැනි ගතිගුණ ද දක්නට ලැබුණේ ය. මේවා පසුකාලීන ව ඉස්ලාමයේ වර්ධනයට රුකුලක් විය. මෙවැනි සමාජයක් තුළ ඉස්ලාමය හඳුන්වා දෙන ලදි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මෙම සමාජය අල්ලාහ්ගේ ප්‍රශංසාවට ලක් වූ සමාජයක් බවට පත් කළේ ය.

**අභ්‍යාස**

1. පහත සඳහන් වචනවල තේරුම ලියන්න.

   I) ජාහිලියියා II) කබීලා III) අසබියියා

   IV) ශෙකු V) මුත්ආ

2. ඉස්ලාමයට පෙර අරාබිකරයේ ගොත්‍රික ජන සමාජයක් පැවතීමට හේතු වූ කරුණු පැහැදිලි කරන්න.

3. එකල පිරිමි ළමුන් ඉපදුණේ නම් උත්සව පැවැත්වීම පිළිබඳ හේතු සහගත ව පැහැදිලි කරන්න.

4. එකල ගායකයන්ට ගෞරව දක්වන්න හේතු වූ කරුණු පැහැදිලි කරන්න.

5. එකල අරාබි මිනිසුන්ගේ පැවති යහපත් ගති ගුණ සහ අයහපත් ගති ගුණ වගු ගත කරන්න.

# 19

# නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ දඃවාව සහ අභියෝග



නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මූලික අවශ්‍යතාව වන්නේ අල්ලාහ් වෙතට ජනතාව කැඳවා ගැනීම යි. මෙය දඃවා යනුවෙන් කෙටියෙන් හඳුන්වනු ලැබේ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මෙම ක්‍රියාව එක් වර ම ආරම්භ කළේ නැත. ඔහු තම 40වෙනි වියේ අල්ලාහු තආලාගේ උපදෙස් මත මෙම සේවාව ආරම්භ කළේ ය. මෙය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතයේ වැදගත් වෙනස් වීමක් ලෙස හැඳින්විය හැකි ය.

ප්‍රථම "වහිය" (නියෝගය) නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තැති ගත්තේ ය. මේ ගැන අවබෝධ කර ගත්තත් එම කම්පනය සම්පූර්ණයෙන් ම පහ වූයේ නැත. මෙම අවස්ථාවේ "කම්පනයෙන් සළුව පොරවා සිටින නබි තුමනි! ඔබ නැගී සිට ජනතාවට බිය ගැන්වන නියෝගයක් කරන්න." (74:1:2) ඒ ලෙසම අන් අයටත් තමාගේ උපදේශය රැගෙන යන ලෙසත් අල්ලාහ් නියෝග කළේ ය.

මෙය පිළිගත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ප්‍රථමයෙන් තමාගේ පවුලේ අයටත් යහළුවන්ටත් මෙය පැවසී ය. පසුව තමාගේ පවුලේ අයට සංග්‍රහයක් පවත්වා තමාට ලැබුණු "වහිය" ගැන පැහැදිලි කළේ ය. තවද තමාට සහයෝගය දෙන ලෙස ද ඉල්ලීමක් කළේ ය. ඉන් පසු "සෆා" කන්ද මුදුනට නැග හඬ නගා ජනතාව කැඳවා තමගේ පණිවිඩය පැහැදිලි කළේ ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉදිරිපත් කළ මෙම පණිවිඩය මක්කාවේ ජීවත් වූ කුරෛෂිවරුන්ට සහ අන් අයට අලුත් මෙන් ම තිත්ත ස්වරූපයක් ගත්තේ ය. තමා එම පණිවිඩය යාඥා වලට හාත් පසින් වෙනස් හා තම වරප්‍රසාද අහිමි කරන බවත් කුරෛෂිවරු සිතුවෝ ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මුල් අවුරුදු තුන රහසිගත ව මෙම දෑවාව කර ගෙන ගියේ ය. එම අවස්ථාවේ පවුලේ කොටසක් සහ මිතුරන්ගෙන් කොටසක් ද, සමාජයේ හොඳ මිනිසුන් යැයි කියන පිරිසකුත්, "හනීෆ්" යනුවෙන් හඳුන්වන (ජාහිලියා සමයේ අල්ලාහ් දෙවියන් සමග වෙනත් දෑ නොසැසඳූ) අය ද හාම්පුතුන් විසින් කරදරවලට භාජනය කෙරුණු වහලුන් ගෙන් කොටසක් ද, ඉස්ලාමය පිළිගත්තෝ ය. මොවුන් හට "අර්කම්" රළියල්ලාහු අන්හු තුමාගේ නිවසේ දී අධ්‍යාපනය සහ ආධ්‍යාත්මික පුහුණුව ද (තර්බියා) ලබා දෙන ලදි. මෙම මුල් පාසල "දාරුල් අර්කම්" යන නමින් අදටත් සිහිවටනයක් ලෙස පවතී. තව දුරටත් ප්‍රසිද්ධ ප්‍රචාරණ කටයුතු වල නිරත වූ විට නොයෙකුත් අභියෝගවලට මුහුණ දුන්නෝ ය. අබූලහබ්, අබූජහ්ල් යන අයගේ ප්‍රධානත්වයෙන් විරුද්ධවාදීන්, පිටියට අවතීර්ණ වූහ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට බොරුකාරයා, හූනියම්කාරයා, පිස්සා, ගායකයා, පරම්පරාවක් නොමැති කෙනා යනාදි වදන් වලින් අවලාද නඟා තර්ජනය කළෝ ය. ඔහු වෙත අවධානය යොමු නොකරන ලෙස ජනතාවට අවවාද කළේ ය.

ඉස්ලාම් දහම ටිකෙන් ටික වර්ධනය විය. විරුද්ධවාදීන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට ශාරීරික වද හිංසා කරන්න පටන් ගත් ඔවුහු එතුමා යන එන මංවල කටු පිරෙව්වෝ ය, බෙල්ල තද කර හුස්ම සිර කළෝ ය. ඔටුවගේ කුණු බඩවැල් ගෙන "සුජූද්" ඉරියව්වේ සිටින අවස්ථාවේ මාලයක් සේ පැළඳූවෝ ය. ප්‍රථමයෙන් කුඩා ගල්කැට වලින් ගැසුවෝ ය. පසුව තුවාල වන තරමට ගැසුවෝ ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පමණක් නොව එතුමා සමග සිටි අයට ද ගැහැනු පිරිමි භේදයෙන් තොරව සමච්චල් කළෝ ය. වහල්ලු මෙහි දී දැඩි ලෙස හිරිහැරයට ලක් වූහ. සාමාන්‍ය ජනතාව පවුලේ අයගෙන් ද අන් අයගෙන් ද හිරිහැරවලට ලක් වූහ. එවිට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා අන් ඉස්ලාම් බැතිමත්තු ද පලිගැනීමක් නොකර සිටියෝ ය.

කුරෛෂිවරුන්ගේ තර්ජනවලට එරෙහි ව නිහඬ ව ඉවසා සිටීමට හෝ විරුද්ධ ව සටන් කිරීමට නොහැකි ව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම මිතුරන් "හබෂාවට" යැව්වේ ය. ප්‍රථමයෙන් නුබුව්වත් 5 වන වසරේ දී පහළොස් දෙනෙකු ද නුබුව්වත් 7 සිය දෙනකු වශයෙන් අවස්ථා දෙකක දී පිටමං කළේ ය. මෙය දැක කෝපයට පත් කුරෛෂිවරු "හබෂා" ගොස් නැවත ඔවුන් මක්කාවට ගෙන්වා ගැනීමට උත්සාහ කළෝ ය. එනමුත් එම උත්සාහය අසාර්ථක විය. යහපාලකයකු වූ "නජ්ජාෂි" මුස්ලිම් ජනතාවට ආරක්ෂාව සැලසුවේ ය. පසුව කුරෛෂිවරුන්ගේ විරුද්ධත්වය මධ්‍යයේ වුව ද ඉස්ලාමය වැළඳගත් අයගේ ප්‍රමාණය අධික විය. හම්සා රළියල්ලාහු අන්හු සහ උමර් රළියල්ලාහු අන්හු තුමණ්ලා ඉස්ලාමය වැළඳගත් නිසා මුස්ලිම් බැතිමතුන්ගේ ධෛර්යය

වැඩි විය. එනමුත් කුරෙයිෂිවරුන්ගේ තර්ජනය අඩු නොවී ය. මරණීය තර්ජනවලින් පවා අඩුවක් නොපෙනුණි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ආරක්‍ෂා කිරීමේ කාර්යයෙහි ඔහුගේ ලොකු තාත්තා නියැලී සිටියේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ප්‍රචාරණ ක්‍රියා අත්හිටුවන ලෙසත් නොඑසේ නම් එතුමන්ව තමන් වෙත භාරදෙන ලෙසත් කුරෙයිෂිවරු ඉල්ලා සිටියෝය. එතුමා ඒවා පැහැර හැරියේ ය. භූමියට, කාන්තාවන්ට, රන්භාණ්ඩවලට ආශාව හා මෝහය උපද්දවා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා නමා ගත හැකි බව සිතුවෝ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සම්මුඛ ව හමු වී තම ප්‍රචාරණය අත්හරින ලෙස ඉල්ලීම් කළහ. දෙපාර්ශ්වයේ සාකච්ඡාවෙන් තීරණයකට එලඹීමට උත්සාහ කළෝ ය. මේ කිසිවකටත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සැලුණේ නැත.

එම නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ පවුල්වලට සම්බන්ධ හාෂිම්වරු හා මුත්තලිබ්වරු සමාජයෙන් කොන් කරනු ලැබූහ. කඃබාවෙහි තහනම් නියෝග පත්‍රය ප්‍රදර්ශනය කරන ලදි. ෂිඃබු අබීතාලිබ් යනුවෙන් වූ නිම්නයේ ඔවුහු වසර තුනක් සිර කරනු ලැබූහ. කෑමට ආහාර හෝ පානයට ජලය හෝ නොමැති ව ඔවුහු දුක් වින්දෝ ය. කුඩා දරුවන්ගේ හැඬීම මඳක් දුරට ඇසුණේ ය. මෙය බලා සිටීමට නොහැකි කිසියම් පිරිසක් රහසිගත ව උදව් කළේ ය. එවැනි අය ගැන හෙළිදරව් වූ විට ඔවුනට දඬුවම් ලබා දෙන ලදි. මෙම දුක්ඛිත ජීවිතය දුටු තරුණයෝ කඃබාවේ ප්‍රදර්ශනය කරන ලද දැන්වීම් පත්‍රිකා ඉරා විනාශ කළහ. එම නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හා එතුමන් සමග වූ අනෙකුත් පිරිසට නිදහස ලැබුණි.

මෙසේ නිදහස් වී සුළු කාලයක දී තවත් ගැටලුවකට මුහුණ පෑමට සිදු විය. මේ දක්වා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට සහයෝගයට සිටි අබුතාලිබ් සහ කදිජා රළියල්ලාහු අන්හු යන දෙදෙනා ම අභාවයට පත් වූහ. මෙය කුරෙයිෂිවරුන්ට යහපතක් විය. පෙරටත් වඩා විශාල ගැටලු වලට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට මුහුණ දෙන්න සිදු විය. එම නිසා මක්කාවේ සිට තායිෆ් වෙත ගියේ ය. එහි ගෝත්‍ර නායකයන්ට තමා අල්ලාහ්ගේ දූතයා යනුවෙන් හැඳින්වූයේ ය. ඔවුන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සමච්චලයට ලක් කළෝ ය. මැරවරයන් යොදා ගල්මුල්වලින් පහර දී බැණ වැදුනෝ ය. එම අවස්ථාවේ පවා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා එම අයගේ යහපත උදෙසා ප්‍රර්ථනා කළේ ය. වෙනත් කළ යුතු දෙයක් නොමැති ව නැවත මක්කාවට පැමිණ "මුත්ඉම්" යන අයගේ පිහිටෙන් ජීවත් වීමට සිදු විය.

මේ අවස්ථාවේ දී මදීනා සිට (යත්රිබ්) මක්කාවට පැමිණි වන්දනාකරුවන් සමහරෙක් "අකබා" යන ස්ථානයේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හමුවූහ. තමා අල්ලාහු තආලාගේ දූතයා බව හඳුන්වා දුන්නේ ය. මීට පෙර යුදෙව්වන්ගෙන් අන්තිම නබි තුමා පිළිබඳ ව මඳක් දන සිටි නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ප්‍රකාශය ඔවුහු පිළිගත්තෝ ය. "යත්රිබ්" ගිය මේ අය එම අයට ද මෙම සතුටුදායක පණිවිඩය කීවෝ ය.

ඉන්පසු ඊළඟ වන්දනා සමයේ දී දොළොස් දෙනෙක් ජනයෝ මක්කාවට පැමිණ ඉස්ලාමය පිළිගත්හ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ දේශනවලට ද සහභාගී වූහ. මේ අය සමග යත්රිබ් හි ඉස්ලාම් දේශනය සඳහා මුස්අබ් රළියල්ලාහු අන්හු යවන ලදි. ඊළඟ වන්දනා සමයේ දී (නුබුවත් 12) යත්රිබ් වැසියෝ 72 මක්කාවට පැමිණිය හ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා හමු වීමෙන් පසු පෙර ගිවිසුම අලුත් කරගත්හ. මෙය "බෛඅතුල් අකබා 2" යනුවෙන් හැඳින්වෙයි. මේ අවස්ථාවේ දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට "යත්රිබ්" වෙත පැමිණෙන ලෙස ආරාධනයක් ලැබුණි.

එම අයගේ ආරාධනය පිළිගෙන ප්‍රථමයෙන් ඉස්ලාම් බැතිමත්හු මක්කාවේ සිට මදීනාවට හිජ්රත් ගියහ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ද මේ අය සමග හිජ්රත් ගිය හොත් අපට කරදරයක් වේ දෝ යන බියක් කුරෛෂිවරුන්ට ඇති විය. එමනිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඝාතනය කිරීමට තීරණය කළෝ ය. එතුමාගේ නිවස වටා රැකවරණය යොදා තිබූ මොහොතක නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාණෝ ආරක්ෂාකාරී ව එළියට ඇවිත් අබූබක්කර්රළියල්ලාහු අන්හු තුමා සමග නොයෙක් බාධා පසුකරමින් මදීනාවට පැමිණියහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ පැමිණීමත් සමග යත්රිබ්, "මදීනතුන් නබි" යනුවෙන් හැඳින්විණි. මෙහි දී මක්කා වේ විසූ කල මුහුණ දීමට සිදු නොවූ අලුත් අභියෝගවලට මුහුණ දීමට සිදු විය. කුරෛෂිවරුන් මදීනාවට ගිය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට හෝ මුස්ලිම් ජනතාවට නිදහසේ ජීවත්වන්න ඉඩ හැරියේ නැත. ඔවුහු මදීනාවේ ජීවත් වූ යුදෙව්වරුන් මුස්ලිම් ජනතාවට කරදර කරන්න උසි ගැන්වූහ. මදීනාවේ සිට වන්දනාවේ පැමිණි අයට තර්ජනය කළහ. මදීනාවේ දකුණු මායිමේ දී පහර දීම් කළහ.

ඔවුහු සිවුපා සතුන් අත්පත් කර ගත් අතර වතුවලට ගිනි තැබූහ. අවසාන වශයෙන් මුස්ලිම් ජනතාව සමග යුද්ධ කිරීමට බල සේනාව පිරිවරාගෙන ආහ. මුස්ලිම්වරුන් කිසිම සූදානමක් නොමැති ව පාරම්පරිකව ලද පුහුණුව උපයෝගී කර ගනිමින් සටන් කළෝ ය. සේනා බලයක් ඇති කුරෛෂිවරු පරාජයට පත් වූහ. මෙහි දී මුස්ලිම්වරුන්ට මලාඉකාවරුන්ගේ උදව් ලැබුණේය. ඉන් පසු මුස්ලිම්වරුන්ට අල්ලාහ් ගැන දැඩි විශ්වාසයක් ඇති විය. මෙවැනි සටන් තුනකින් පසු (බදර්, උහද්, කන්දක්) හිජ්රි 6 දී දෙපිරිස ම හුදෛබියා යන ස්ථානයේදී සාම ගිවිසුමක් ඇති කර ගත්හ. එනමුත් සුලු කාලයකදී කුරෛෂිවරු ගිවිසුම කඩ කළහ. නොකඩවා සිදු වූ සිදුවීම්වලින් පසු මක්කාව මුස්ලිම් ජනතාවගේ පාලනයට නතු විය. ඉස්ලාම් දහම වේගයෙන් ව්‍යාප්ත වීම ඇරඹිණි.

හිජ්රි පළමු වර්ෂයේ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා යුදෙව්වරුන් සමග ගිවිසුමක් ඇති කර ගත්තේ ය. නමුත් ඔවුහු කුරෛෂිවරුන් සමග සන්ධාන ගත වී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට විරුද්ධ ව කුමන්ත්‍රණ කිරීමට පටන් ගත් නිසා මදීනාවේ සිට පිටුවහල් කරනු ලැබූහ. එම නිසා මදීනාව සන්සුන් විය. ඉස්ලාමීය අධිරාජ්‍යය ව්‍යාප්ත වී වර්ධනය විය.

මින් පසු නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉස්ලාමීය පණිවිඩය පිළිබඳ ව යාබද ව තිබෙන කුඩා රාජ්‍යයන්ට සහ මහා රාජ්‍යයන්ට ද ලිඛිත ව දැනුවත් කළේ ය.මේ නිසා අරාබිකරයෙන් එපිට රටවල ද ඉස්ලාම් පැතිරුණේ ය. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ අභාවයෙන් පසු කාලීෆාවරුන්ගේ කාලයේ ඉස්ලාමීය අධිරාජ්‍යය පෘථුල විය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තමන් වෙත පැවරුණු දේව මෙහෙය අකුරට ම ඉටු කළේ ය. තමාට හිරිහැර කළ එම ජනතාව තම පණටත් ඉහළින් සැලකුවේ ය. එතුළින් ඔවුන්ගේ සිත් දිනාගත්තේ ය. තමාට මුහුණ දීමට සිදු වූ අභියෝග ඉවසීමෙන් හා සුදුසු පරිදි හැසිරවීමෙන් එතුමාණෝ "ඉස්ලාම්" ධර්මය ජාත්‍යන්තර බලවේගයක් බවට පත් කළේය.

## අභ්‍යාසය

1. කෙටි පිළිතුරු දෙන්න.
   (i) දෑවා කිරීමට ප්‍රථම නියෝගය ලැබී ඇත්තේ කුමන සූරාවේ ද ?
   (ii) කුරෛෂිවරු නබි තුමාගේ දෑවාවට විරුද්ධ වූ හේතු දෙකක් සඳහන් කරන්න.
   (iii) නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට විරුද්ධ වූවන් එතුමන්ට පටබැඳි නම් කිහිපයක් සඳහන් කරන්න.
   (iv) නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාට විරුද්ධ වූ දෙදෙනෙකුගේ නම් සඳහන් කරන්න.
   (v) ඉස්ලාම් බැතිමතුන්ගේ ආරක්ෂාවට සිටි ප්‍රබලයෙකුගේ නමක් සඳහන් කරන්න.
   (vi) මදීනාවේ පැරණි නම සඳහන් කරන්න.
   (vii) බෛඅතුල් අකබා යනු කුමක් ද?

(2) නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ප්‍රචාරය නැවැත්වීමට කුරෛෂිවරුන් අනුගමනය කළ ක්‍රියා මාර්ග සඳහන් කරන්න.

(3) නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සහ හාෂිම්වරු සමාජ විරෝධයට ලක් වීමට හේතු වූ කරුණු පැහැදිලි කරන්න.

(4) කුරෛයිෂිවරු හබෂාවේ සිට මුස්ලිම් ජාතිකයන් ආපසු ගෙන්වා ගැනීමට කළ උත්සාහය කෙටියෙන් සඳහන් කරන්න.

(5) නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අභියෝග ජය ගත්තේ කෙසේ ද?



# 20

# සීරාවෙහි වැදගත්කම



"සීරා" මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිත කතාව ගැන කීමට භාවිත වන තනි වචනයකි. මෙම වචනය පදනම් කොටගෙන සීරාව කලාවක් ලෙස ප්‍රගුණ කොට, ලේඛන ගත වෙමින් පවතී.

මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සියලු දෙනාට ම පොදු යහ මග පෙන්නුම් කළ කෙනෙකි. නබි තුමනි, අප ඔබව මෙලොව සිටින සියලු මනුෂ්‍ය වර්ගයාට ම අවවාද කර අනුශාසනා කරන ලෙස මෙලොවට යවා ඇත. එහෙත් තවම බහුතරයක් ජනතාව මේ පිළිබඳව අනවබෝධයෙන් සිටිති (34:28) යනුවෙන් අල් කුර්ආනය විදහා දක්වයි.

තව ද අල්ලාහ් (රබ්බු) සර්ව බලධාරියා වශයෙන් (1:1) සිටිනවා මෙන් ම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා (රහ්මතන් ලිල් ආලමීන්) සර්ව දූතයා වශයෙන් (21:07) සිටින්නේ ය. අල්ලාහ් (රබ්බුන්නාස්) මනුෂ්‍යයන්ගේ ස්වාමියා වශයෙන් (114:1) සිටිනවා සේ ම නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා (කාෆ්ෆතුන් ලින්නාස්) මුළු මහත් මනුෂ්‍ය සමාජයටම නබි වශයෙන් (34:28) සිටින්නේ ය. එම නිසා පසු ගිය සියවස් දාහතරකටත් අධික කාලයක් තිස්සේ එතුමාගේ සීරාව ඉගෙන ගෙන ආරක්ෂා කරනු ලැබිණි. මෙයට හේතු වූ කරුණු කීපයක් සඳහන් කළ හැකි ය.

1. ඔහු මෙලොවේ අවසාන දූතයා වෙයි. එතුමාගෙන් පසු වෙනත් දූතයකු බිහි වන්නේ නැත. එම නිසා එතුමාගේ පණිවිඩය ආරක්ෂා කළ යුතු වෙයි.

2. එතුමාව පිළිගෙන තම ජීවන රටාව හසුරුවා ගත් ජනතාව එතුමාගේ කාලයේ සිට අද දක්වා පැවත ඒම.

3. එතුමාගේ ඉතිහාසය නිවැරදි ව ලියා ආරක්ෂා කරගෙන ඒම සෑම කල්හි දී ම එතුමාගේ චරිතයට හානියක් නොවන අන්දමට ආරක්ෂා කිරීමට උත්සාහ දැරීම.

4. එතුමාගේ ජීවිත කථාව පිළිබඳ පොත්, සියලු ම භාෂා වලින් මුස්ලිම් ජනතාව පමණක් නොව මුස්ලිම් නොවන පුද්ගලයින් විසින් ද විවිධ කෝනවලින් ලියා තිබීම.




නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ සීරාව ව්‍යාකූල නොවේ. එතුමා ජීවත් වන කාලයේ දී සහාබාවරුන් විසින් එතුමා ගේ ප්‍රතිරූපය, චලනය, දේශනය, ක්‍රියාකාරකම්, කැමත්ත, අකමැත්ත යනාදිය ඉතා සූක්ෂම ලෙස හඳුනා ගනු ලැබිණි. පසු කාලීන ව ජනතාව ඒවා සාක්ෂි සහිතව ඔප්පු කළෝ ය. එතුමාගේ ජීවිතය පිළිබඳ තොරතුරු සෙවීමට ඉදිරිපත් වූහ. ගෙයින් ගෙට ගොස් සජීවී ව දුටු අයගෙන් අසා දැනගත්තෝ ය. ඒ දැන ගත් තොරතුරු නැවත විමර්ශනයට ලක් කළෝ ය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ මිතුරන්, තාබිඊන්වරු, ඉන් පසු තබඋත්තාබිඊන්වරු, නබි තුමාගේ ඉතිහාසය ආරක්ෂා කිරීම සඳහා අසහාය උත්සාහයක යෙදුණෝ ය. එම නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ජීවත් වන කාලයේ ජනතාව එතුමාගේ ක්‍රියාකලාපය දුටුවා සේ ම අපටත් එතුමා ගේ සීරා ව කියවීමෙන් එම ක්‍රියා පිළිබඳ සිතින් දැක ගත හැකි වන අයුරින් එම සීරාව ගොනු කොට ඇත. ශ්‍රවණය කිරීමෙන් සහ කටපාඩමෙන් ලැබුණු සීරා තොරතුරු මුහම්මද් බින් ඉස්හාක් (හිජ්රි 151) දී ප්‍රථමයෙන් ලේඛන ගත කළේ ය.

එහි නම සීරත් රසූලුල්ලාහ් යනුවෙන් හැඳින්විණි. එම ග්‍රන්ථය පසුකාලීන ව නොලැබුණි. ඉන්පසු එම ග්‍රන්ථය සමගාමී ව මුහම්මද් අබ්දුල් මලික් බින් හිෂාම් (හිජ්රි 218) විසින් ලියන ලද ග්‍රන්ථය දැනටත් තිබෙන අතර සීරාවට ලියන ලද ප්‍රථම ග්‍රන්ථ දෙක වශයෙන් මෙම ග්‍රන්ථ දෙක සැලකේ. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම සීරාව වැරදි අන්දමට හඳුන්වාදීම නොකළ යුතු යැයි තම මිතුරන්ට තරයේ අවවාද කළේ ය. කෙනකු මා ගැන බොරුවක් ගොතන්නේ ද ඔහු ඔහුගේ වාසස්ථානය අපායේ සොයා ගනු ඇත. (බුහාරි) මරියම්ගේ පුතා ඊසා අලෛහිස්සලාම් තුමාට ව්‍යාජ ලෙස ප්‍රශංසා කරනවා සේ ම කරන්න එපා යැයි කීහ. මම දූතයෙක් පමණයි. මා අල්ලාහ්ගේ දූතයෙක් යැයි පවසන්න (බුහාරි) එම නිසා එතුමාගේ සීරාව නිවැරදි ව, පිරිසිදු ව ලියා තිබේ. කියවීමෙන්, දේශන කිරීමෙන්, ක්‍රියාවට නැංවී තිබේ.

එනමුත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අප මෙන් සාමාන්‍ය මිනිසකු යැයි පැවසිය නොහැකි ය. ඔහු මිනිසුන් අතර අති ශුද්ධ වූ මිනිසෙකි. පෙර පසු පව්වලට සමාව දෙන ලද කෙනකු වශයෙන් මෙන් ම ද විවිධ යහපත් ගතිගුණ හිමි පුද්ගලයකු වශයෙන් ද ඔහු උසස් වේ. මුස්ලිම් වරයකු වශයෙන් එතුමාට සමීප වීම ඊමානයේ කොටසක් වෙයි. මුස්ලිම් අයට එතුමා තම පණටත් වඩා වැදගත් කෙනකි. (33:6)

'විශ්වාසවන්තයිනි ! ඔබ තුළින් නිශ්චිතව ම (අපගේ) දූතයෙක් පැමිණ සිටියි. (ඔබට යම් කරදරයක් සිදු වී) ඔබ දුකට පත් වූ විට (එය) එතුමාගේ සිත් තැවුලට හේතු වෙයි.

ඒ තරමට ඔහු ඔබ සමග සුහදශීලී ය.) ඒ අතර ම ඔහු ඔබගේ ආනිශංස නිතර ම ප්‍රිය කරන කෙනකු වන අතර මනා විශ්වාසවන්තයින් වන ඔබ කෙරෙහි දයාව හා කරුණාව ඉමහත් ලෙස ඔහු තුළ ඇත.' (9:128)

'කවුරු හෝ කෙනෙක් ඔහු විශ්වාස කර එතුමා ශක්තිමත් කර එතුමාට උදවු කර එතුමන් හට පහළ වූ ප්‍රභාන්විත ධර්මය පිළිපදින්නේ ද ඔහු සමත් වූ වෙකි වැනි අල් කුර්ආන් වැකි අප හා එතුමන් අතර ඇති සබඳතා ව පැහැදිලි කරයි. එම නිසා 'ඔහුගේ ජීවන රටාව ඉගෙන ගැනීම අවශ්‍ය වෙයි. එලෙස අධ්‍යයනය කිරීමේ දී සෙබලා සෙන්පතියා, ශිෂ්‍යයා ගුරුවරයා, අනුගාමිකයා නායකයා අනුගමනය කරනවා සේ ම සීරාව ඉගෙන ගත යුතු අතර ම එහි වැදගත්කම හඳුනාගෙන මධ්‍යස්ථ ජීවිතයක් ගත කළ යුතු යැයි මුහම්මද් අල් ගස්සාලි සඳහන් කළේ ය.




මිනිසුන් සියලු දෙනා ම එක සමාන ව සිටියත් ඔවුන්ගේ ගති ගුණ හැකියා අරමුණු ක්‍රියාකාරකම් වෙනස් වෙයි. එනමුත් ඔවුන් සියලු දෙනා සඳහා ම වූ ආදර්ශය සීරාවේ සඳහන් වෙයි.

'සත්‍යවශයෙන් ම අල්ලාහ්ගේ දූතයා වෙතින් ආදර්ශයක් ඇත.' (33:21) යනුවෙන් අල් කුර්ආනයේ සඳහන් වෙයි. එම ආදර්ශය නිශ්චිත කාලයකට හෝ ස්ථානයකට හෝ ජාතියකට හෝ සීමා නොකර සියලු දෙනා ම අනුගමනය කළ හැකි ය.

'දුප්පතකු වුව ද පාලකයකු හෝ පාලනය වන කෙනකු වුවද ඉගෙන ගන්නකු හෝ ජයග්‍රාහකයකු හෝ දුකෙන් සිටින්නකු හෝ කරදර වලට ලක් වූ කෙනකු හෝ වෙනයම් ජීවන රටාවක් අනුගමනය කරන කෙනකු වුව ද සියලූම දෙනාට ආදර්ශයක් වන ජීවන රටාවක් සීරාවේ දක්නට තිබෙන බව සෙයියද් සුලෙයිමාන් නද්වි සඳහන් කළේ ය.

එම නිසා සීරාව විවෘත හදවතින් ඉගෙන ගත් අය එයට යොමු වී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අල්ලාහ්ගේ දූතයා යනුවෙන් පිළිගෙන විශ්වාසවන්තයන් බවට වෙනස් වූ සමහරු ගැන ඉතිහාසයේ සඳහන් වෙයි.

තවත් දෘෂ්ටි කෝණයකින් බලන විට සීරාව ඉස්ලාමයේ මූලික සිද්ධාන්තවල එක් මාධ්‍යයක් වෙයි. අල් කුර්ආනය හෝ වේවා සුන්නාව හෝ වේවා අපට ලබාදුන්නේ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ය. අල්ලාහ් ජිබ්රීල් අලෛහිස්සලාම් මගින් අල් කුර්ආනය පිළිගැන්වී ය. එය හා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතය සම විය. මේ දෙක මුල් කර ගෙන ඉස්ලාමීය ජීවන ක්‍රමය හැඩ ගැසී ඇත. ඒ අනුව, මිනිසුන් නොමග යෑම වැළැක්වීම සඳහා අල් කුර්ආනය හා සුන්නාව යන දෙක ම මෙලොවට දයාද කර යන බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම අවසන් දේශනයේ දී පැවසුවේ ය. එම නිසා ඉස්ලාමීය ජීවන රටාවේ සීරාව වැදගත් තැනක් උසුලන බව සඳහන් කළ හැකි ය.

අන් අයගේ ජීවිත මරණයෙන් අවසන් වන නමුත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ ජීවිතයට අදටත් පැවැත්මක් ඇත.

**අභ්‍යාස**

1. පහත සඳහන් අරාබි වචනවල තේරුම දෙන්න.

| | |
|---|---|
| සීරා | රබ්බුල්ආලමීන් |
| සහාබා | රහුමතන් ලිල් ආලමීන් |
| තාබිඊන් | තබඋත්තාබීඊන් |
| කාෆ්ෆාතුන් ලින්නාස් | රබ්බුන්නාස් |

2. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ සීරාව සියලු ම ජනතාවට යෝග්‍යයි, යන කාරණාව හේතු සහිත ව දක්වන්න.

3. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ සීරාව ව්‍යාකූල නොවී තිබීමට යොදා ගත් සාධක වගු ගත කරන්න.

4. සීරාව ඉගෙන ගත යුත්තේ ඇයි දැයි කෙටියෙන් සඳහන් කරන්න.

5. ඔබ දැනගත් සීරා ග්‍රන්ථවල නාම ලේඛනයක් සකස් කරන්න.

# 21



# ආර්ථිකය සම්බන්ධ ඉස්ලාමීය දැක්ම



ඉස්ලාම් ආගම මනුෂ්‍ය ජීවිතයේ සියලු ම අංශවලට සුදුසු මගපෙන්වීම් දැක්ම සහිත ආගමක් වන අතර ආර්ථිකය හසුරුවීම පිළිබඳ ශ්‍රේෂ්ඨ මගපෙන්වීමක් ද (මාර්ගෝපදේශනය ක්) ලබා දෙයි.

ආර්ථිකය යන වචනය භාවිත වන්නේ මිනිස් ශ්‍රමය නොමැති ව ළඟා කර ගත නොහැකි මිනිස් අවශ්‍යතා සැපිරීම සඳහා වූ සම්පත් හැඳින්වීම සඳහා ය. එලෙස ම මිනිසාගේ මූලික අවශ්‍යතා :ආහාර, ඇඳුම් පැළඳුම්, නිවාස හා සමාජයේ දියුණුවක් සමග ම ඇති වූ අධ්‍යාපනය, ආරක්ෂාව, සන්නිවේදනය, විනෝදය වැනි වෙනත් අවශ්‍යතා සපුරාලීම ඕනෑම ආර්ථිකයක ප්‍රධාන අරමුණ වේ. මේ සඳහා ක්‍රියාත්මක කරන විවිධ ක්‍රම ආර්ථික ක්‍රම වන අතර එම ක්‍රම පිළිබඳ අධ්‍යයනය, ආර්ථික විද්‍යාව නම් වේ.

ආර්ථිකය පිළිබඳ මිනිසුන්ගේ අරමුණු සහ ඒවා ළඟා කර ගැනීමට ඔවුන් දරන උනන්දුව එකිනෙකට වෙනස් ය. එම නිසා මිනිසුන්ගේ ආර්ථික මට්ටම් ද වෙනස් ය. සමහරෙක් ආර්ථිකයේ උසස් මට්ටම්වල ද, තවත් සමහරෙක් පහත් මට්ටමේ ද තවත් සමහරෙක් මධ්‍යස්ථ ව ද සිටිති. මේ සියලු දෙනාගේ ම ආර්ථික අවශ්‍යතා සපුරාලීම සඳහා ඉදිරිපත් කරනු ලබන සැලැස්ම ශ්‍රේෂ්ඨ ආර්ථික ක්‍රමයක් වේ.

මිනිසාගේ ආර්ථික අර්බුද විසඳා ගැනීමට යොදා ගන්නා ප්‍රධාන ආර්ථික සංකල්ප දෙකකි. එනම්,

1. ධනවාදී ආර්ථික ක්‍රමය
2. සමාජවාදී ආර්ථික ක්‍රමය

පෞද්ගලික අංශයේ උන්නතිය සඳහා මූලිකත්වය ලබා දෙන ආර්ථික ක්‍රමය ධනවාදී ආර්ථික ක්‍රමය වන අතර පෞද්ගලික අංශයට පමණක් සීමා වූ ආර්ථික අභිවෘද්ධිය පිටු දකින සම්පත් සියල්ල ජන සතු කරන ආර්ථික ක්‍රමය සමාජවාදී ආර්ථික ක්‍රමය වෙයි. මේ සංකල්ප දෙක ම මධ්‍යස්ථ නොවේ. මේ තුළින් ලෝක ආර්ථිකයේ විසඳිය නොහැකි අභියෝග රැසක් බිහි වී ඇත. නමුත් ඉස්ලාම් මධ්‍යස්ථ ආර්ථික සංකල්පයක් හඳුන්වා දී ඇත. එය පෞද්ගලික අංශයේ ආර්ථිකයට හා පොදු සමාජ ආර්ථිකයට ද යහපත ගෙන දේ.

ඉස්ලාමීය ආර්ථිකයේ මූලික සංකල්ප දෙකක් තිබේ.

01. (විශ්වාසය හා සම්බන්ධ) ප්‍රතිපත්තිමය කරුණු
02. ක්‍රියාකාරකම් හා සම්බන්ධ මූලික කරුණු.

**01. විශ්වාසය හා සම්බන්ධ ප්‍රතිපත්ති මය කරුණු :-**

**⋆ සියලු ම සම්පත් අල්ලාහ්ගේ ය. ඒවා මිනිසා වෙනුවෙන් බිහි කළේ ය.**

''තව ද අහසේ සහ භූමියේ තිබෙන ඒවාත් අල්ලාහ්ගේ ය. (53:31)''

භූමියේ තිබෙන සියලු දේ ඔබ වෙනුවෙන් බිහි කළේ ඔහු ය.

**⋆ ධනවත්කම ගැන කියාමත් දිනයේ විමර්ශනය කරනු ලැබේ.**

**ඔබට අල්ලාහ් තආලා ලබා දුන් දායාද ගැන ද කියාමත් දිනයේ විමර්ශනය කරනු ලැබේ. (102:08)**

**⋆ පෞද්ගලික දේපල / ධනයෙන් කොටසක අයිතිය සමාජයට ද ඇත.**

''ඔවුන්ගේ ධනයෙන් නිශ්චිත ප්‍රමාණයක අයිතිය නැති බැරි අයට සහ යාචකයින්ට ඇත. (70:24-25)''

**⋆ ධනය ඉපැයීමට දරන උත්සාහය සාර්ථක හෝ අසාර්ථක වන්නේ අල්ලාහ්ගේ අභිමතය පරිදි ය.**

''ඇත්ත වශයෙන් ම අල්ලාහ් තමා කැමති අයට වැඩියෙන් හෝ අඩුවෙන් ලබාදෙන්නේ (17:30)''

**⋆ ධනය / සම්පත් මිනිසා පරීක්ෂණයට භාජනය කිරීම සඳහා ලබා දී ඇති ඒවා වේ.**

' නිශ්චිතව ම ඔබේ ධනය හා දරුවන් ඔබ පරීකෂණයට භාජනය කිරීම සඳහා ම ඇත්තේ ය.' (64:15)

ඉහත සඳහන් විශ්වාසය හා සම්බන්ධ වූ ප්‍රතිපත්තිමය කරුණු ඉස්ලාමීය ආර්ථික ක්‍රමයේ ප්‍රාණය වෙයි. ඒ අනුව ධනවාදී සහ සමාජවාදී ආර්ථික ක්‍රම තුළින් මිනිසුන්ට ලබා ගැනීමට නොහැකි වූ නිදහස, මානසික තෘප්තිය, මානසික සුවය, ඉස්ලාමීය ආර්ථික ක්‍රමය තුළින් ලබා ගත හැකි ය.

## 02 ක්‍රියාකාරකම් හා සම්බන්ධ මූලික කරුණු

⋆ අල්ලාහ්ට ස්තුතිය පුද කිරීම

මෙය මා ඔහුට ස්තුතිය පුද කරනවා ද නැද්ද යන්න පරීක්ෂා කිරීමට මාගේ දෙවියා මට දුන් දයාදයකි. (27:40)

**⋆ සකාත්, සදකා හා වෙනත් දන මානවලින් සමාජයට හිමි කොටස ලබා දීම.**

'දන් සියල්ල දුගීන්, දුප්පතුන්, දන් රැස් කරන්නන්, නවමු ඉස්ලාම් භක්තිකයින්, ණය බරින් මිරිකී සිටිනවුන්, අල්ලාහ් ගේ මග කටයුතු කරනවුන් මගීයාචකයින් හා වහලුන් නිදහස් කිරීමට හිමි අල්ලාහ් නියම, කර ඇති වගකීමකි. අල්ලාහ් සියලු දේ පිළිබඳ දැනුවත් මහා ඥානවන්තයෙකි (9:60)

**⋆ වැය කිරීමේ දී සහ ඉතිරි කිරීමේ දී මධ්‍යස්ථ වීම.**

''(ඔබගේ ධනයෙන් කිසිවක් වැය නොකර) සියල්ල ඉතිරි කර බෙල්ලේ එල්ලා නොගනු ! තව ද ඔබගේ ධනය සියල්ල වැය කොට හිස් අතින් ද නොසිටිනු '' (17:29)

**⋆ කුමන හෝ ආර්ථික ක්‍රියාදාමයක වුව ද පොළිය අන්තර්ගත නොවීමට වග බලා ගැනීම.**

''පොළී ලබාගෙන පරිභෝජනය කරන වුන් ෂෛයිතාන් ආවේශ වී නැගිටින වුන් ලෙස මිස නැගිටින්නේ නැත.''(2:275)

**⋆ අල්ලස, රැවටීම, සූදුව, දූෂණය වැනි හර පද්ධතීන්ට විරුද්ධ වූ ක්‍රියාවලින් සම්පූර්ණයෙන් ම වැළකී සිටීම.**

''කෙනෙක් තවත් කෙනකුගේ දේපල අසාධාරණ ලෙස පරිභෝජනය නොකරන්න ''

''(ඔබේ මතය බොරු බව) ඔබ දැන සිටිය ද (වෙනත්) මිනිසකුගේ වස්තුන් කිසිවක් පාපයෙන් පිරුණු මාර්ගයකින්/ ක්‍රමයකින් (අසාධාරණ ලෙස අල්ලස් දී) අත්පත් කර ගැනීම ට නිලධාරීන් වෙත නොයනු'' (2:188)

**⋆ කාලීන වශයෙන් ඇති වන ආර්ථික අවශ්‍යතා, වෙනස්වීම් හා ව්‍යාකූලතා ඉස්ලාමීය විද්වතුන් විසින් ඉජ්තිහාද් කර නිරාකරණය කළ යුතු යි.**

මෙම මූලික කරුණු හේතු කොට ගෙන ඉස්ලාමීය ආර්ථික ක්‍රමය සියලු ම කාල වකවානු වලට යෝග්‍ය පරිදි සකස් වී ඇත.

★ එකඟතාව මත සිදු කරන ආර්ථික ක්‍රියාකාරකම් සාක්ෂි සහිතව ලේඛන ගත කිරීම.
'විශ්වාසවන්තයිනි! ඔබ නිශ්චිත කාල සීමාවක් සඳහා ණය දුන්නොත් එය ලිඛිත ව තබා ගැනීම යෝග්‍ය වෙයි. (2:282)

ඉස්ලාමීය ආර්ථිකයේ මෙම මූලික කරුණු දෙක සඳහා සාක්ෂි ලෙස මෙහි දී අල් කුර්ආන් වැකි පමණක් ලබා දී ඇත. මේ කරුණු ශක්තිමත් කිරීමට විවිධ හදීස් ඇත. ඒවා අල් කුර්ආන් වැකි වලට සමාන්තර වෙයි. මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මුස්ලිම් සමාජයේ මෙම සිද්ධාන්ත ක්‍රියාවට නංවා පෙන්වූයේ ය. එම ආදර්ශය අනුගමනය කළ කලීෆා වරුන්ගේ පාලන කාලය තුළ සිටි මුස්ලිම්වරු එහි ප්‍රතිඵල අත්දුටුවෝය.

## ඉස්ලාමීය ආර්ථික ක්‍රමයේ වැදගත් කරුණු

★ **දේව ගුණාංග :-**

ඉස්ලාමීය ආර්ථික ක්‍රමයේ දී අල්ලාහ්ගේ මාර්ගෝපදේශය පදනම් කරගෙන ඇත. ඒ නිසා මිනිසා නිර්මාණය කළ ආර්ථික ක්‍රම තුළ ඇති අඩුපාඩු මෙන් මෙහි අඩුපාඩු කිසිවක් දක්නට නැත.

★ **සමාජය තුළ පැන නගින ආර්ථික උස් පහත්කම් විධිමත් කිරීම :-**

ඉස්ලාම් ධර්මයේ ඇති සාර්ථක බෙදා හැරීමේ ක්‍රමය මෙයට හේතු වේ. ඔබගේ ධනය ධනපතීන් අතර පමණක් රැඳීමට නොදී (අන් අයට ද ලැබීමට ධනය මෙලෙස) බෙදා දෙන ලෙස අණ කරන්නේ ය. (59:7)

★ සමාජ යහපත සහ පෞද්ගලික යහපත අතර සම්බන්ධතාවක් ඇති කිරීම :-
මෙ නිසා ඉස්ලාමීය ආර්ථික ක්‍රමය ධනවාදී හා සමාජවාදී ආර්ථික ක්‍රමවලින් වෙනස් වේ.

★ ආධ්‍යාත්මික අවශ්‍යතා සහ ලෞකික අවශ්‍යතා ගැන සම ව සැලකිල්ලට යොමු කිරීම.

දැනට පවතින ආර්ථික ක්‍රමය ලාභය හැර වෙනත් අංශවලට ප්‍රමුඛත්වයක් ලබා දෙන්නේ නැත. ඉස්ලාමීය ආර්ථිකයේ ලාභය පමණක් නොව හැඟීම්, ගතිගුණ, ශිෂ්ටභාවය සංස්කෘතිය, යනාදියට ද වැදගත් තැනක් හිමි වෙයි.

කිසි කෙනකුට අසාධාරණයක් නොවීම. මෙය ඉස්ලාමීය ආර්ථික ක්‍රියාකාරකම් වල ඉතා වැදගත් අරමුණකි. අසාධාරණය කරන්නේද නැත. අසාධාරණයට ලක් වන්නේද නැත.(2:279)

★ **නම්‍යශීලීභාවය :-**

ආර්ථික ක්‍රියාකාරකම් 'මුආමලාත්' වලට සම්බන්ධ නිසා ඉස්ලාම් වළක්වා ඇති සමහර දේ හැර අන් ඒවාට අනුමැතිය දී තිබේ. මෙහිදී, ආර්ථික ක්‍රියාකාරකම්වලට යොමු වීමේ දී නව්‍යතා බොහොමයක් ඇති වීමට ඉඩ ඇත. එවිට එම නව්‍යතා 'ඉජ්තිහාද්' යට ලක් කර 'ෂරී ආ' වට ගැලපෙන පරිදි එම නම්‍යතා පිළිබඳ තීන්දු ලබා ගත හැක.

★ **බරකත්** :-

ඉස්ලාමීය ආර්ථික ක්‍රමය 'වහී' පදනම් කරගෙන නිර්මාණය වී ඇත. ලෝ වැසියන් සියලු දෙනාට ම ගැලපෙන ආර්ථික ක්‍රමයක් ලෙස මෙය සැකසී ඇත. නියත වශයෙන්ම මෙය අනුගමනය කිරීමෙන් අල්ලාහ්ගේ ආනිසංස, දයාව හා බරකත් නම් වූ වර්ධනය නොඅඩු ව ලැබෙනු ඇත.

වෙනස් මත එකිනෙකට විරුද්ධ වීම ස්වාභාවික වේ. ධනවාදී ආර්ථික දර්ශනය හා සමාජවාදී ආර්ථික දර්ශනය එකිනෙකට විරුද්ධ වන්නේ ද මේ නිසා ය. ඉස්ලාමීය ආර්ථික දර්ශනය මේ දෙකට ම වෙනස් වන නිසා ධනවාදී හා සමාජවාදි ආර්ථික දර්ශනයන් ඉස්ලාමීය ආර්ථික දර්ශනයට විරුද්ධ වේ. මුස්ලිම්වරු වන අප ඉස්ලාමීය ආර්ථික දර්ශනය අප පෞද්ගලික හා සාමාජීය ජීවිතයේ දී පිළිබිඹු කිරීම හා එහි වටිනාකම ලෝ වැසියන් හට ගෙනහැර දැක්වීම අපගේ වගකීමකි.මෙසේ කිරීමෙන් අපට පරලොවේ දී මෙන් ම මෙලොව දී ද ජයග්‍රහණය ලබා ගත හැක.

**අභ්‍යාස**

පහත දැක්වෙන ප්‍රශ්නවලට පිළිතුරු ලියන්න.

01. ඉස්ලාමීය ආර්ථිකයේ මූලික සංකල්ප වර්ග කළ හැක්කේ කෙසේ ද?

02. ඉස්ලාමීය ආර්ථිකය සමාජවාදී හා ධනවාදී ආර්ථික ක්‍රමවලින් වෙනස් වන්නේ කෙසේද ?

03. ඉස්ලාමීය ආර්ථිකයේ වැදගත්කම පිළිබඳ විස්තර කරන්න.

**ක්‍රියාකාරකම්**

"ලෝ වැස්සන් මුහුණදෙන වර්තමාන ආර්ථික ගැටලුවලට ඉස්ලාමීය ප්‍රතිපත්ති තුළින් විසඳුම් ලබා ගත හැකි ය" යන මාතෘකාව යටතේ රචනාවක් ලියන්න.

22

# ඉපයීමේ වැදගත්කම

මිනිසා තම ජීවිතයට අවශ්‍ය දේපල රැස් කිරීම ඉස්ලාමීය දෘෂ්ටි කෝණයෙන් වැදගත් තැනක් ගනියි. තම අවශ්‍යතා තමාට ම සපුරා ගත හැකි ය. වෙනත් කෙනකුගෙන් යැපීම ඉස්ලාමීය දැක්මට අනුව පහත් ක්‍රියාවකි.

එක් වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා  යම් පුද්ගලයකුගේ වැදගත් ලක්ෂණ කිහිපයක් ඉදිරිපත් කළේ ය. එවිට ම සහාබාවරුන් කිහිපදෙනෙක් ''අල්ලාහ්ගේ දූතයාණෙනි, ඔහු අප සමග දිගු දුරක් ගමන් කළේ ය. අපි එක්තරා තැනක නවාතැන් ගත්තෙමු. ඔහු නැවත ගමන ආරම්භ කරන තෙක් සලාතයේ යෙදී සිටියේ ය. ගමනාරම්භයේ සිට නැවත නවාතැන් ගන්නා තෙක් දික්ර් කරමින් සිටියේ ය.'' යැයි කීවෝ ය. "ඔහු ගමන් කළ ඔටුවාට කෑම සපයා ඔහුට ආහාර පිළියෙළ කළේ කවු ද?" යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඇසුවේ ය. එවිට "අපි ඔක්කෝම" යැයි පිළිතුරු දුන්නෝ ය. "එසේ නම් ඔබ ඔහුට වඩා වැදගත් අය වෙති." යැයි කීවේ ය. (අදබුද් දූන්යා වද්දීන් - ඉමාම් මාවර්දී) මෙම සිද්ධිය අන් අයගෙන් යැපෙන පුද්ගලයින්ට වඩා තම ඉපයීමෙන් ජීවත් වන පුද්ගලයින් ශ්‍රේෂ්ඨ බව සාක්ෂි දරයි.

අල්ලාහ්ගේ උතුම් ම නිර්මාණය මිනිසා ය. ඔහු අනුන්ගේ ඉපයීම මත යැපෙන විට ඔහුගේ ගෞරවය අඩු වෙයි. සිඟමන් යැදීම පිළිබඳ ව ඉස්ලාම් තරයේ අවවාද කරනුයේ මේ නිසා ය.




නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා "කෙනෙක් නොකඩවා සිඟමන් යැදීමේ නිරත වෙයි නම් කියමා දවසේ ඔහු මුහුණේ මස් පිඬු නොමැති ව එන්නේ ය." යැයි පැවසුවේ ය. (බුහාරි මුස්ලිම්)

එක් වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා  නොකඩවා වැඩ කිරිම නිසා රළු වී ඇති කම්කරුවකුගේ අත බොහෝ වේලාවක් අල්ලා ගෙන සිටියේ ය. මෙම සිද්ධිය දුටු අය විමතියට පත් වූ විට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ''නිශ්චිතව ම අල්ලාහ්

ඊමානය ඇති කම්කරුවා (රැකියාවක් කරන පුද්ගලයා) ට ඇලුම් කරයි'' යැයි පැවසුවේ ය. (තබරානි)

**ඉපයීම ඉස්ලාමයට අනුව විවිධ හේතු මත වැදගත් වේ.**

**01. ඉපයීම අල්ලාහ්ගේ ආනිශංස (දායාද) ලබා ගැනීමට දරන වෑයමකි.**

මිනිසාගේ ජීවිතයට අවශ්‍ය සියලු දේ මෙම මහ පොළවෙහි තබා ඇත. මේ ගැන අල්ලාහ් මෙසේ පවසයි.

''(මිනිසුනේ) නියත වශයෙන් ම අපි මෙම මහ පොළවේ ඔබට සියලු පහසුකම් ලබා දී ඔබට ජීවත් වීමට අවශ්‍ය සියලු සාධක බිහි කර ඇත්තෙමු.

(ඒ නමුත්) ඔබ තුති පුද කරන්නේ ඉතාමත් අල්ප වශයෙනි.''(7:10)

"අපි භූමිය දිග හැර එහි නොසෙල්වෙන කඳු බිහි කළෙමු. සියලුම තෘණ වර්ග (ඒවාට) සුදුසු පරිදි පැල කළෙමු. ඔබලාට සහ ඔබ ආහාර දී ඇති දෑඩ් නොකරන අහසේ සහ පොළවේ ජීවත් වන ජීවීන්ටත් ජීවත් වීමට අවශ්‍ය දේ අපි ම එහි බිහි කළෙමු." (15:19:-20)

මේ ලෙස අල්ලාහ් මිනිසා වෙනුවෙන් මැවූ මහ පොළොව මත විසිරී ඇති ජීවත් වීමට මිනිසාට අවශ්‍ය දෑ අල්ලාහ්ගේ දයාද වෙයි. ඒවා ලබා ගැනීමට මිනිසා උත්සාහ කළොත් මිස ඒවා මිනිසා වෙත නො එයි. එම නිසා ඒවා සොයා යන ලෙස මිනිසාට උපදෙස් දෙයි. අල් කුර්ආනය ''මහ පොළොව ඔබට (ජීවත් වීමට) පහසු ලෙස සකසා දුන්නේ ඔහු යි. එම නිසා සෑම දිශාවකටම ගොස් ඔහු ලබා දී ඇති දයාද භුක්ති විඳින්න.'' (67:15)

''(ජුම්ආ) සලාතයෙන් පසු භූමියේ විසිර ගොස් අල්ලාහ්ගේ දයාද සොයා ලබා ගන්න" (62:10)

මේ අනුව ඉපයීම යනු අල්ලාහ් ගේ ආනිශංස (දයාද) සොයා යන උත්සාහයකි.

**2. ඉපයීම මුස්ලිම් කෙනකුගේ අනිවාර්ය ක්‍රියාවකි.**

★ මෙදෙස දෙයාකාරයකට බැලිය හැකි ය.

කුමක් හෝ නොමැති ව අනිවාර්ය ක්‍රියාවක් සම්පූර්ණ නොවේ ද එය ඉටු කිරීම ද අනිවාර්ය ක්‍රියාවක් යන ඉස්ලාමීය ෂරීආ නීතිය අනුව, ඉස්ලාම් අනිවාර්ය කර ඇති වගකීම් වලින් සමහරක් ඔවුන්ගේ (ධනය) දේපල හා සම්බන්ධ වේ. උදා:- සකාත්, හජ්, පවුල් නඩත්තු කිරීම වැනි දේ ඉටු කිරීමට දේපල ධනය අවශ්‍ය නිසා ඒවා සෙවීම ද අනිවාර්ය වෙයි.

ෆික්හ් ක්ෂේත්‍රයේ විද්වතුන් අල්ලාහ්ගේ නියෝග (වගකීම්) අනිවාර්ය ක්‍රියා හඳුන්වන බවට විශ්වාස කරයි. මොවුන්ගේ විශ්ලේෂණය අනුව ''අල්ලාහ්ගේ ආනිසංස (දයාද) සොයාගොස්

ලබාගන්න'' (62:10) යන දේව නියෝගය ඉපයීම (වගකීමක්) අනිවාර්ය ක්‍රියාවක් බවට පත් කරයි.

**03. ඉපයීම ඉස්ලාමයේ එක් යාඥාවකි.**

මුස්ලිම්වරයෙකු ඉස්ලාමීය මග පෙන්වීමට අනුව ඕනෑම ක්‍රියාවක් කිරීම යාඥාවක් වනු ඇත. එම නිසා ඉපයීම ද මෙම මග පෙන්වීමට අනුව කිරීමේ දී යාඥාවක් වනු ඇත. ඒ අනුව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා

''යම් කෙනෙක් හලාල් වූ ඉපයීමක යෙදී වෙහෙස වූ තත්ත්වයෙන් රාත්‍රිය ගත කරන්නේ ද ඔහුගේ පව් සියල්ලට ම සමාව ලැබෙනු ඇත". යැයි පැවසීය (ඉබ්නුමාජා)

ඉස්ලාම් ඉපයීම ද යාඥාවක් ලෙස සලකන නිසා රැකියාවල නියුතු (උපයන) අයට ප්‍රධාන සලාතවල කුඩා සූරා පාරායනය කිරීමට අවකාශ ලබා දී ඇත.

අල් කුර්ආනය මෙසේ පවසයි.

''එම නිසා (ඔබ රාත්‍රියේ සලාත ඉටු කළොත් ) කුර්ආනය හැකිතාක් දුරට පාරායනය කරන්න. ඔබ අතර ගිලන් වූවන් සිටිය හැකි බවත් තවත් සමහරකු අල්ලාහ්ගේ ආනිසංස නොහොත් ධනය සෙවීමට පොළවේ සෑම දිශාවකට ම (කොටසකට ම) යාමට සිදුවිය හැකි නිසාත් තවත් සමහරකු අල්ලාහ්ගේ මාර්ගයේ සටන් වැදීමට යාමට සිදුවිය හැකි බවත් ඔහු මනාව දැන සිටියි. ඒ නිසා ඔබගේ (නිදහස් කාලයට ගැලපෙන අවකාශ ලැබෙන පරිදි අඩුවෙන් හෝ වැඩියෙන්) ඔබට පහසු ප්‍රමාණයක් පාරායනය කරන්න'' (73:20)

ඉපයීම යාඥාවක් ලෙස සැලකීමට නම් ඉස්ලාමයේ අනුගමනය කළ යුතු ක්‍රියා මෙසේ ය.

01. පිරිසිදු චේතනාව
02. මූලික වතාවත්වලට පටහැනි නොවීම
03. ෂරීආ නීති කඩ නොවීම

## ඉපයීමට අදාළ ෂරිආ නීති රීති

**01. හරාම් වූ දෑ අඩංගු භාණ්ඩයක් නොවිය යුතු ය.**
(උදා:- මද්‍යසාර, ඌරුමස්, සොරකම් කරන ලද භාණ්ඩ)

**02. හරාම් වූ ක්‍රියා මඟින් ලබා ගත් දෙයක් නොවිය යුතු ය.**
(උදා:- සොරකම, පොළිය හා අල්ලස්)

**03. ජනතාවට හිරිහැරයක් හෝ රැවටීමක් වන දෙයක් නොවිය යුතු ය.**
(උදා:- සඟවා තැබීම, මිශ්‍ර කිරීම, පොරොන්දු කඩ කිරීම වැනි දේ හැර)

**04. පොදු නීති උල්ලංඝනය කිරීමේ ක්‍රියාවක් නොවිය යුතුය.**
(උදා:- කළු කඩ, භාණ්ඩ පැන්නීම)

**05. යහපත් සාරධර්මවලට පටහැනි නොවිය යුතු ය.**
(උදා:- බොරු, තණ්හාව, වංචා, ආත්මාර්ථකාමීත්වය)

මේ දක්වා අධ්‍යයනය කළ කරුණු තුළින් ඉස්ලාම්, ඉපයීමට ලබා දී ඇති ප්‍රමුඛත්වය අවබෝධ කර ගත්තෙමු. නමුත් සමහරෙක් රැකියාවක් නොකර නිරුත්සාහයෙන් නිකරුණේ කාලය ගත කරමින් සිටිනවා දැකිය හැක. මෙලෙස සිටීමට හේතු තුනක් ඉමාම් මාවර්ති තුමා පෙන්වා දෙයි.

**01. කම්මැලිකම :-**

ඉස්ලාම් කම්මැලිකම පිළිකුල් කරයි. කම්මැලියා සෑම විට ම දුප්පත් කමින් පෙළෙන පුද්ගලයකු වශයෙන් සිටියි. මෙය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පිළිකුල් කළ අතර කම්මැලිකමෙන් ආරක්ෂා වීම සඳහා අල්ලාහ් ගෙන් මේ ප්‍රාර්ථනා කළේ ය.



''යා අල්ලාහ් ! කම්මැලිකමෙන් සහ නොහැකියාවෙන් මා බේරා දෙනු මැන.''

එමෙන් ම එතුමන් තම උම්මත් (අනුගාමිකයින්) අලුයම අවදි වී ක්‍රියාශීලි ව කටයුතු කළ යුතු ය යන්න සඳහා ''යා අල්ලාහ් මගේ උම්මත් (අනුගාමිකයින්) ට නුඹ අලුයම් කාලයේ දී බරකත් කරනු මැන.'' ලෙස ප්‍රාර්ථනා කළේ ය. ඒ නිසා කම්මැලිකම හේතුවෙන් උපයන්නේ (රැකියාවක් කරන්නේ) නැතිව සිටීම ඉස්ලාමයට පටහැනි වේ.

**02. තවක්කුල් පිළිබඳ වූ වැරදි මතය**

තවක්කුල් යනු අල්ලාහ් පිළිගන්නා ඊමානය හා සම්බන්ධ ක්‍රියාවකි. අප පූර්ණ උත්සාහයෙන් යම් ක්‍රියාවක නිරත වී එහි අවසාන ප්‍රතිඵලය අල්ලාහ් වෙත පැවරීම තවක්කුල් නම් වෙයි. එහෙත් සමහරු මෙය වැරදි ලෙස වටහා ගෙන ඉපයීමට උත්සාහ නොකර අල්ලාහ් වෙත පවරති. මෙය ඔවුන් තවක්කුල් ලෙස අවබෝධ කරගෙන සිටියත්. මෙය ඉස්ලාමය පිළිගත් ක්‍රියාව නොවේ.

**03. අල්පේච්ඡ පැවතුම් හා ලද දෙයින් තෘප්තිමත් වීම:-**

සමහරු ලෞකික ආශා වලට බියෙන් අධික ලෙස ඉපයීමෙන් වැළකී සිටිති. තමන්ට ලැබෙන සුළු ආදායම ප්‍රමාණවත් යැයි තෘප්තිමත් වෙති. මෙය ඉස්ලාම් ධර්මය පිළිගත් දෙයකි.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසුවා යැයි අබුදර්ද රළියල්ලාහු අන්හු ප්‍රකාශ කරයි. "සෑම දිනක ම සූර්යයා උදාවීමත් සමග මලායිකාවරු දෙදෙනකු සූර්යයාගේ දෙපැත්තේ හිඳ ආමන්ත්‍රණය කරති. මිනිසුන් හා ජින්වරු හැර අනෙකුත් සියලු දෑ එය ශ්‍රවණය කරයි."

''මිනිසුනි ඔබගේ අල්ලාහ් වෙත යන්න. අධික ව ලැබී රැවටීමට ලක් වනවාට වඩා අල්ප ව ලැබී එයින් හිත තෘප්තිමත් වීම යහපත් වේ''.

ඉස්ලාමීය ඉතිහාසය තුළ සහාබාවරු තම ධනය හා වස්තුව තුළින් අධික ලෙස යහපත් ප්‍රතිඵල රැසක් අත් කර ගත්හ. අබුබක්කර් රළියල්ලාහු අන්හු, කදීජා රළියල්ලාහු අන්හා, උස්මාන් රළියල්ලාහු අන්හු අබ්දුර් රහ්මාන් බින් අවුෆ් රළියල්ලාහු අන්හු යන අය ඒ සඳහා කදිම නිදසුන් ය.

මේ පිරිස කරන පින් දහම් දුටු අනෙකුත් සහාබාවරු නබිතුමා වෙත ගොස් 'අල්ලාහ්ගේ දූතයාණනි! ධනවතුන් අප අභිබවා යති යනුවෙන් පැමිණිලි කළෝ ය. එනිසා අපි ඉස්ලාමීය මග පෙන්වීම් උගෙන උත්සාහවන්තව උපයා යහමගෙහි වියදම් කරමු.

**අභ්‍යාස**

01. ඉස්ලාමයේ ඉපයීම වැදගත් වීමට හේතු වූ කරුණු පැහැදිලි කරන්න.

02. ඉපයීම යාඥාවක් බවට පත්වීමට නම් අනුගමනය කළ යුතු ඉස්ලාමීය මග පෙන්වීම් මොනවාද ?

03. ඉපයීමේ දී අවධානය යොමු කළ යුතු ෂරිආ නීති රීති මොනවා ද?

04. ජනතාව ඉපයීමට උත්සුක නොවීමට හේතු ලෙස ඉමාම් මාවර්ත්ති සඳහන් කරන කරුණු මොනවා ද?

23

# ඉපයීම I

පෙර පාඩමේ ඉස්ලාමය ඉපයීමට දෙන වැදගත්කම ගැන බැලුවෙමු. දැන් අප ඉපැයීමට දරන වෑයම් ගැන සොයා බලමු. මිනිසාට උපයාගෙන ජීවත් වීමට අල්ලාහ් විසින් බොහෝ මාර්ග සලසා දී තිබේ. ඒවා ප්‍රයෝජනයට ගැනීමට විවිධ වූ දැනුම් සම්භාරයක් ද මිනිසාට ලබා දී ඇත. ඒවා උපයෝගී කරගෙන තම අවශ්‍යතා ඉටු කර ගැනීම මිනිසාගේ යුතුකම වෙයි. මේ අනුව මිනිසා සොයා ගත් රැකියා අවස්ථා බහුල ව ඇත. ඒවායින් මූලික කරුණු කීපයක් පමණක් පහත විස්තර කර ඇත්තෙමු.

## කෘෂිකර්මය



මෙය ඉතා පැරණි මූලික ඉපයීම් ක්‍රමයකි. මෙහි කොටස් දෙකක් ඇත.

1. ශාක ආහාර ලබා ගැනීම සඳහා වූ බෝග වගාව.
2. මාංශ ආහාර ලබා ගැනීම සඳහා වූ සත්ත්ව පාලනය

මේ දෙආකාරය ම අල්ලාහ් විසින් අනුමත කළ ඉපැයීම් ක්‍රම යනුවෙන් අල් - කුර්ආනය සඳහන් කරයි.

"තව ද මැස්සක් උඩ දළුලන වැල් වර්ග ද, පඳුරු වැනි දැවලින් යුතු විවිධ වතු

සහ රට ඉඳි වගාවන් ද විවිධ වර්ගයේ ආහාර වර්ග ලබා දිය හැකි බෝග වර්ග මෙන් ම (පෙනුමෙන් එක සමාන වූ නමුත් (රසින්) විවිධ වූ ඔලිව් වර්ග දෙළුම් වර්ග වැනි පළතුරු) ලබා දුන්නේ අල්ලාහ් ම ය. (6:141)"

"(එළුවන්, ගවයන්, ඔටුවන්) වැනි බර පටවාගෙන යා හැකි විශාල සිවුපාවුන් ද කුඩා සිව්පාවන් ද (බිහි කළේ අල්ලාහ් ය) අල්ලාහ් සපයා ඇති මේවායින් ඔබට අනුභවයට සුදුසු ඒවා තෝරා ගෙන ඔබ අනුභව කරන්න. (6:142)"

හදීස් (මූලාශ්‍රය පදනම් කරගෙන) මෙලොව මුල් ම මිනිසා වන නබි ආදම් අලෛහිස්සලාම් තුමා විසින් මේ දෙආකාරයේ ම කෘෂිකර්මාන්ත මෙලොවට හඳුන්වා දුන් බව දක්නට ලැබේ. ඔහුගේ දරුවන් දෙදෙනාගෙන් එක් දරුවකු 'ආබිල්' බෝග වගා කිරීම විශේෂිත රැකියාවක් වශයෙන් කරන ලද අතර දෙවනි දරුවා වන "කාබිල්" සතුන් ඇති කිරීම තමාගේ විශේෂ රැකියාවක් වශයෙන් කර ඇත. මේ අනුව මුල් සමාජයේ ගොවීන් ලෙසත්, එඬේරු ලෙසත් කොටස් දෙකක් දක්නට ලැබුණි.

අල්ලාහ් මිනිසාට මෙම රැකියා දෙකෙන්ම ජීවත් වීම සඳහා සරු බිම් සහ තෘණ භූමි ස්වාභාවික ව බිහි කර ඇත්තේ ය. මෙය අල් කුර්ආනයේ පහත අයුරින් සඳහන් වේ.

'' සියලු ම මැවීම් වලට ජීවත් වීමට පහසු වන අයුරින් භූමිය සකසා ඇත්තේ ය. එහි විවිධ වර්ග වල පලතුරු ද පල බර වූ රට ඉඳි ගස් ද වැවෙයි. ධාන්‍ය වර්ග මෙන් ම කුළු බඩු නිපදවන පැළෑටි ද වැවෙයි.'' (55:10:12)

"ඔහු විසින් සතුන් උදෙසා තණ බිම් බිහි කළේ ය. (87:04)"

බෝග වගාව සහ සත්ත්ව පාලනය මිනිසාගෙන් ගිලිහී නොයාම සඳහා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මෙසේ අවධාරණය කොට ඇත.

- ⋆ අයිතිවාසිකම් නොමැති ඉඩමක් යම් කෙනෙක් උපයෝගී කොට දියුණු කළොත් එම ඉඩමට අයිතිවාසිකම් කීමට ඔහු සුදුස්සෙක් වේ. (බුහාරි)

- ⋆ කෙනකුට ඉඩමක් තිබේ නම් ඔහු එහි වගා කළ යුතු ය. නොඑසේ නම් ඔහුගේ සහෝදරයකුට පිනට දිය යුතු ය. (බුහාරි)

⋆ යමෙක් ගසක් සිටුවා එය ඵල දෙන තෙක් ඉවසීමෙන් රැකබලා සිටියේ ද එම ගසෙන් කවුරු ඵල ප්‍රයෝජන ලැබුව ද එය ඔහු දුන් දනයක් ලෙස අල්ලාහ් සලකයි. (අහ්මද්)

ඉහත සඳහන් හදීස් මගින් ද කෛබර් යුද්ධයේ ජයග්‍රහණයෙන් ලැබූ කෘෂිකාර්මික ඉඩම් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා විසින් කෘෂි කර්මාන්තයේ නිරත වන්නන්ට බෙදා දීම මගින් ද කෘෂිකර්මාන්තයේ වැදගත්කම හා අවශ්‍යතාව විදහා දක්වයි.

මේ අනුව මුඩුබිම් වල වගා කිරීම, කෘෂිකර්මය, හවුල් ව්‍යාපාර, බද්දට දීම වැනි මාතෘකා යටතේ හදීස් ගොනු කර තිබීමත් ෆික්හු ග්‍රන්ථ වල කෘෂි කර්මාන්තය සම්බන්ධයෙන් නීති ගොනු කර තිබීමත් කෘෂි කාර්මික අංශය තුළ මුස්ලිම්වරුන්ගේ දායකත්වය විදහා දක්වයි.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මදීනාවට හිජ්රත් ගිය අවස්ථාවේ මදීනා වැසියන් රට ඉඳි ගස් අතර පරාගනය සිදුකර ඵලදාව වැඩි කිරීමට දැරූ උත්සාහය නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා අනුමත කළහ. මෙය කෘෂි කර්මික තාක්ෂණයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා දුන් දිරිගැන්වීමක් ලෙස සැලකිය හැකි .

එළුවන් ඇති කිරීමේ ක්‍රියාව පිළිබඳ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා නිතර පවසා,''අල්ලාහ් විසින් යවන ලද සියලු නබිවරු එළුවන් ඇති කිරීමේ කාර්යයෙහි යෙදී සිටියෝ ය,'' යැයි පැවසූ විට ''අල්ලාහ්ගේ දූතයාණනි, ඔබත් එසේ ද යැයි සහාබිවරු, විමසුවෝ ය. ''ඔව් මක්කා වැසියන් එළුවන් ඇති කළ පිටියේ මමත් එළුවන් රැක බලා ගත්තෙමි, යැයි නබි තුමා පැවසුවේ ය. (බුහාරි)

අද ජනගහනය අධික බැවින් බෝග වගාව හා සත්ත්ව පාලනය නවීන තාක්ෂණයට අනුව නවීකරණය කර ඇත. අඩු බිම් ප්‍රමාණයක කෙටි කලක් තුළ දී වැඩි ප්‍රතිලාභ ලබා ගැනීමට හැකිවන පරිදි එම තාක්‍ෂණික ක්‍රම දියුණු වී ඇත. මෙවැනි රැකියාවල නිරත වීමට අදහස් කරන අය එම කර්මාන්ත පිළිබඳ හොඳින් උගෙන අවශ්‍ය තාක්ෂණික උපදෙස් වෘත්තීය විශේෂඥයන්ගෙන් ලබා ගෙන තම ආර්ථිකය දියුණු කිරීමට උත්සාහ දැරීම ඉස්ලාම් හි ප්‍රශංසනීය කරුණක් වේ.

## කර්මාන්ත

කර්මාන්ත යනුවෙන් අදහස් කරන්නේ මිනිසා තම දැනුම හා හැකියාව උපයෝගී කරගෙන යම් අමු ද්‍රව්‍යයක් යොදා තමන්ට අවශ්‍ය නිමි භාණ්ඩයක් නිෂ්පාදනය කිරීම ය. විවිධ වූ කර්මාන්ත වර්ග ඇත. මෙයින් ඉතාමත් ම පැරණි කර්මාන්ත ලෙස පේෂ කර්මාන්තය හා වඩු කර්මාන්තය සැලකිය හැක.

මේ පිළිබඳ ඉමාම් ඉබ්නු කල්දූන් පවසන ආකාරයට, ඉද්රීස් අලෛහිස්සලාම් තුමා පේෂ කර්මාන්තය හඳුන්වා දුන් බව ප්‍රකට කරුණකි. එතුමාට පසු පැමිණි නූහ් නබි තුමා ගැන සඳහන් කරන විට එතුමාගේ නැව දැව හා ඇණ භාවිතයෙන් නිපදවා තිබුණි. මෙමගින් නූහ් නබි තුමා වඩු කර්මාන්තයේ නියැලී සිටි බවට අල් කුර්ආනයේ සූරතුල් කමර්හි 13 වන වැකියේ සඳහන් වේ. (මුකද්දිමා).

පසු කාලීනව නබි සකරියා අලෛහිස්සලාම් තුමා වඩු කර්මාන්තයේ නියැලී සිටි බව සහීහ් මුස්ලිම් ග්‍රන්ථයේ ඇතුළත් හදීසයක සඳහන් වෙයි.

කර්මාන්ත ක්ෂේත්‍රයේ ලෝහ කර්මාන්තය ඉතා වැදගත් වේ. බොහෝ භාණ්ඩ නිෂ්පාදනයේ දී එය අමු ද්‍රව්‍යයක් ලෙස භාවිත වේ. ලෝහවල වැදගත්කම හා එය යොදා

නිම් භාණ්ඩ නිෂ්පාදනය කිරීමේ තාක්ෂණික දැනුම අල්ලාහ් විසින් දවූද් අලෛහිස්සලාම් තුමාට පිරිනැමූ බව අල් කුර්ආනයේ සඳහන් වෙයි.

යකඩ අපි ම පහළ කළෙමු. එහි ප්‍රබල ශක්තියක් ද මිනිසාට ප්‍රයෝජන රාශියක් ද තිබේ.(57:25)

දවූද් අලෛහිස්සලාම් තුමාට යකඩ මෘදු කර දුන්නෙමු. පූර්ණ වැසුම් නිෂ්පාදනය කරනු. ඒවායේ පරිමාණය නිර්ණය කරනු මැනවි. (34:10-11)

යකඩ භාවිත කර විශාල බිත්ති බැඳීම සහ අමුණු නිර්මාණය කිරීමේ කාර්යයෙහි "දුල්කර්නෛන්" රජ සෙන්පතියා යෙදී සිටි බව සූරා අල් කහ්ෆ් හි සඳහන් වෙයි. (94:96)

ක්‍රි.ව. 18 වන සියවසෙහි ඇති වූ කාර්මික විප්ලවය නිසා නව තාක්ෂණය යොදා නව නිර්මාණ බිහි විය. මේ සියල්ල අල්ලාහ්ගේ නිර්මාණයක් වන මිනිසා විසින් තම අවශ්‍යතාවන් ඉටු කර ගැනීම සඳහා තම දැනුම උපයෝගී කර ගැනීමෙන් වූ විපර්යාසයකි. මේ අනුව මහ පොළොවේ විවිධ සම්පත් උපයෝගී කර ගෙන නිෂ්පාදනය කිරීමට ඥානය සහ හැකියාව ලබා දුන් අල්ලාහ්ට ම, තුති පුද කළ යුතු ය.



කර්මාන්ත මහා පරිමාණ කර්මාන්ත සහ කුඩා කර්මාන්ත (ගෘහ කර්මාන්ත,) යනුවෙන් වර්ග දෙකකි. මහා පරිමාණ කර්මාන්තවලට විශාල ප්‍රාග්ධනයක් හා විශාල මිනිස් ශ්‍රමයක් ද අවශ්‍ය වේ. කුඩා කර්මාන්ත වල දී සුළු මුදලක් හා තම ශ්‍රමය පමණක් වුවද යොදා නිපැයුම් කළ හැකි ය. ඇඳුම් මැසීම, ආහාර නිෂ්පාදනය, යන්ත්‍ර සූත්‍ර අලුත්වැඩියාව, පොත් බැඳීම, මුද්‍රණ වැඩ, හා අත්කම් නිපැයුම් සුළු කර්මාන්ත සඳහා නිදසුන් ලෙස සඳහන් කළ හැකි ය.

මෙම කර්මාන්ත ද කෘෂි කර්මාන්තය මෙන් ම වැදගත් රැකියාවකි. එක් වරක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගෙන් උසස් ම රැකියාව කුමක් දැයි විමසූ විට එතුමා පැවැසුවේ කර්මාන්ත සහ බොරුවෙන් තොර වෙළෙඳාම බවයි. (අහමද්)

තවත් අවස්ථාවක ''කෙනෙක් තම අත් දෙකෙන් උපයා අනුභව කරන ආහාරයට වඩා හොඳ ආහාරයක් නොමැත ඇත්ත වශයෙන් ම අල්ලාහ්ගේ දූතයකු වන දාවූද් අලෛහිස්සලාම් තුමා තම අත් දෙකෙන් උපයාගෙන අනුභව කළේ ය. (බුහාරි)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ කාලයේ පුරුෂයින් මෙන් ම ස්ත්‍රීහු ද කර්මාන්ත කර ජීවත් වූහ. නිදසුනක් වශයෙන් "උම්මහාතුල් මුඃමිනීන්" වරුන්ගෙන් කෙනකු වන සෛනබ් බින්ත් ජහස් රළියල්ලාහු අන්හු තුමිය දැල් වියා ජීවත් වූවා ය.

කුමන රැකියාවන් කළ ද එහි හලාල් - හරාම් තිබීම සාමාන්‍ය දෙයකි. එම නිසා මුස්ලිම් බැතිමතුන් වන අප, අපගේ රැකියාව ඉස්ලාමීය ෂරිආ නීතියට අනුගත වී ඒ අනුව කිරීම අත්‍යවශ්‍යය.

කර්මාන්ත ක්ෂේත්‍රයේ වර්ධනයට රුකුලක් වන්නේ ඒ ඒ අවස්ථාවේ දී සොයාගනු ලබන නව සොයා ගැනීම් වේ. එම නිසා අපි නව මං පෙත් වලින් සිතා අපගේ නව හැකියාවන් වැඩි කිරීමට උත්සාහ කරමු. අල්ලාහ්ගේ දයාව සොයා ලබා ගැනීමට අප උත්සාහ කිරීමේ දී විවිධ වූ මාර්ග අපට පාද දෙන්නේ ය.

ලෝකය එහි ජීවත් වන සියලු මිනිසුන්ට පොදු වූවකි. මෙහි දී උත්සාහවන්තයා තම උත්සාහයේ ප්‍රතිඵල නෙළා ගනී. ඉස්ලාමීය රටාව තුළ ක්‍රියා කරන පුද්ගලයා තම උත්සාහයේ ප්‍රතිඵල පරලොව දී හිමි කර ගනියි.

**අභ්‍යාසය**

01. කෘෂිකර්මාන්තයේ කොටස් දෙක පවසන්න.

02. මෙම කොටස් දෙක පිළිබඳ ව ඇති අල් කුර්ආන් හා අල් හදීස් මූලාශ්‍රය වෙන් වෙන් ව ලැයිස්තුගත කරන්න.

03. මුස්ලිම්වරු කර්මාන්ත ක්ෂේත්‍රයේ නිරත විය යුතු ය යන්න ඉස්ලාම් අවධාරණය කරන්නේ කෙසේ ද?

24

# ඉපයීම II

## වෙළෙඳාම

එක්තරා භාණ්ඩයක හෝ දේපලක අයිතිය ලබා ගෙන තවත් කෙනකුට එහි අයිතිය ලබා දීම වෙළෙඳාම වෙයි. කෘෂි කාර්මික නිෂ්පාදන හෝ වෙනත් යම් කර්මාන්තයක නිෂ්පාදන ජනතාව අතට පත් වන්නේ වෙළෙඳාම මගිනි. ඒ අනුව වෙළෙන්දා, නිෂ්පාදකයා සහ පාරිභෝගිකයා අතර සිටින අතරමැදියෙකි. එම නිසා වෙළෙඳාම ඉස්ලාම් අනුමත කළ අතර එම සේවාව අගය කර ඇත.

'විශ්වසනීය වෙළෙන්දෝ (පරලොව දී) නබිවරුන් සමග සිටිති.'(තිර්මිදි)



වෙළෙඳාම යනු සංකීර්ණ ඉපැයීම් ක්‍රමයකි. සමහරු වෙළෙඳම හා පොළිය වෙන් කර හඳුනා ගැනීමට නොහැකි ව පසුතැවිලි වෙති. තවත් සමහරු වෙළෙඳාම, හලාල් වීම සඳහා අනුගමනය කළ යුතු කොන්දේසි ගැන නොතකා ලාභ ලැබීමේ චේතනාවෙන් ම පමණක් නිදහසේ වෙළෙඳාමෙහි යෙදී සිටිති. එම නිසා සංකීර්ණ ආර්ථික ක්‍රමය තුළ උපදින ගැටලු අල් කුර්ආනය සහ සුන්නාව උපයෝගී කරගෙන නිරාකරණය කරමින් ඒ සඳහා අනුගමනය කළ හැකි හලාල් වූ ක්‍රියා පිළිවෙත් හා ඉස්ලාමීය නීති රීති පිළිබඳ ව විද්වත්හු පැහැදිලි කර ඇත. මුස්ලිම් ව්‍යාපාරිකයකු මේවා සියල්ල දැන වෙළෙඳාම් කිරීම අනිවාර්ය (ෆර්ලු) වෙයි.

උමර් රළියල්ලාහු අන්හු තුමා වෙළෙඳපොළට ගොස් වෙළෙඳාම සම්බන්ධ වූ නීති රීති පිළිබඳ ව නිසි අවබෝධයක් නොමැති අය වෙළෙඳාම් කිරීම තහනම් යැයි කීවේ ය. මක් නිසා ද යත් එවැන්නන් ගේ වෙළෙඳාම තුළ දැනුවත් ව හෝ නොදැනුවත් ව පොළිය අන්තර්ගත විය හැකි යැයි එතුමන් අවවාද කළේ ය.

ඉස්ලාමීය දැක්මට අනුව, වෙළෙඳාමක් අනුමත වීමට මූලික කරුණු කිහිපයක් හා කොන්දේසි කිහිපයක් සම්පූර්ණ විය යුතු ය.

**වෙළෙඳාමෙහි මූලික කරුණුඃ-**

1. ගැනුම්කරු – විකුණුම්කරු
2. වෙළෙඳ භාණ්ඩ
3. ඊජාබ් - කබූල්

**ගැනුම්කරු- විකුණුම්කරු**

1. නිසි වයසට පැමිණි අයෙකු විය යුතු ය.
2. සිහි බුද්ධියක් ඇති කෙනෙකු විය යුතු ය.
3. වෙළෙඳාම පිළිබඳ මනා දැනුමක් ඇත්තෙකු විය යුතු ය.

**වෙළෙඳ භාණ්ඩ**

1. විකුණුම්කරුට අයිති විය යුතු ය.
2. ගැනුම්කරුට භාරදිය හැකි තත්ත්වයක තිබිය යුතු ය.
3. අත්පිට තිබිය යුතු ය.
4. ඉස්ලාමීය ෂරීආවට අනුව පිරිසිදු හා ප්‍රයෝජනවත් භාණ්ඩයක් විය යුතු ය.

**ඊජාබ් - කබූල්**

ඊජාබ් යනු විකුණන්නා තමා විකුණූ භාණ්ඩය විකුණූ බවටත් කබූල් යනු මිල දී ගන්නා තමා එය තෘප්තිමත් ව පිළිගන්නා බවත් ප්‍රකාශ වීම ය. මෙය වාචික ව හෝ ලිඛිත ව හෝ දැනට ක්‍රියාත්මක වන වෙනත් ක්‍රමයකට හෝ සිදු විය හැක.

**වෙළෙඳ ගනු දෙනුවේ දී තහනම් කළ දේ**

1. අනවශ්‍ය දිවුරීම
2. කිරුම් මිනුම් වංචා
3. සැඟවීම
4. අධික මිළ තැබීම
5. මිශ්‍ර කිරීම
6. බොරු කීම
7. රැවටීම
8. පොදු නීතිරීති උල්ලංඝනය කිරීම

වෙළෙඳාමේ දී විකුණන්නා සහ මිල දී ගන්නා ඉහත දැක්වෙන ඉස්ලාමීය සිද්ධාන්ත අනුගමනය කර වෙළෙඳාමේ යෙදීමෙන් විවිධ ප්‍රයෝජන ලබා ගත හැකි ය. ඒ අතුරින් සමහරක් පහත දැක්වේ.

1. ඔවුන්ගේ ගනුදෙනු ක්‍රියාවලිය නැමදුමක් බවට පත් වේ.
2. මිල දී ගන්නා සහ විකුණන්නා අතර සුහදතාවයක් ඇති වෙයි.
3. වෙළෙඳමේ ස්ථාවරත්වයක් ඇති වෙයි.
4. අනවශ්‍ය දෝෂාරෝපණ වලින් ආරක්ෂාව ලැබේ.
5. හරාම් වන ගනුදෙනු වලින් මිදිය හැකි ය.

එම නිසා වෙළෙඳාම් කටයුතුවල දී ඉස්ලාමීය සීමාවන් තුළ එම කටයුතු කිරීමෙන් දෙලොවට ම ප්‍රයෝජන වන් අන්දමට ක්‍රියා කරමු.

## සේවාවන්

ඉපැයීමට දරන උත්සාහයන් අතර සේවා සැපයීම ද එකකි. කෙනකු තවත් කෙනකුට සේවාවක් ලබා දී ඒ සඳහා වැටුපක් ලබා ගැනීම සේවා තත්ත්වයේ රැකියාවක් යැයි කියනු ලැබේ. සේවකයාගේ දැනුම, හැකියාව, කාලය, ශ්‍රමය, ආදිය ඔහුගේ ධනය වේ. එක් සේවා වෘත්තිකයකු තමාගේ දැනුම හැකියාවට අදළ විවිධ සේවාවන් ලබා දී එයට උචිත වේතනයක් ලබා ගැනීම ඉස්ලාමය පිළිගත් සිද්ධාන්තයකි.
සේවා සපයන රැකියා කොටස් දෙකකට වර්ග කළ හැක.

(අ) බුද්ධිය සම්බන්ධ (ගුරු වෘත්තිය, ලිපිකාර වෘත්තිය)
(ආ) කායික ශ්‍රමය (සුලු සේවකයන්, කම්කරුවන්, ආරක්‍ෂක සේවා)

මේවායින් අධික පිළිගැනීමක් හා වැටුපක් ලබා දෙන සේවාවන් හා එසේ නොමැති සේවාවන් වශයෙන් සමාජීය බෙදීමක් පවතින නමුත් ඉස්ලාම් මගින් කෙනකු කරන රැකියාව අනුව ඔහුගේ තත්ත්වය මැන බලන්නේ නැත. කරන රැකියාව කුමක් වුවත් එම රැකියාවට සහ එහි නිරත වන පුද්ගලයාට ඉස්ලාම් හි පූර්ණ පිළිගැනීමක් ඇත. එම නිසා

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා "ඔබලාගෙන් කෙනකු තමා සතුව ඇති ලණුවක් රැගෙන ගොස් දර රැස් කර එකට බැඳ එම දරමිටි තම කර මත තබා රැගෙන විත් විකිණීම ජනතාවගෙන් සිගා කෑමට වඩා ශ්‍රේෂ්ඨ වේ" යැයි පැවසී ය.

ඉස්ලාමීය දැක්මට අනුව එක් එක් පුද්ගලයා අල්ලාහ් තආලාගෙන් විශේෂ හැකියාවන් ලබා ඇති කෙනෙක් වේ. ඔහු තම හැකියාව හඳුනාගෙන එයට අදාළ රැකියාව කිරීම වැදගත් ය. කීර්තිය, වැටුප යන දේ සඳහා තමාට නොහැකි නුසුදුසු රැකියාවක් කිරීම ඉස්ලාමය කිසිවිටක පිළිගන්නේ නැත. අබූදර් අල් කිෆාරි රළියල්ලාහු අන්හු තුමා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වෙත පැමිණ "අල්ලාහ්ගේ දූතයාණනි ! මා යම් තනතුරකට පත් නොකරන්නේ ද?"යනුවෙන් විමසුවේ ය. එයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තම හස්තයෙන් ඔහුගේ උරහිසට තට්ටු කර අබූදර් ඔබ දුබල පුද්ගලයෙකි තනතුරක් යනු අති විශාල වගකීමකි. තනතුරට සුදුසු පුද්ගලයා එය ලබාගෙන එහි රාජකාරි ඉටු නොකළොත් එලොවේ දී දුක සහ පසුතැවිල්ලට එය හේතුවක් (මුස්ලිම්) වේ.

තවදුරටත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා "විනිශ්චයකරුවන් වර්ග තුනක් ඇත. ඔවුන්ගෙන් එක් පිරිසක් ස්වර්ගයේ ද තවත් පිරිසක් නිරයේ ද සිටිති. ස්වර්ග යේ සිටිනා අය කවරකු ද යත් සත්‍යය යථාර්ථය අවබෝධ කරගෙන ඒ අනුව තීන්දු ලබා දුන්නවුන් වෙති. සත්‍ය වටහාගෙන එයට පටහැනි ව විරුද්ධ තීන්දු ලබාදුන් අය හා අවබෝධයකින් තොරව තීන්දු ලබාදුන් අය නිරයේ සිටිති" යැයි කීවේ ය. (තිර්මිදි)
අල්ලාහ් තම ගැත්තන්ගෙන් බොහෝ දෙනකුට එකිනෙකට වෙනස් වූ දක්ෂතා හා කුසලතා ලබා දී ඇත. ඔවුන් තමන්ට ගැළපෙන ඉපයීම් ක්‍රමය සොයා ඒවා ළඟා කර ගැනීම ප්‍රශංසනීය කරුණක් වේ. එසේ නොමැතිනම් ඔවුන් අල්ලාහ් විසින් ලබා දුන් ආනිශංස (දයාද) අපයෝජනයට ලක් කළ අය ලෙස සැලකේ.

සේවා වෘත්තිය නවීන ලෝකයේ ව්‍යාප්ත වී ඇත. රටක ආර්ථික සංවර්ධනයට මෙම අයගේ දායකත්වය ඉතා වැදගත් වෙයි. සේවා වෘත්තින් හි සිටින සෑම කෙනකුම කවදත් ගෞරවයට ලක් විය යුතු ය. ඔවුන්ගේ සේවාව අවතක්සේරු නොකර නියමිත සේවාවට නියමිත වැටුප උචිත වෙලාවේ ම පිරිනැමිය යුතු ය. සේවකයාගේ ඩහදිය වියළීමට පෙර ඔහුගේ වැටුප ගෙවීම අනිවාර්ය බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අවවාද කළේ ය.

සේවක අයිතිවාසිකම්වලට ඉස්ලාම් මුල්තැන දෙනවා සේම ඔහුගේ සේවාව පිළිබඳව ද අවධාරණය කරයි. තමා ලබාගන්නා වැටුපට සරිලන හා ඒ සඳහා වූ ගිවිසුමකට යටත් ව සේවය ලබා දීම ඔහු සතු වගකීමකි. පහත සඳහන් අල් කුර්ආන් වැකිය මෙය තහවුරු කරන්නේ ය. කිරුම් මිනුම් වල දී වංචා කරන අය විනාශ යි. ඔවුන් ජනතාවගෙන් ගන්නා විට වැඩියෙන් කිරන අතර දෙන විට අඩුවෙන් කිරා දෙයි. අන් අය පාඩුවට ලක් කරයි. (83:1.2.3)

ව්‍යාපාරයට සෘජු ව සම්බන්ධ වන අල් කුර්ආන් වැකි සේවා ක්ෂේත්‍රයට ද බලපානු ඇත. අධික වැටුපක් බලාපොරොත්තු වන සේවකයා තම සේවාවේ අඩුවක් කළහොත්

ඔහු අල්ලාහ්ගේ සාපයට ලක්වෙයි. එම නිසා සියලු ම සේවා එම විශ්වාසයෙන් යුතු ව කළ යුතු යි. ඒ තුළින් තමාගේ සේවාව යහපත් පුණ්‍ය කටයුත්තක් බවට පත්කර ගැනීමේ අවකාශය ලැබෙනු ඇත.

**අභ්‍යාස**

01. වෙළෙඳාමේ මූලික කරුණු හා ඒවායේ කොන්දේසි සඳහන් කරන්න

02. වෙළෙඳ ගනුදෙනු වල දී තහනම් කරන ලද දේ කුමක් ද?

03. වෙළෙඳාමේ දී ඉස්ලාමීය මග පෙන්වීම අනුගමනය කිරීමෙන් ලැබෙන කුසල් ලැයිස්තු ගත කරන්න.

## 25



# අජ්නබී - මහ්රමී සීමාවන් අනුගමනය කරමු



මිනිසාට හුදෙකලාවේ ජීවත්වීම අපහසු ය. සමාජීය ජීවිතයට මිනිසා වඩාත් නැඹුරු ය. හුදෙකලාවේ ජීවත් වන විට ඉස්ලාම් පවරා ඇති අනිවාර්ය ක්‍රියාවන් කිසිවක් ඔහුට කළ නොහැකිය. සමාජයේ වගකීමක් වන ෆර්ලු කිෆායා තනි ව අනුගමනය කිරීම අපහසු ය. එම නිසා අනිවාර්යයෙන් ම සමාජය සමග ජීවත් වීම සහ ඥාති සබඳතා වර්ධනය කිරීම අවශ්‍ය වේ. මෙසේ සමාජය සමග ජීවත් වීමේ දී හා සමාජ සබඳතා ශක්තිමත් කිරීමේ දී අනුගමනය කළ යුතු සීමාව නිර්ණය කිරීමට අජ්නබී මහ්රමී නීති රීති අවශ්‍ය වේ.

ප්‍රථමයෙන් මහ්රම් යන වචනය අවධානය යොමු කරමු. මෙම වචනය ව්‍යවහාරයේ දී "හරාම්" යන තේරුම ගෙන දෙයි. පවුලේ නෑකම හේතුවෙන් හෝ වෙනත් යම් හේතුවක් නිසා හෝ ස්ත්‍රියකට විවාහ කර ගැනීමට තහනම් වූ පුරුෂයා පිළිබඳ ව හා පුරුෂයාට විවාහ කරගැනීම තහනම් වූ ස්ත්‍රීය හැඳින්වීමට මෙම වචනය භාවිත කෙරේ. පහත සඳහන් ලේඛනයේ පිරිමින්හට විවාහ කිරීමට නුසුදුසු ස්ත්‍රීහු වෙති. මේ සඳහා (මහ්රමී) යන වචනය භාවිතා වේ. මේ අයගේ විරුද්ධ පාර්ශවය ස්ත්‍රීන් හට මහ්රමී වෙයි.

**පවුල් නෑකම**

- ⋆ මව, මවගේ මව.
- ⋆ දුව, දුවගේ දූවරුන්, පුතාගේ දූවරුන්.
- ⋆ සහෝදරිය,
- ⋆ මවගේ හා පියාගේ වෙනත් විවාහ මගින් බිහි වූ ගැහැණු දරුවන්.
- ⋆ පියාගේ සහෝදරිය.
- ⋆ මවගේ සහෝදරිය.
- ⋆ සහෝදරයාගේ දුව.
- ⋆ මවගේ හා පියාගේ වෙනත් විවාහයකින් බිහි වූ පිරිමි දරුවන්ගේ දූවරුන්.
- ⋆ සහෝදරියගේ දුව.
- ⋆ මවගේ හෝ පියාගේ වෙනත් විවාහයකින් බිහි වූ ගැහැණු දරුවන්ගේ දූවරුන්.

**කිරි නෑකම**

- ★ කිරි පෙවූ මව, ඇයගේ මවුවරුන්, පියාගේ මව.
- ★ කිරි නෑකමේ දුව, දුවගේ දුව, පුතාගේ දුව.
- ★ කිරිනෑකමේ සහෝදරිය, මවු පාර්ශවයේ සහෝදරිය, පිය පාර්ශවයේ සහෝදරිය.
- ★ කිරි පෙවූ මවගේ සහෝදරිය.
- ★ කිරි නෑකමේ පියාගේ සහෝදරිය.
- ★ කිරි නෑකමේ සහෝදරයාගේ දුව.
- ★ කිරි නෑකමේ සහෝදරියගේ දුව.

**විවාහක නෑකම්**

- ★ භාර්යාවගේ මව
- ★ භාර්යාවගේ දුව
- ★ පුතාගේ භාර්යාව
- ★ පියාගේ භාර්යාව

ඉහත සඳහන් "මහ්රම්" යන ලේඛනයේ ඇතුළත් නොවූ අය "අජ්නබි" යන ගණයට අයත් වෙයි. අජ්නබි යන වචනය දුර නෑකම, නවකයා, නෑකමක් නැති කෙනා, සම්බන්ධයක් නොමැති කෙනා වැනි විවිධ තේරුම් දරයි.

දැන් අප විවාහ වීමට අනුමත කළ අජ්නබි වූ අය පිරිමි සමග ආශ්‍රය කිරීමේ දී අනුගමනය කළ යුතු කරුණු පිළිබඳ අවධානය යොමු කරමු.

01. පහත බැලීම :- (බැල්ම පාලනය කර ගැනීම)

ශරීරයේ අව්රතයට අයත් කොටස් දෙස බැලීම හෝ කාමාශාවෙන් බැලීම හේතුවක් හෝ අවශ්‍යතාවක් හෝ නොමැති ව නොකඩවා බැලීම යන ඒවායින් වැළකී සිටීම.
**තිදෙනකුගේ ඇස් අපාය නොදකී. එනම් ;**

- ▪ අල්ලාහ්ගේ යහ මගට නිදි මැරූ ඇස්.
- ▪ අල්ලාහ්ගේ බිය බැතියෙන් හැඬූ ඇස්.
- ▪ අල්ලාහ් විසින් තහනම් කළ දෙය නොබැලූ ඇස්.

02. කාන්තාව අව්රතය සම්පූර්ණයෙන් ම වැසෙන පරිදි හා ගරුත්වය රැකෙන පරිදි ඇඳුම් ඇඳීම.

03. ඇවිදීම, ඇඳුම් ඇඳීම, හැසිරීම හා කථා කිරීම වැනි සියලු කරුණු ඉස්ලාමීය චාරිත්‍රයට අනුව පිළිපැදීම.

04. පිරිමින්ගේ හැඟීම් ඇවිස්සෙන ක්‍රියාවල නොයෙදීම :සුවඳ විලවුන් ආලේපනය, ඉමහත් ලෙස අලංකාර වූ ඇඳුම් ඇඳීම වැනි ක්‍රියා නිවසට පමණක් සීමා කිරීම. මාර්ගයේ ගමන් කරන විට සමාජය පරිහානියට පත් වන අන්දමට හැසිරීමෙන් වැළකී සිටිය යුතු ය.

05. අජ්නබි වූ ස්ත්‍රී - පුරුෂ යුගලය හුදෙකලා වීමට ඇති අවස්ථා සීමා කළ යුතු යි. ඔබගෙන් (පිරිමි) කෙනෙක් වෙනත් කාන්තාවක සමග හුදකලාවේ සිටි විට එම දෙදෙනා සමග තුන්වැන්නා වශයෙන් ෂෙයිතාන් සිටින්නේ ය. (බස්සාර්)

06. සමාජ යහපත සහ අවශ්‍යතා වෙනුවෙන් පමණක් ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වය ම හමු වන අවස්ථා සංවිධානය කළ යුතු වේ. ස්ත්‍රිය ඇගේ දුරස් කරන, ඇය අපකීර්තියට පත් කරන, ඇගේ මූලික කර්තව්‍යවලින් ඇය ඈත් කරන ආකාරයේ ක්‍රියා (ඇගේ ස්වාභාවික ස්වරූපයෙන්) ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වය පමණක් නොව මුළු මහත් සමාජය ම විනාශය කරා යොමු කරවයි.

අපේ යහපත සඳහා ඉස්ලාම් අපට පනවා ඇති සීමාවන් අනුගමනය කර ඥතිත්වය පණ ගැන්විය යුතු ය. එම නිසා මනා සබැඳියාවක් ඇති විය හැකි ය.

**අභ්‍යාස**

01. ස්ත්‍රී පුරුෂ දෙපාර්ශ්වය සාකච්ඡා කිරීමේ දී අනුගමනය කළ යුතු නීති රීති මොනවා ද? මෙය අනුගමනය නොකිරීමෙන් සමාජයට වන හානිය සඳහන් කරන්න.

02. සීමා රහිත ස්ත්‍රී - පුරුෂ සම්බන්ධතා නිසා සිදු වූ හානි තුනක් පිළිබඳ පුවත්පත් වල පළ වූ පුවත් පදනම් කර ගනිමින් විස්තර කරන්න.

03. මහ්රමී අජ්නබී යන සංකල්ප දෙක අතර ඇති වෙනස්කම් පැහැදිලි කරන්න.

26

# මානව අයිතිවාසිකම්

ඉස්ලාම් මිනිස් ජීවිතයේ සියලු අංශවලට මග පෙන්වන ආගමකි. ඒ තුළින් මිනිසාගේ පෞද්ගලික, පවුල්, සමාජ ජීවිතයේ යහපත පිළිබඳ සියලු අංශවලට අවශ්‍ය නීති රීති සම්පාදනය වී ඇත.

මිනිසා මිනිසකු ලෙස ජීවත් වීමට වගකීම් අවශ්‍ය වනවා සේ ම අයිතිවාසිකම් ද අවශ්‍ය ය. අල්ලාහ්ගේ විශේෂිත මැවීමක් වන නිසා සියලු මිනිසුන් එක සමාන අයිති වාසිකම් ඇත්තෝ වෙති. කුමන කාලයක කුමන පරිසරයක ජීවත් වන කෙනෙකු වුව ද ඔහුගේ රට, ජාතිය, දේශපාලනය, සමාජ ආර්ථික අධ්‍යාපනික පසුබිම කුමක් වුව ද ආර්ථික ක්‍රමය කුමක් වුව වගකීම් සහ අයිතිවාසිකම් සියලු දෙනාටම පොදු වේ. ඒවා ලබා දෙන්නේ සර්වබලධාරියා වන අල්ලාහ් විසිනි. මක් නිසා ද යත් සියලු දෙනාට ම පොදුවේ සමානාත්මතාවෙන්, අපක්ෂපාතීව වගකීම් සහ අයිතිවාසිකම් පෙන්වා දිය හැක්කේ. (ඔහුට පමණි)

එම නිසා ඉස්ලාම් මානව අයිතිවාසිකම් අල් කුර්ආනය සහ සුන්නාව තුළින් ලබා ගන්නේ ය. අල්ලාහ් මිනිසාට අයිතිවාසිකම් ලබා දෙන්නේ උපතේ දීම ය. එම නිසා කිසිවෙකුට එය කිසිවකුට වැළැක්විය නොහැකිය, පැහැර ගත නොහැකිය, දූෂණය කළ නොහැකිය, එසේ කිරීමට සිතන අය මහත් ද්‍රෝහියෝ වෙති. තව ද ඔවුහු අල්ලහ්ගේ දඬුවමට ලක් වෙති.



අල්ලාහ් ලබා දුන් අයිතිවාසිකම් මිනිසා සකස් කළ අයිතිවාසිකම් මෙන් බල රහිත ඒවා නොවේ. මිනිසා සකස් කළ අයිතීන් කලින් කලට ස්ථානයෙන් ස්ථානයට වෙනස් වෙයි. ලබා දෙන බවට මවා පෙන්වමින් උදුරා ගනු ලබන, එසේම ලේඛනයකට පමණක් සීමා වූ, ක්‍රියාවට නොනැගෙන (රාජ්‍ය බලයෙන් හෝ වෙනයම් ක්‍රමයකට අවලංගු වන) ඒවා වේ. මෙම ක්‍රියා නිසා මිනිස් සමාජය අපහසුතාවට පත් වෙයි. එක්තරා කාලයක එක් ප්‍රදේශයක ජීවත් වන ජනතාව භුක්ති විඳින දේ අන් ජනතාවට හෝ ප්‍රදේශයට අහිමි වෙයි.

නවීන ලෝකය ලබා දුන් අයිතීන් තුළ මෙවැනි විවිධ අඩු පාඩු දක්නට ලැබේ. මේවා සකස් කළ බටහිර ලෝකය ඒ පිළිබඳ මූලික කතිකාවතක් ගොඩනැගීමට සියවස් හයකට පෙර ඉස්ලාමය මානව අයිතිවාසිකම් ප්‍රකාශයට පත් කොට ඇත.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මදීනාවට හිජ්රත් ගිය අලුත එහි ජීවත් වූ ජනතාව සමග ගිවිසුමකට එළඹුණේ ය. මෙය මදීනා සම්මුතිය නමින් හැඳින්වේ.

මෙයට සියවස් හයකට පසු ක්‍රි. ව 1215 දී මහා සම්මුතිය, "මක්නා කාර්ටා" (Magna carta), යන නමින් එංගලන්තයේ ජෝන් රජතුමා සහ ජනතාව අතර ගිවිසුමක් තිබුණි. පසු කාලීන ව එය විවිධ සංශෝධනයන්ට ලක් විය.

එනමුත් ඉස්ලාම් ඉදිරිපත් කළ අයිතීන් ස්ථාවර විය. මිනිස් ක්‍රියාකාරකම්වලට යෝග්‍යය විය. නොකඩා ක්‍රියාත්මක වීම, කාහටවත් උදුරා ගැනීමට නොහැකි වීම වැනි ගුණාංග ඇතුළත් විය. මේවා ලබා දීමට එරෙහි වන්නේ නම් එය පවක් වන අතර නීති විරෝධී හා දඬුවම් ලැබිය හැකි වරදක් ද වේ.

මේ ගැන නීතිපති ආචාර්ය සී. වී වීරමන්ත්‍රි මහතා අතින් රචිත "ඉස්ලාමීය නීතිය හා ජාත්‍යන්තර දැක්ම" යන ග්‍රන්ථයේ අලුත් දෘෂ්ටි කෝණයකින් විස්තර කෙරෙයි. වත්මන් ජාත්‍යන්තර සම්මුතින් කිසිවක් ගැන නොසලකා ඉස්ලාමීය නීතිය පමණක් විමර්ශනය කර ඒවායේ අන්තර්ගත මානව අයිතිවාසිකම් පිළිබඳ නීති රීති හා කරුණු උපුටා ගැනීමෙන් ම පමණක් වුව ද "ජාත්‍යන්තර ඉස්ලාමීය මානව අයිතිවාසිකම්" ලෙස සම්මුතියක් සකස් කළ හැකි ය. මෙවැනි සම්මුතියක් සකස් කිරීමෙන් වත්මන් මානව අයිතිවාසිකම් ප්‍රඥප්ති හා ඉස්ලාමීය මානව අයිතිවාසිකම් අතර සමානකම් ඇති බව පසක් වනු ඇත.

## ඉස්ලාම් පිළිගැන්වූ මානව අයිතිවාසිකම් කිහිපයක්

### 01. ජීවත් වීමේ අයිතිය

මනුෂ්‍ය ප්‍රාණය ඉතා අගනේ ය. එය ආරක්ෂා කළ යුතුය. එම නිසා සෑම කෙනෙකුම කිසි ම බාධාවකින් තොර ව ජීවත් වීමේ අයිතිය ලබා සිටියි.

අල්ලාහ් උතුම් කළ ප්‍රාණය නිසි විභාගයකින් තොර ව මරන්න එපා" (6:151) යනුවෙන් ද

"කවරෙක් (අසාධාරණ ලෙස) ප්‍රාණ ඝාතනය කළේ ද ඔහු සියලු ම මිනිසුන් ඝාතනය කළා හා සමාන ය. එසේම කෙනෙක් යම් ප්‍රාණයක් ජීවත් කළේ ද ඔහු සියලු ම මිනිසුන් ජීවත් කළා හා සමානයි" (5:32) යැයි අල්කුර්ආන් පවසයි.

**02. සමානාත්මතා අයිතිය**

සියලු මිනිසුන් නීතිය ඉදිරියේ සමාන වේ. ජාතිය, ස්ථානය, පාට, හැඩරුව වැනි දෙයින් වෙන් කළ නොහැකි ය.

'මිනිසුනි, ඔබගේ අල්ලාහ් පරම වේ. දැන ගන්න අරාබිවරුන් අරාබි නොවන අයට වඩා ද සුදු ජාතීන් කළු ජාතීන්ට වඩා ද උසස් අය නොවේ. දේව බිය බැතිය තුළින් පමණක් ඔබලා උසස් පුද්ගලයින් ලෙස සලකනු ලැබේ' යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසුවේ ය.

**03. පෞද්ගලික නිදහසේ අයිතිය**

"වර්ග තුනක් වන මිනිසුන්ට විරුද්ධ ව මම කියාමා දිනයේ වාද කරමි. ඉන් එක් පිරිසක් මිනිසුන් වහලුන් බවට පත් කර ඔවුන් විකුණා එම මුදලින් ජීවත් වන අය," (බුහාරි) ඉස්ලාම්, වහල් භාවයෙන් මිනිසුන් මිද වීමට නිදහස් කිරීම ට) පොළඹවීම් කරයි.

'ඉස්ලාමය තුළ බල කිරීම් නැත, (මක්නිසාද යත්) නොමග සිට යහමග පැහැදිලිව ඇත' (2:256) යනුවෙන්
අල් කුර්ආනයේ සඳහන් වීම මිනිසකුට තමා කැමති ආගමක් ඇදහිය හැකි ආගමික නිදහස පිළිබඳ ව ඇති නිදසුනකි.

**04. නීතියේ පිහිට ලබා ගැනීමේ අයිතිය**

සෑම මිනිසකුට ම නීතිය ඉදිරියේ සමාන සැලකුම් ලැබීමටත් සාධාරණය ඉටු කර ගැනීමටත් අයිතිය ඇත.

'විශ්වාසවන්තයිනි අල්ලාහ් වෙනුවෙන් (සාධාරණව) සත්‍යය සාක්ෂි පවසන පුද්ගලයින් ම වන්න, එක් පාර්ශවයකට ඔබේ ඇති වෛරය නිසා ඔවුන්ට අසාධාරණයක් කිරීමට ඔබව පොළඹවීමක් නොසිදු විය යුතුය.(කොපමණ ක්‍රෝධය/වෛරය තිබුණ ද) නීතිය ක්‍රියාත්මක කරන්න. එය පාරිශුද්ධත්වයට ඉතා ආසන්න වූ තත්ත්වයකි. (5:8)

'මගේ දියණිය ෆාතිමා සොරකම් කළත් ඇගේ අත කැපීමට පසුබට වෙන්නේ නැත,' යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා ඇත.

**05. ගෞරවය ආරක්ෂා කරගැනීමේ අයිතිය.**

සියලු දෙනාට ම තමන්ගේ තත්ත්වය හා ගෞරවය හානි වන ක්‍රියා මෙන් ම පදනම් විරහිත චෝදනාවලින් ආරක්ෂා වීමේ අයිතිය අල් කුර්ආනය තරයේ ප්‍රකාශ කර

තිබේ.

'විශ්වාසවන්තයිනි ! බොහෝ සැකවලින් ඔබ දුරස් වන්න. ඇයි ද නම් සැක ඒවා සමහරක් පව් පිරෙන ක්‍රියා ය. කාගේ හෝ වරදක් ඔබ පුලපුලා විභාග කරන්න එපා. කේලම් කියන්න එපා.' (49:12)

**06. දේපළ ආරක්ෂා කිරීමේ අයිතිය.**

සෑම පුද්ගලයකුටම ජීවිතයේ මූලික අවශ්‍යතා ලබා ගැනීමේ අයිතිය ලබා දී ඇත.

පිරිමින් රැස් කළ දේ පිරිමින්ට අයිති ය. එමෙන් ම ස්ත්‍රීන් රැස් කළ දේ ස්ත්‍රීන්ට හිමි වේ. (4:32)

**07. ආගමික හැඟීම්වලට ආරක්ෂාව ලබා දීමේ අයිතිය.**

'විශ්වාසවන්තයිනි ! අල්ලාහ් නොවන කුමක් ඔවුන් (දෙවියන් යැයි) පිළිගන්නේ ද ඒවාට ඔබ බණින්න එපා. එයින් ඔවුන් නොදැනුවත් කමින් අසීමිත ලෙස අල්ලාහ්ට බැන වදීවී. මෙසේ සියලු වර්ගවලට අදාළ පිරිසට ඔවුන්ගේ කාර්යය අලංකෘත කොට ඇත්තෙමු. පසුව ඔවුන් තම දෙවියන් වෙතම යන්නෝ ය. ඔවුන් කළ දේ පිළිබඳ ව ඔහු ඔවුන්ට පහද දෙනු ඇත."(6:108)

මෙහි දී ඉස්ලාම් ලබා දී ඇති මානව අයිතිවාසිකම් කිහිපයක් පමණක් හඳුනා ගත්තෙමු. ඉස්ලාමයේ මානව අයිතිවාසිකම් යන කොටස ඉතා පුළුල් වේ. තනි මිනිසාගේ සිට සමාජ ජීවිතයේ සියලුම අංශ පිළිබඳ අන්තර්ගත කොට ඒවා විග්‍රහ කර ඇත. මේ පිළිබඳ ඉහළ ශ්‍රේණිවල දී ඔබට ඉගෙන ගත හැකි ය.

**අභ්‍යාස**

01. වගකීම, අයිතිවාසිකම යන දෙක වෙන් කර පෙන්වන්න.

02. මානව අයිතිවාසිකම් අල්ලාහ් විසින් සකස් කොට තිබීමට හේතු දක්වන්න.

03. මිනිසා විසින් සකසන ලද අයිතීන් දුබල වන්නේ ඇයි ?

04. මානව අයිතිවාසිකම් දෙකක් සඳහන් කර ඒවායේ ලක්ෂණ පිළිබඳ සඳහන් කරන්න.

05. ඉස්ලාම් පෙන්වා දී ඇති මානව අයිතිවාසිකම් දෙකක් සඳහන් කර ඒවායේ වැදගත්කම පැහැදිලි කරන්න.



# 27

# යෞවනය හා කාර්ය භාර්ය



මිනිසාගේ ජීවිතයේ යෞවන අවධිය වැදගත් කාලයකි. ළදරු වියෙන් පසු ආරම්භ වන මෙම යෞවන වයස අවුරුදු දෙළහ සිට විස්ස දක්වා දිවෙයි. මෙම කාලය තුළ ඇති වන ශාරීරික වර්ධනය සහ මානසික වර්ධනය යමකුගේ ජීවිතය තුළ විශාල වෙනසක් ඇති කරයි. එම නිසා මෙම කාලයේ දී වඩාත් පරිස්සමින් යහපත් ව සහ බුද්ධියෙන් කටයුතු කිරීමෙන් අනාගතය යහපත් කර ගත හැකි ය.

අද තරුණ විය ගත කිරීම සම්බන්ධ පර්යේෂණ සහ උපදෙස් බහුල ව ලැබෙයි. මනුෂ්‍ය ජීවිතය සාර්ථක කිරීමට පැමිණි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තරුණ විය පිළිබඳ ව සවිස්තර ව පැහැදිලි කොට ඇත.
'මහලු වියට පැමිණීමට පෙර තරුණ විය ප්‍රයෝජනයට ගනු.' (හාකිම්) යන හදීසය ප්‍රධාන වේ.

මනුෂ්‍ය ජීවිතයේ දී ශරීර ශක්තිය, කාලය සමාජයේ සහයෝගය, දක්ෂතා දියුණු කිරීමේ අවස්ථා බාධාවකින් තොර ව බහුල ව ලැබෙන්නේ මෙම යෞවන අවධියේදී ය. මේ අනගි අවස්ථාව යෞවනයන් ප්‍රයෝජනයට ගත යුතු වෙයි. කියාමත් දිනයේ අසන ප්‍රශ්න හතරෙන් එකක් වන්නේ ඔබගේ තරුණ කාලය කෙසේ ගත කළේ ද යනුවෙන් වේ. කිසි ම සෙවණක් නැති "මහ්ෂර්" පිටියේ අර්ෂ් සෙවණේ නැවතී සිටීමට අවස්ථාව ලැබෙන කාණ්ඩ හතෙන් එක් කාණ්ඩයක් වන්නේ තරුණ වියේ යාඥා කළ අය වෙති. එම කාණ්ඩයට අප ද ඇතුළත් විය යුතු නම් තරුණ විය ඉතා ම යහපත් ව ගත කළ යුතු ය.

ඉස්ලාමයේ වර්ධනය ගැන බැලූ විට එහි තරුණයන්ගේ කැපවීම බහුලව තිබුණි. " ෂිර්ක්" හි ගිලී සිටි සමාජය "තව්හිද්" දෙසට මග පෙන්වීමේදී නබි ඉබ්‍රාහිම් අලෛහිස්සලාම් තුමා ගේ කැපවීම කදිම නිදසුනකි. මෙතුමා තම තරුණ වියේ දී තමා ජීවත් වූ සමාජයට යහපත් දේශනා පැවැත් වූ ඉතිහාසය පිළිබඳ සූරා "බකරාහි" සඳහන් කර ඇත.

නබි යූසුෆ් අලෛහිස්සලාම් තරුණ කාලයේ ලිංගිකව පාරිශුද්ධ ව සිටි ආකාරය සූරා 'යූසුෆ්හි' පැහැදිලි කර ඇත. (23:29)

මරියම් අලෛහිස්සලාම් තුමිය ලිංගික පාරිශුද්ධත්වය ආරක්ෂා කළ ආකාරය සූරා "මරියම්"හි සඳහන් වේ. (16:20)

සමාජය වහල් භාවයෙන් නිදහස් කළ නබි මූසා අලෛහිස්සලාම් තුමාගේ ඉතිහාසය සූරා "අඃරාෆ්" හි සඳහන් වී ඇත. රාජ්‍ය කුමන්ත්‍රණවලින් තම ඊමානය ආරක්ෂා

කළ තරුණයන්ගේ ඉතිහාසය සූරා "කහ්ෆි" හි සඳහන් වී ඇත. (18:7-24)

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා නබිත්වයට පත් වීමට පෙර ආදර්ශවත් තරුණයකු වශයෙන් සිටි බව නබි තුමාගේ ඉතිහාසය "සීරා"හි සඳහන් වී ඇත. එතුමා තම තරුණ විය යෞවන මදයෙන් මිදී අකලංකව සිටීම නිසා ජනතාව අතර ප්‍රශංසාවට ලක් වූයේ ය. එතුමා යහපත් ගති ගුණවලින් පිරුණු යහපත් ක්‍රියාකාරකම්වලින් යුත්, සමාජයේ වැඩවලට ඇප කැප වූ ආදර්ශවත් ප්‍රසන්න වූ තරුණයෙකි.

එතුමා වයස 40 දී නබි වරයකු වශයෙන් තෝරා ගත් විට ඔහුගේ ගුණාංග ඔහුට ඉමහත් රුකුලක් විය. එතුමා පිළිබඳ විශ්වාස කළ අය ඇසුරු කළ අවට සිටි අය බොහෝ දෙනෙක් තරුණයෝ ය. අර්කම් රළියල්ලාහු අන්හු අලි රළියල්ලාහු අන්හු, මුස්අබ් රළියල්ලාහු අන්හු ජව්පර් රළියල්ලාහු අන්හු ඉබුනු අබ්බාස් රළියල්ලාහු අන්හු ඉබුනු උමර් රළියල්ලාහු අන්හු මුආත් රළියල්ලාහු අන්හු සඅද් බින් අබී වක්කාස් රළියල්ලාහු අන්හු වැනි බොහෝ දෙනෙක් තරුණයෝ ය. තරුණ වයසේ ම එම තරුණයන් පුරුදු පුහුණු කිරීම නිසා ඉස්ලාම් යන බලකොටුව රැක ගැනීමේ කුලුනු වශයෙන් ඔවුහු සිටියෝ ය. 'වයසක අය මාව බොරුකාරයකු ලෙස හැඳින්වුව ද තරුණයෝ මාව විශ්වාස කළහ.' යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ප්‍රකාශ කළේ ය.

එම තරුණයන්ගේ දක්නට ලැබුණ ඊමානයේ බලය, යහපත් සිතුම් පැතුම්, හැසිරීම් රටා, ඉලක්ක හඹා යෑම, අභියෝග වලට මුහුණ දීම, ප්‍රශ්නවල දී මුහුණ දීම, දැනුම් පිපාසය, පාලනය කළ ජීවිතය, උපයා ජීවත් වීම, කැප කිරීම යන යහපත් ගුණාංග ඉදිරි පරම්පරාවට ආදර්ශයක් විය.

මෙම තරුණයන් ආදර්ශයට ගෙන බිහි වූ ඊළඟ පරම්පරාවේ තරුණයන් විශාල සංඛ්‍යාවක දිගු ලේඛනයක් ඇත. නිර්භීත පාලකයකු වන උමර් ඉබුනු අබ්දුල් අසීස් රහ්මතුල්ලාහි අලෛහි, ස්පාඤ්ඤය ජයග්‍රහණය කළ තාරික් බින් සියාද්, සින්ද් ප්‍රදේශයේ ජයග්‍රහණය කළ මුහම්මද් බින් කාසිම්, කොන්ස්තන්තිනෝපලය ජයග්‍රහණය කළ මුහම්මද් අල් ෆාතිහ්, සහීහුල් බුහාරි ග්‍රන්ථ ගත කළ ඉමාම් බුහාරි, "උසූලුල්ෆික්හ්" නිර්මාතෘ ඉමාම් ෂාෆිඊ, අරාබි ව්‍යාකරණ කර්තෘ ඉමාම් ෂීබවෙහි තම තරුණ වියේ දී ම දස්කම් දැක්වීම අවධානය යොමු කළ යුතු කරුණකි.



තරුණකම අසිපතක් හා සමාන ය. එය යහපත් ක්‍රියාවන්ට උපයෝගී කර ගත හැකි අතර විනාශයට ද යොද ගත හැකි ය. මක් නිසාද යත් මෙම තරුණ විය ආකර්ෂණීය දේ වෙත ඇදී යයි. එද මෙන් ම අදත් තරුණයන් විනාශය කරා ගෙන යන මාර්ග බොහෝ ය. නූතන නාගරීකරණය යන නමින් ජයග්‍රහණ හා ක්‍රියාකාරකම් ලෙස එම මාර්ග විවෘතව ඇත. සැලසුම්ගත ව, ආකර්ෂණීය ලෙස ඒ කරා කැඳවීම් කෙරෙයි. විසිතුරු ලෙස අලංකාර හැඩයෙන්, ශාරීරික ආශාවන් පොළඹවන අයුරින්, විනෝද ක්‍රියාකාරකම් ලෙස හා, ධනය රැස් කරන මාර්ග ලෙස මෙවැනි දේ ඇත. මේවා තරුණ තරුණියන් විනාශය කරා රැගෙන යයි.

මෙම අවස්ථාවේ තාරුණ්‍යය ආරක්ෂා කිරීමේ වගකීම තරුණයන්ට පමණක් සීමා නොවෙයි. තරුණ කාලයේ දී ඇසුරු කරන  බොහෝ දෙනා තාරුණ්‍යය විනාශය කරා රැගෙන යයි. එම නිසා හොඳ මිතුරන් සහ ආදර්ශවත් චරිත (හීරෝ) හඳුනා ගැනීමේ අවශ්‍යතාව තරුණයන්ටත් පහද දීමේ යුතුකම සමාජයට පැවරී ඇත.

තරුණ තරුණියන් තම තරුණ කාලය අල්ලාහ්ගේ සංතෘප්තිය හා  ජනතාව ගේ කැමැත්ත ලැබෙන අයුරින් සකසා ගත යුතු ය. සුළු වින්දනයටත්, තාවකාලික සුඛ විහරණයටත් නොරැවටී තම තරුණ කාලය හොඳ දැක්මක් තුළ සැලසුම් සහගත ව ගෙවිය යුතු ය. මිනිසා ශාරීරිකව ද, දැනුම තුළින් ද, අධ්‍යාත්මය තුළින් ද, ක්‍රියාවේ යෙදී සිටියි. එම නිසා ඒවා සමතුලිත ව තබා ගත යුතු ය.

තරුණයන්ගේ සේවාව සාර්ථක කර ගැනීමට නම් පැහැදිලි ඉලක්කයක් හා සුපරීක්ෂාකාරී ක්‍රමවේද තුළින් දැඩි ව ඉපයීම් කළ යුතු ය. දූරදර්ශී ව ක්‍රියා කළ යුතු ය. පුළුල් දැනුම මනා විනය, සමාජ අභිමානය, පරිත්‍යාගශීලීභාවය හා යහපත් සම්බන්ධතා වැනි දේ ඇති කළ යුතු වෙයි. ව්‍යාජ ඒවා දැක නොරැවටෙන්න. නිශ්ඵල දේවල්වලට කාලය මිඩංගු නොකරන්න. නවීන තාක්ෂණික උපකරණ සීමා විරහිත ව උපයෝගී නොකරගන්න. යහපත් නිර්මාණශීලී ක්‍රියා ම මිස විනාශකාරී ක්‍රියා සැලසුම් කිරීම, සහභාගී වීම, උදව් උපකාර කිරීම වැනි දෙයින් වැලකී සිටින්න.

තරුණකාලය යහපත් මං කරා ගෙන යාමට උපකාරී වන්නේ ආගමික භක්තිය හා ආගමික සබැඳියාව ය.  තාරුණ්‍යය අයහපත් ක්‍රියාවලින් වැලැක්වීමේ දී දේව භක්තිය (තක්වා) ප්‍රථම ස්ථානය ගනී. ඒය වර්ධනය කර ගැනීම සඳහා ආධ්‍යාත්මික ක්‍රියාවල නිරත විය යුතු ය. දික්ර්, සලවාත්, තව්බා, ඉස්තිඃපාර්, තිලාවතුල් කුර්ආන්, සුන්නා වූ සලාත් වැනි ක්‍රියා වල දිනපතා යෙදීමට කාලය වෙන් කළ යුතු ය. කියවීම හා අධ්‍යයනය කිරීමට වැඩි කාලයක් වැය කළ යුතුයි. හොඳ සමාජයක් ආශ්‍රය කළ යුතුය. ඒ අයගේ "නසීහත්" උපදේශනය ලබා ගත යුතු ය. දිනපතා ශාරීරික ව්‍යායාමවල යෙදිය යුතු අතර පෝෂදායී ආහාරවලට මුල් තැන දිය යුතු ය. ප්‍රබෝධක පාන, සුඛෝපභෝගී ආහාර, අලංකාර ඇඳුම්, විනෝදංශ සීමා කළ යුතු ය. රටට සහ සමාජයට ප්‍රයෝජනවත් වෘත්තීය අධ්‍යාපනයක් සොයා ගත යුතු ය. අපට හුදෙකලාවේ ජීවත් වීමට නොහැකි ය. එකමුතු ව ජීවත් විය යුතු ය. ඒ සඳහා ඒකමතිකව ක්‍රියා කළ යුතු ය.

අල්ලාමා ඉක්බාල් තරුණයන් වෙනුවෙන් මෙසේ ගයන්නේ ය. සිතෙහි නැගෙන සෝසුසුම් තරුණයන්ට දනේවා! මගේ ආදරය හා දුර දක්නා නුවණ ඔවුනට ලබාදෙත්වා! අලුයම මා කරන කන්නලව්ව තරුණයන්ටද ලබා දෙත්වා! අල්ලාහ් ලාබාල රාජාලි පැටවුන්ට නැවත තටු දෙනුමැන! මාගේ එක ම චේතනාව ඔබ සියලු දෙනාටම මගේ දුර දක්නා නුවණ ලබා දීමයි.

එම නිසා තාරුණ්‍යය යහපත් කල් ක්‍රියාවන්ට යොමු කර හොඳ නමක් ලබා ගනිමු.

**අභ්‍යාස**

පහත සඳහන් ඒවා විස්තර කරන්න.

01. මහලු වියට පෙර තාරුණ්‍යය උපයෝගී කර ගන්න.

02. තමා නබි වශයෙන් ප්‍රකාශයට පත් කළ විට මුහම්මද් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ කුමන ආකාරයේ ගුණාංග ඔහුට සහාය වී ද ?

03. හොඳ මිතුරන් සහ හොඳ ඉදිරි දැක්මක් හඳුනා ගැනීමේ වගකීම සමාජයට ද ඇත.

04. 'නවීන තාක්‍ෂණ විද්‍යා උපකරණ සීමා සහිත ව ප්‍රයෝජනයට ගත යුතු යි.'

05. 'තාරුණ්‍යය අසිපතක් හා සමාන ය.'

28

# ශාරීරික හා මානසික යෝග්‍යතාව

## ශාරීරික යෝග්‍යතාව

මිනිසා සතු දයාදවලින් නිරෝගීභාවය වැදගත් තැනක් ගනී. 'දිනක් උදවත්ම නිරෝගී ශරීරයක්, ආරක්ෂිත නිවසක් හා එදිනට ප්‍රමාණවත් ආහාර සමග කෙනෙක් සිටී නම් ඔහු ලෝකයේ සියලු අංශවලින් පිරිපුන් කෙනෙකි' (තිර්මිදී) යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැවසුවේය.

ඉස්ලාම් ශාරීරික යෝග්‍යතාව අගය කරන ජීවන රටාවකි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා වුව ද ශාරීරික යෝග්‍යතාව ගැන නිතර ම අල්ලාහ්ගෙන් අයැදුවේ ය. අල්ලාහ් මාගේ ශරීරයේ, දෘෂ්ටියේ හා ශ්‍රවණයේ නිරෝගී භාවය ලබා දෙනු මැනව (අබූදාවුද්) යනුවෙන් ප්‍රර්ථනා කළේ ය. ශක්තිමත් මුඃමින් කෙනෙක් දුර්වල මුඃමින් කෙනකුට වඩා උසස්. ඔහු අල්ලාහ්ට වඩාත් කැමති කෙනෙක් වෙයි. (මුස්ලිම්)



එම නිසා මුස්ලිම්වරයෙකුට නිරෝගීකම අතිශයින් වැදගත් ය. එනම් ඔහු විසින් ඉටු කළ යුතු ඉබාදත්, සමාජ සේවාවන්, ජීවත් වීමට අවශ්‍යය ඉපයීම් රටාව යනාදිය සම්පූර්ණ කිරීමට නිරෝගීකම අවශ්‍යය වේ. මේ නිසා සහාබාවරු තම ශරීරය සෞඛ්‍ය සම්පන්න ව හා උද්යෝගීමත් ව තබා ගත්හ. දිවා කාලයේ අශ්වාරෝහක වීරයන් වශයෙන්ද, රාත්‍රි කාලයේ දී භාවනා යෝගී ව ද ජීවත් වූහ.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සිදුවීම් 5ක් සිදුවීමට පෙර ඇති අවස්ථා පහක් උපයෝගී කරගනු මැනවි යැයි පැවසී ය. එයින් එකක් 'රෝගාතුර වීමට පෙර නිරෝගීකම උපයෝගී කරගන්න' යන්න වේ. නිරෝගී හදවතක් දක ගත හැක්කේ නීරෝගී ශරීරයක් තුළ ය. මේ සඳහා විවිධ ක්‍රියා අනුගමනය කළ යුතු ය.

## 01. ආහාර ගැනීමේ පුරුදු





මුස්ලිම් වරයෙක් ආහාර ගැනීමේ දී මධ්‍යස්ථ ව සිටිය යුතු ය. අධික ව ආහාර ගැනීම හා ශරීරයට නොගැලපෙන ආහාර ගැනීමෙන් වැළකී සිටිම කළ යුතු ය. මිනිසා පුරවන්නේ කුණු භාජනයක් නොව තම කුස ය. "ආහාර ගැනීම අවශ්‍ය වූ විටෙක ආමාශයේ තුනෙන් එක් කොටසක් ආහාර සඳහා ද, තුනෙන් කොටසක් ජලය සඳහා ද, ඉතිරි තුනෙන් කොටස හිස් ව වාතය සඳහා ද වෙන් කර ගත යුතු ය." (තිර්මිදී) යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා ඇත.

මේ ගැන සවිස්තර ව පැහැදිලි කළ උමර් රළියල්ලාහු අන්හු තුමා පවසන්නේ 'කෑමෙන් සහ බීමෙන් කුස පුරවා ගැනීම පිළිබඳ ඔබට දැඩි ලෙස ලෙස අවවාද කරමි. කුස පුරා කෑම ශරීරයට හානි කරය. ලෙඩ රෝග ඇති කරයි. සලාතයට කම්මැලිකම ඇති  කරයි. එම නිසා මධ්‍යස්ථ ප්‍රමාණයක් ආහාර ගැනීමේ පිළිවෙත අනුගමනය කරන්න. එය ශරීරය නිරෝගී කර අපතේ යෑම වළකයි. සත්‍ය වශයෙන් ම අල්ලාහ් තරබාරුකම පිටු දකියි. මිනිසා ආගමට වඩා ආශාව හා තණ්හාව තෝරා ගත හොත් එය ඔහුගේ  විනාශයට හේතුවක් වෙයි.'
(කන්සුල් උම්මාල්)

එම නිසා මුස්ලිම්වරයෙක් තම ශරීර සෞඛ්‍යය ආරක්ෂා කර ගැනීමට සුදුසු ආහාර පුරුදු ඇති කරගත යුතු ය. දුම්බීම හා මත්ද්‍රව්‍ය භාවිතයෙන් සම්පූර්ණයෙන් ම වැළකී සිටිය යුතු ය. ඒවා හරාම් වන අතර ම ශරීර සෞඛ්‍යයට හා නිරෝගීකමට බාධා ඇති කරයි. අද මිනිසා ප්‍රබෝධක පානවලට ගොදුරු වී ඇත. කෝපි, තේ වැනි අනුමත කළ බීම වර්ග පවා අසීමිත ව ගැනීම නිරෝගීකමට බාධාවකි.

## 2. ශාරීරික අභ්‍යාස

ශරීරය නියමිත මට්ටම තුළ තබා ගැනීම ඉබාදත් වෙයි. යහපත් ශරීර සෞඛ්‍යයට ශාරීරික අභ්‍යාස අතිශයින් වැදගත් වෙයි. ශාරීරික අවයව ශක්තිමත් ව, යහපත් ව තිබීමටත් ලෙඩරෝග වැළඳීමේ ප්‍රවණතාව සීමා කර විෂබීජ පැතිරීමෙන් ආරක්ෂා වී උද්යෝගීමත් ව ක්‍රියා කිරීමටත් ශාරීරික අභ්‍යාස අත්‍යවශ්‍යය. ශාරීරික අභ්‍යාස වල නිරතවීම ඉස්ලාම් දැඩි ලෙස උනන්දු කර ඇත. 'ඔබගේ දරුවන්ට, පිහිනීමටත් දුනු විදීමටත්, අශ්වයා පිට සවාරි යාමටත් උගන්වන්න' යැයි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අවධාරණය කළේ ය. එම නිසා මුස්ලිම් ජාතිකයෙකු තම වයස හා හැකියාව සලකා බලා ශාරීරික අභ්‍යාස වල නිරත විය යුතු ය.

## 03. පිරිසිදුකම

නිරෝගී ව සිටීමට නම් පිරිසිදුව සිටීම ඉතා වැදගත් ය. ශරීරය සහ ඇඳුම් පමණක් නොව ආහාර, නිදන ස්ථාන, රැකියා ස්ථාන, පරිහරණය කරන භාණ්ඩ යනාදිය ද පිරිසිදුව තබාගත යුතු වෙයි. අවම වශයෙන් සතියකට වරක් වත් ස්නානය කර තම ශරීරය පිරිසිදු කර ගන්නා ලෙසට ඉස්ලාම් අවධාරණය කරයි. 'ඔබ ජනාබතයෙන් මිදීමට නොතිබුණත් ජුම්ආ දිනවල ස්නානය කර හිස පිරිසිදු කර ගන්න. සුවඳවිලවුන් අලේප කර ගන්න' (බුහාරි) යැයි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැහැදිලි කළේ ය. මිනිසා ඕනෑම මොහොතක පිරිසිදුව සිටිය යුතු බව ඉස්ලාම් තරයේ ප්‍රකාශ කරයි. පිරිසිදු සුවඳ විලවුන් වලින් ශරීරය සුවඳවත් කිරීම ප්‍රශංසනීය වේ.

## 04. විවේකය

ශරීර සෞඛ්‍ය ආරක්ෂා කිරීමේ දී විවේකයට ද මූලිකත්වය හිමි වේ. වෙහෙසට පත් වූ ශරීරයට උද්යෝගීමත් ව ක්‍රියා කළ නොහැකි ය. තම රාජකාරීය ප්‍රමාණවත් ව නිම කළ නොහැකි ය. අපි විවේකයක් ගත් විට අපේ ශරීරයේ කොටස් මහන්සිය, කම්මැලිකම වැනි දේ වලින් මිදී නැවත ප්‍රබෝධයක් ලබයි. නැවතත් උද්යෝගයෙන් ක්‍රියා කිරීමට අවශ්‍ය ශක්තිය ප්‍රබෝධය ලැබේ. 'දිවා රාත්‍රි යනුවෙන් කාල දෙකක් ඔහු ඔබට ලබා දුන්නේ ය. රාත්‍රියේ ඔබ විවේකී ව සිටීමටත් දිවා කල ඔබ ඔහුගේ ආනිසංස ලබා ගැනීමටත් තව ද ඔහුට තුති පුද කිරිමටත් යොද ගත හැකි' බව (28:73) අල් කුර්ආනය ප්‍රකාශ කරයි.

එම නිසා සියලු ඉස්ලාම් බැතිමතුන් තම ශරීරය නිරෝගීව තබා ගත යුතු වෙයි. ඒ පිළිබඳව නොසැලකිලිමත් වන්නේ නම් අනිවාර්යයෙන් ම අපහසුතා වලට ලක් වීමට ඉඩ ඇත. මෙ නිසා ම 'මිනිසුන් නොසැලකිලිමත් වන නිරෝගීකම හා විවේකය අල්ලාහ්ගේ දයාද' ලෙස (බුහාරි) නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පැහැදිලි කළේ ය.

## 05. මානසික යෝග්‍යතාව

ශාරීරික යෝග්‍යතාව මෙන් ම මිනිසාට මානසික යෝග්‍යතාවද අත්‍යවශ්‍ය වේ. ඉස්ලාම් ශරීරය මෙන් ම මනසට ද මුල් තැනක් දිය යුතු යැයි ඉල්ලා සිටියි. යහපත් මානසික තත්ත්වය ශරීරයෙන් ඉටු කරන ක්‍රියාවන් පමණක් අනුමත කරන බව අල්ලාහ් ප්‍රකාශ කරයි. 'අල්ලාහ් ඔබගේ ශරීරය හෝ ශාරීරික ලස්සන බලන්නේ නැත. ඔබගේ මනස

සහ ක්‍රියා ගැන පමණක් බලන්නේ ය. යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ප්‍රකාශ කළේ ය. (බුහාරි මුස්ලිම්)

එම නිසා ම ඉස්ලාමයේ අවයව මගින් කෙරෙන යහක්‍රියාවලට වඩා මානසික යහක්‍රියාවලට වැඩියෙන් අනිසංස ලැබෙනු ඇත. නිරෝගී මනස තුළින් නිරෝගී යහපත් ක්‍රියා සහ යහපත් සිතුම් පැතුම් බිහි විය හැකි ය. රෝගී මනසක් තුළින් පාපය මුසු වූ ක්‍රියා බිහි වෙයි. ශරීරික අවයවවල පාපයට වඩා මනසින් සිදු වන පාපය දැඩි ය.

ආදම් අලෛහිස්සලාම් තුමාගේ පාපයට වඩා ඉබ්ලීස්ගේ පාපය අධික ලෙස සැලකෙයි. ආදම් අලෛහිස්සලාම් තුමාගේ පාපය අවයවවලින් සිදු විය. එය පිළිගෙන එතුමා සමාව අයැදී ය. අල්ලාහ් එයට සමාව දුන්නේ ය. එනමුත් ඉබ්ලීස්ගේ පාපය මනසින් සිදු කළ පාපයකි. ඔහු එය පිළිගන්නේ ද නැත. ඒ සඳහා ඔහුට දඬුවම් කර පිටමං කරන ලදි.

අවයවවලින් සිදු කරන පාපය මිනිසා ක්‍ෂණික ව අවබෝධ කර ගනී. එනමුත් මනසින් සිදු කරන පාපය අවබෝධ කර ගැනීමට අවකාශ අඩු යි. කවුරු හෝ කෙනෙකු මනස යහපත් කරගන්නේ ද ඔහු ජයග්‍රාහකයෙකි. තවත් කවුරු හෝ එය පාපයෙන් වසා තබන්නේ ද ඔහු පරාජිතයෙකු (91:9:10) යැයි අල් කුර්ආන් ප්‍රකාශ කරයි.

එම නිසා ශාරීරික යෝග්‍යතාවට වඩා මානසික යෝග්‍යතාවට මුල්තැන දිය යුතු ය. මනස වැසී තිබුණත් එය ශරීරය ක්‍රියාත්මක කරවයි. කෙනෙකුගේ මනස පිරිසිදු නම් ඔහුගේ ක්‍රියා යහපත් වෙයි. මනස අපිරිසිදු නම් ඔහුගේ ක්‍රියා ද අයහපත් බව නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා පවසා ඇත.

ශරීරයේ එක්තරා මස් පිඩුවක් තිබේ. එය පිරිසිදු වුවහොත් මුළු ශරීරය ම පිරිසිදු වෙයි. එය අපිරිසිදු වුවහොත් මුළු ශරීරය ම අයහපත් වෙයි. එය සිත වේ. (බුහාරි) මනස අයහපත් වුවහොත් ශරීරය රෝගාතුර වීමට ඉඩ ඇති බව වෛද්‍ය ලෝකය පිළිගන්නේ ඒ නිසා ය. මිනිසා ශරීරය ගැන සිතන විට අල්ලාහ් මනස ගැන සිතන්නේ ය. මනස මිනිසාට පමණක් අයත් වූ වැදගත් දෙයකි. මනසට පමණක් දෙවියන් ගැන සිතීමේ ශක්තියක් ඇත.

ශරීරය වගේ ම මනස ද රෝගාතුර විය හැකිය. ශරීරය මන්දපෝෂණය, බෝ වන රෝග, හදිසි අනතුරු ආදියට ලක් වී රෝගාතුර වෙයි. මේ ලෙස ම ආශාව,තණ්හාව, ෂෙයිතාන්ගේ පොළඹවීම, සීමා නොමැති ජීවන රාටාව, අන් අය තෘප්තිමත් කිරීමට ජීවත් වීම යන කරුණු මත මනස රෝගාතුර වෙයි. මේ නිසා අහංකාරකම, වෛරය, අන් අය අවතක්සේරු කිරීම, දූෂණය, වංචාව, ආත්මාර්ථකාමිත්වය වැනි රෝග ඇති වෙයි. මේ අයගේ මුහුණ මලානික වෙයි. ජීවිතයේ තෘප්තිය නැති වන අතරම. සෑම විට ම අවුල්සහගත ව සිටින බව පෙනේ.

මේ තත්ත්වයෙන් මිදීමට නිතර නිතර අල්ලාහ් පිළිබඳ ආවර්ජනය කිරීම දික්ර්, දුආ, ඉස්තිඃෆාර් යන ඒවායේ යෙදී සිටීම අනිවාර්ය වෙයි. සුළු වේලාවක් වත් අල්ලාහ් සමග හුදෙකලාවේ සිට මුනාජාත් කිරීම අවශ්‍යයය. අල්ලාහ්ගේ මැවීම් ගැන සිතීම රාත්‍රී යාඥාවල යෙදීම සුන්නත් සලාත්වල බහුල ව නියැලීම, නෆිල් සවුම් වල යෙදීම, දානමාන කිරීම, යනාදිය මනස වර්ධනය කරයි; මානසික රෝගවලින් ආරක්ෂා කරයි.

එම නිසා ශාරීරික යෝග්‍යතාව හා මානසික යෝග්‍යතාව වර්ධනය කර යහපත් මිනිසකු ලෙස ජීවත් වී අල්ලාහ්ගේ ආශිර්වාදය ලබා ස්වර්ගයට පිවිසීමට අපි උත්සාහ දරමු.

**අභ්‍යාස**

කෙටි පිළිතුරු දෙන්න

01. ශාරීරික යෝග්‍යතාව යනු කුමක් ද?

02. මානසික යෝග්‍යතාව යනු කුමක් ද?

03. ශාරීරික යෝග්‍යතාව ආරක්ෂා කර ගැනීම සඳහා කළ යුතු වත් පිළිවෙත් ගැන කෙටියෙන් සඳහන් කරන්න.

04. ශාරීරික යෝග්‍යතාව පවත්වාගෙන යාම සඳහා අප විසින් අනුගමනය කළ යුතු ක්‍රියාමාර්ග ඉදිරිපත් කරන්න.

05. මානසික යෝග්‍යතාව සඳහා දෙවියන්ගේ සබඳතාව තුළින් කෙසේ සහාය ලැබෙන්නේ ද? යන්න පිළිබඳ කුඩා රචනයක් ලියන්න.

# 29



# මධ්‍යස්ථභාවය අනුගමනය කිරීම



අන්ත දෙකක එල්බ සිටින පාර්ශ්ව දෙකක් අතර මධ්‍යස්ථභාවය ඇති කිරීම "වසතියියා" යනුවෙන් හැඳින්වෙයි. ඉස්ලාම් සියලු ම ක්‍රියාවල මෙම මධ්‍යස්ථභාවය රැකීම පිළිබඳ වැඩි කැමැත්තක් පෙන්වයි. එය අනුගමනය කරන ලෙස අවධාරණය කරයි.

"(විශ්වාසවන්තයිනි) එවැනි (උස් පහත්කමක් නොමැති) මධ්‍යස්ථභාවයෙන් යුත් සමාජයක් ලෙස ඔබ බිහි කළෙමු. එම නිසා ඔබලා (අන්) අයට (ආදර්ශයක් දෙන) සාක්ෂියක් වශයෙන් ඉන්න, (අපේ) දූතයා ඔබට (යහ මග පෙන්නුම් කරන) සාක්ෂියක් ලෙස සිටියි.' (2:143) යනුවෙන් අල් කුර්ආනයේ සඳහන් වී ඇත.

මෙහි දී මුස්ලිම් සමාජය "උම්මතන් වසතන්" මධ්‍යස්ථභාවයෙන් යුත් සමාජයක් ලෙස හඳුන්වනු ලැබේ. එම නිසා සමාජීය හෝ තනි පුද්ගල සමාජ ජීවිතය වැනි සියලු ම ක්‍රියාවල දී මධ්‍යස්ථභාවය අනුගමනය කරන ලෙස බලාපොරොත්තු වෙයි. ලෞකික ක්‍රියාකාරකම්වල පමණක් අධික ලෙස නිරත වීම හෝ අධ්‍යාත්මික ක්‍රියාකාරකම්වල පමණක් දැඩි ලෙස නිරත වීම වසතියියා ක්‍රියාවට පටහැනි වෙයි

එක්තරා අවස්ථාවක නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා සහ අබ්දුල්ලා ඉබුනු අම්ර් රළියල්ලාහු අන්හු තුමා අතර දෙබසක් ඇති විය.

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා :-

ඔබ දවල් කාලය මුළුල්ලේ සවුමයේ යෙදී සිට රාත්‍රිය මුළුල්ලේ ම දේව යාඥාවල නිරත වෙන බව අසන්නට ලැබුණි.

ඉබුනු අම්ර් රළියල්ලාහු අන්හු තුමා :-

ඔව් අල්ලාහ්ගේ දූතයාණනි,

නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා :-

එසේ නොකරනු, සවුමයේ නිරතවන්න සවුමය නොමැති ව ද ඉන්න (රාත්‍රියේ) සලාතයේ යෙදෙන්න. නිදා ගන්න ඔබගේ ශරීරයටත් භාර්යාවටත්, ඔබ හමු වීමට එන අයටත් ඔබ විසින් කළ යුතු යුතුකම් ඇත. (බුහාරි)

මෙය ඇසූ ඉබ්නු අම්ර් රළියල්ලාහු අන්හු තුමා ඒ දක්වා අධ්‍යාත්මික ක්‍රියාවල අධික ලෙස නිරත වී සිටිය ද ඒවා මදක් ලිහිල් කළේ ය. (මුස්නද් අහමද්)

සහාබාවරු කිහිප දෙනෙක් අල්ලාහ්ගේ දූතයාගේ නිවෙසට ගොස් එතුමාගේ ජීවන රටාව ගැන විමසීමෙන් පසු තමන් ඉටු කරන ඉබාදත් ප්‍රමාණවත් නොවන බව තීරණය කළහ. ඔවුන්ගෙන් කෙනෙක් මම මුළු රාත්‍රිය පුරාවටම (නොනිදා) සලාතය ඉටු කරමි යැයි කීවේ ය. තවත් කෙනෙක් මම අවුරුද්ද පුරාවට ම නොකඩවා සවුමයේ යෙදෙමි යැයි කීවේ ය. තුන් වැන්නා මම විවාහ නොවෙමි යැයි කීවේ ය. මෙය දැනගත් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම්තුමා අල්ලාහ්ගේ නාමයෙන් මම ඔබලාට වඩා අල්ලාහ්ට බිය වෙමි; යටත් වෙමි; එහෙත් මම සවුමයේ යෙදෙමි; සමහර විට නොයෙදෙමි; ස්ත්‍රීන් විවාහ කර සිටිමි. එම නිසා මාගේ සුන්නාව අනුගමනය නොකරන අය මා සමග නොසිටිවි යැයි කීවේ ය. (බුහාරි)

අල් කුර්ආනය මෙසේ පවසයි.'(ඔබගේ වස්තු (ධනය) කිසිවක් වැය නොකර) ඔබගේ අත් ඔබගේ බෙල්ල දෙසට නොහකුළුවනු (ඔබගේ වස්තු සියල්ල ලබා දී) ඔබ හිස් අතින් නොසිටිනු. එම නිසා ඔබ අසහනයට පත්වනවා සේම අපහසුතාවට ද පත් වෙයි. (17:29)

මෙහි දී ලෝභයෙක් සහ අධික ව වැය කරන්නෙක් වෙන්න එපා යැයි අල් කුර්ආන් පවසයි. මධ්‍යස්ථභාවය අනුගමනය කරන්න.

හජ් යාඥාව ඉටු කරමින් සිටි නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා මුස්තලිෆාවේ රැඳී සිටියේ ය. තමා වෙනුවෙන් (මීක්කාත්හි විසි කිරීම සඳහා) කුඩා ගල් ටිකක් රැස් කරගෙන එන ලෙස ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු තුමා යැව්වේ ය. ප්‍රමාණයෙන් ලොකු ගල් අවශ්‍යය යැයි ජනතාව විශ්වාස කළ ද ඉබ්නු අබ්බාස් රළියල්ලාහු අන්හු තුමා කුඩා ගල් කැට අහුලාගෙන ආවේ ය. මෙම ගල් කැට අනුමත කළ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අනවශ්‍ය දේවල් කිරීමෙන් වළකින ලෙස උපදෙස් දුන්නේ ය. (අහ්මද්) 'අනවශ්‍ය හැඟීම් තුළින් ක්‍රියා කරන අය දැනුම ලබාගන්න' යනුවෙන් තෙවරක් අවධාරණය කළේ ය. (මුස්ලිම්) මෙසේ ක්‍රියා කරන අය අනවශ්‍ය ක්‍රියාවල යෙදෙන අය යැයි "ඉමාම් නවවි (රහ්)" තුමා පැහැදිලි කළේ ය. මෙවැනි මධ්‍යස්ථභාවය ඉක්මවන අය මෙලොවේ සහ පරලොවහි බංකොලොත් වූ බවට ඇති නිදසුනක් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ඉතා පැහැදිලි ව පැවසුවේ ය. 'වස්තූන්වල බර ඔබ මත පටවා නොගන්න. ඔබ විනාශ වේවි. ඔබට පෙර වූ මිනිසුන් තමන් මතට අධික බරක් පටවා ගත්තෝ ය. එ නිසා ම විනාශ වූහ. ඔවුන්ගේ නෂ්ටාවශේෂ ආශ්‍රමවල හා කෞතුකාගාරවල දක්නට ලැබේ.' (මුස්නද් අහමද්)

ශරීරය ලබා දුන් අල්ලාහ් ආත්මය ද ලබාදුන්නේ ය. ශරීරය ආරක්ෂා කරනවා මෙන්ම ආත්මය ද ආරක්ෂා කළ යුතු වෙයි. ශරීරය සෞඛ්‍ය සම්පන්න කොට අධ්‍යාත්මය පිටු දැකීම හෝ අධ්‍යාත්මික වර්ධනය තකා ශාරීරික සෞඛ්‍ය පිටු දැකීම යන්න ඉස්ලාම් නොවේ. මිනිසා අල්ලාහ් වෙනුවෙන් කළ යුතු යුතුකම් නොපිරිහෙලා ඉටු කරන අතරම,

අන් මිනිසුන්ට සහෝදර ඉස්ලාම් භක්තිකයන්ට හා මුස්ලිම් නොවන අයට ද තමා කළ යුතු යුතුකම් ඉටු කළ යුතු ය.

වරක් "මුආද් ඉබුනු ජබල්" රළියල්ලාහු අන්හු තුමා සලාතය (ඉමාම් වශයෙන්) ඉටු කරමින් සිටියේ ය. අල්ලාහ් වෙත තිබූ භක්තිය නිසා සලාතයේ දීර්ඝ සූරාවක් පාරායනා කරමින් සිටියේ ය. ඔහු පසුපස සිට සලාතය ඉටු කරමින් සිටි කෙනෙක් ඉවසීම බිඳ වැටීම නිසා නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා හමු වී පැමිණිලි කරන්න ගියේ ය. මුආද් රළියල්ලාහු අන්හු තුමා හමු වූ නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා "මුආද්" ඔබ ජනතාව කරදරයට පත් කරනවා ද?' යනුවෙන් තෙවරක් දැඩිව ඇසුවේ ය. පසු ව 'ජනතාවට පහසු කරන්න අපහසුතාවට පත් නොකරන්න උනන්දු කරවන්න අකමැත්තට ලක් නොකරන්න.' (මුස්ලිම්) යනුවෙන් උපදෙස් දුන්නේ ය. මෙහි දී නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා  මධ්‍යස්ථභාවය අනුගමනය කළ ආකාරය විදහා දක්වයි.

අල් කුර්ආනය කියන තවත් සමහර දේශන දෙස අවධානය යොමු කරන්න.

"හොඳින් අනුභව කරන්න;  කවන්න. නමුත් (ඒවායේ) ප්‍රමාණය ඉක්මවන්න එපා" (7:31)

'ඔබ ඇවිදීමේ දී මධ්‍යස්ථභාවය අනුගමනය කරන්න ඔබගේ හඬ අඩු කරගන්න හඬ වලත් අකමැති ම හඬ බූරුවාගේ (ශබ්ද නගන) හඬ ය.' (31:19)

මෙහි දී කෑමේ දී, හා බීමේදී, ප්‍රමාණය ඉක්මවීමද, කථා කිරීමේ සීමාවෙන් තොරව හඬ නැගීම, ඇවිදීමේ දී බොහෝම වේගයෙන් හෝ සෙමෙන් ගමන් කිරීම යනාදිය පිළිබඳ අවවාද කොට මධ්‍යස්ථභාවය අනුගමනය කරන මෙන්. අල් කුර්ආනය නියෝග කර ඇත.

මෙලොවේ සහ පරලොව ක්‍රියාකාරකම්වල මධ්‍යස්ථභාවය අනුගමනය කළ යුතු යැයි අල් කුර්ආන් හි පහත සඳහන් වැකිය පැහැදිලි කර ඇත. අල්ලාහ් අපට (අවශ්‍ය සියලු දෙය)  මෙලොව දී ම ලබා දෙනු මැනවි, යනුවෙන් යදින අය ද මිනිස් සමාජය තුළ සිටිති. නමුත් මෙවැනි අයට පරලොව කිසි ම පිහිටක් වාසනාවක් නැත. එසේ නොව අල්ලාහ් අපට මෙලොවේ සහ පරලොව දී ආනිසංස ලබා දෙනු, (අපායේ මාරක) ගින්දරින් අපිව බේරාගනු මැනවි යැයි ඉල්ලන අය ද මිනිස්සුන් තුළ සිටිති. (2:200:201)

මෙහි දී මෙලොව යහපත පමණක් යැදීම පිටුදැක මෙලොව සහ පරලොව යහපත යැදීම ප්‍රශංසා කොට තිබීම, සැලකිල්ලට භාජනය විය යුතු කරුණකි. එම නිසා ඉස්ලාමය නිසි ලෙස තේරුම් ගෙන එයින් පැවසෙන මැදි පිළිවෙත ජීවිතයේ සියලුම කාරණා අංශ වල දී පිළිපදිමු.

**අභ්‍යාස**

01. ඔබ මිනිස්සුන්ට සාක්ෂි වශයෙන් ඉන්න. දූතයා ඔබට සාක්ෂියක් ව සිටියි. යන වාක්‍යය තුළ ඔබ හඳුනාගන්නේ කුමක් ද?

02. ත්‍රස්ත ක්‍රියා හා මධ්‍යස්ථභාවය යන දෙකට ම ආගමික උදාහරණ දෙකක් සහ ලෝකය සම්බන්ධ උදාහරණ දෙකක් තුළින් පැහැදිලි කරන්න.

03. අල්ලාහ් සහ ගැත්තා අතර මධ්‍යස්ථභාවය පාඩමේ සඳහන් උදාහරණ ගෙන පැහැදිලි කරන්න.



# 30
# ෆික්හුල් අව්ලවියාත්



"ෆික්හුල් අව්ලවියියාත්" යනුවෙන් හැඳින්වන අරාබි වචන 'පෙළ ගැස්ම' යන අරුත දෙයි. එය තවත් පැහැදිලි කරනවා නම් මුස්ලිම් කෙනෙකුට වැදගත් දෙයකට වඩා අවැදගත් දෙයකට හෝ අතිවැදගත් දෙයකට වඩා වැදගත් දෙයකට හෝ ප්‍රමුඛත්වය දීම තහනම් වේ. ප්‍රමුඛත්වය දිය යුතු දේට ප්‍රමුඛත්වය දිය යුතු යි. ප්‍රමාද කළ යුතු දේ ප්‍රමාද කළ යුතු ය. බරපතල දෙයක් අතපසු කිරීම ද නොකළ යුතු යි යන්න වේ.

පහත සඳහන් උදාහරණයෙන් මෙය තේරුම් ගත හැකි ය. එක්තරා ප්‍රදේශයක ජනතාව නියඟය නිසා එදිනෙද අවශ්‍යතා ඉටු කර ගැනීමට අතපසු වී ඇත. එවැනි අවස්ථාවක තවත් පිරිසක් තම තුන් වෙනි "උම්රාව" ඉටු කිරීමට සූදානම් වෙමින් සිටිති. මේ අවස්ථාවේ නියඟයෙන් පීඩාවට පත් ජනතාවට සහනයක් දෙනවා ද  තුන් වෙනි උම්රාව ඉටු කරනවා ද යන ප්‍රශ්නය මතු වේ. සමාජමය වශයෙන් බැලූ විට තුන් වෙනි උම්රාව ඉටු කරනවාට වඩා නියං සහනාධාර ලබා දීම අතිශයින් ප්‍රමුඛත්වය ගනී. මෙසේ ප්‍රමුඛත්වය දීම "ෆික්හුල් අව්ලවියියාත්" යනුවෙන් හැඳින්වෙයි.

තවත් නිදසුනකට අවධානය යොමු කරමු. තරුණකම යනු සාරවත් අනාගතයක් වෙනුවෙන් වූ පුහුණු ව ලබා ගන්නා කාලය වේ.'මහලුකමට පෙර තරුණකම ප්‍රයෝජනයට ගනු' යනුවෙන් නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අවධාරණය කළේ ය. මෙම අවධිය ජීවිතය සාර්ථක කර ගැනීම සඳහා දැනුම, හැකියාව, මානසික හික්මීම, ආධ්‍යාත්මික පුහුණුව වැනි දේ ලබා ගැනීමට උපයෝගී කර ගත යුතු ය. ඉහත කරුණු තරුණ වියේ දී ප්‍රමුඛත්වය දිය යුතු කරුණු වෙයි. එය හැර තාරුණ්‍යය නොනිසි ක්‍රීඩා, සුරාව සූදුව හෝ වෙනත් අයතා විනෝදාංශ වැනි කාලය කා දමන ක්‍රියා මගින් ගෙවා දැමීම උචිත නොවේ. එම නිසා තරුණ්‍යය අනාගතය වෙනුවෙන් ලබාගන්නා පුහුණුවක් කර ගැනීම "ෆික්හුල් අව්ලවියියාත්" වෙයි.

මුස්ලිම්වරයෙක් තනි පුද්ගලයකු වශයෙන් ද සමාජයක් වශයෙන් ද තමාගෙන් ඉටු විය යුතු ක්‍රියා අතුරින් මුල් තැන දිය යුතු දේ හඳුනා ගෙන ක්‍රියා කළ යුතු වෙයි. අල් කුර්ආනය සහ සුන්නාව මෙයට මග පෙන්වන්නේ ය. අල් කුර්ආනය එක විට සම්පූර්ණයෙන් ම පහළ වුයේ නැත. අවුරුදු 23ක් තුළ සමාජ, දේශපාලන, ආර්ථික වැනි විවිධ අංශවල අවශ්‍යතා හඳුනාගෙන වරින් වර පහළ විය. අල් කුර්ආනයේ දේශනය අනුව විධිමත් ක්‍රියාත්මක කළ යුතු වන හෙයින් මෙසේ පහළ වන්නට ඇත. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා ද තම දඃවාවේ දී ප්‍රමුඛත්වය දිය යුතු දේවලට ප්‍රමුඛත්වය ලබා දී මග පෙන්වා ඇත. නීති හඳුන්වා දීමේ දී අල් කුර්ආනය සහ සුන්නාව අනුව ක්‍රමානුකූලභාවයක් අනුගමනය කර ඇත.

තරාතිරමෙන් අඩු දෙයකට වඩා තරාතිරමෙන් වැඩි දෙයකට ප්‍රමුඛත්වය දිය යුතු යැයි අල් කුර්ආනය පෙන්වා දී ඇත. උදාහරණයක් වශයෙන් ඊශ්රායල් සමාජයට අල්ලාහ් "මන්නු සල්වා" යන වටිනා ආහාර වර්ගය පිළිගැන් වූයේ ය. ඔවුහු සාමාන්‍ය ආහාර දෙන ලෙස ද නබි මූසා අලෛහිස්සලාම් තුමා ගෙන් ඉල්ලූහ. එහෙත් අල්ලාහ් මෙය ප්‍රතික්ෂේප කර "මන්නු සල්වා" ප්‍රමුඛත්වය දෙන ලෙස පැවසුවේ ය. ( 2:61 )

මෙසේ බාහිර පෙනුමට වඩා අභ්‍යන්තර පෙනුමට ප්‍රමුඛත්වය දෙන ලෙස අල් කුර්ආනය අවධාරණය කරයි. යුදෙව් වරුන්ගේ කිබ්ලාව ද, මුස්ලිම්වරුන්ගේ කිබ්ලා ව ද යන ගැටලුව පැන නැගුණ විට 'දිසා අනුගමනය කිරීම වැදගත් වන්නේ නැත. ක්‍රියා වල අන්තර්ගත ඊමානයත් ඒ අනුසාරයෙන් එන යහපත් ක්‍රියා වලින් පමණක්. ආනිසංස ලැබේ' යැයි, අල් කුර්ආන් ( 2:177)පැහැදිලි කරයි.

යුද්ධය සහ සාමය යන දෙකෙන් කුමකටද ප්‍රමුඛත්වය දිය යුත්තේ යනුවෙන් අල් කුර්ආනය අවධාරණය කරයි. යුද්ධයට වඩා සාමයට ප්‍රමුඛත්වය දිය යුතු ය. (8:6) ඉස්ලාමයේ සාමය අනිවාර්ය ද, යුද්ධය පැහැරහැරිය යුතු ව ද තිබෙන බව අවධාරණය කරයි. 'විවාහයක දී මුෂ්රික්ට වඩා මුඃමින්ට ප්‍රමුඛත්වය දිය යුතු යි.' (2:221)

'මෙලොව සඳහා ඉපයීමට වඩා පරලොව සඳහා වූ ඉපයීමට මුල් තැනක් දිය යුතු ය' (16:30) යන්න ඒ සඳහා නිදසුන් කීපයකි.

දඃවාව තනි පුද්ගලයකුගෙන් ආරම්භ කරනවා ද? සමාජයක් තුළින් ආරම්භ කරනවා ද? යන ප්‍රශ්නයට නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා තනි පුද්ගලයන් බිහි කර ඒ අනුසාරයෙන් සමාජයක් ගොඩනැගිය හැකි බව, උත්තර දුන්නේ ය. එතුමාගේ මක්කා කාලයේ දී තනි පුද්ගලයන් බිහි කිරීමට ප්‍රමුඛත්වය දුන්නේ මේ නිසා ය. මෙයට මක්කාව හා මදීනාව තුළ සමාජයේ දකින්නට ලැබුණ භෞතික හා සමාජමය හේතු බලපෑමට ඇත. පසු ව තනි පුද්ගලයන්ට වඩා සමාජයට ප්‍රමුඛත්වය ලබා දි සමාජයට ම දඃවාව හඳුන්වා දී ඉදිරියට ගෙන ආවේය. අල් කුර්ආනය එම සමාජයට "කෛරු උම්මත්" (වැදගත් සමාජයක්) යැයි ප්‍රශංසා කරයි.

සෑම ක්‍රියාවකට ම එවා ට සරිලන ගෞරවයක් සහ වටිනාකමක් ලැබී ඇත. ඒවා උචිත වේලාවට පිරිනමන්නේ නැති විට සමාජ අසාධාරණය සිදු වේ. හඳුනාගත් ක්‍රියාවන්ට අප යොමු කරන අවධානය අඩුවෙන් හෝ වැඩියෙන් කරන විට එහි දී ගැටලු ඇති විය හැකි ය. වටිනාකමින් අඩු ඒවා ඉදිරියට ඇවිත් වටිනාකම වැඩි ඒවා පිටුපසට තල්ලුවී යාමේ දී උද්ඝෝෂණ ඇති විය හැකි ය . මෙවැනි දෙයක් ඇති නොවීමට "ෆික්හුල් අව්ලවියියාත්" අධික අවස්ථාවක් ලබා ගන්නේ ය. "ෂරීආ" සියලු ම ක්‍රියා කෙරෙහි ඒකාකාරී ව අවධානය යොමු නොකරයි. එක් එක් ක්‍රියාවට ඊට උචිත වටිනාකමක් ලබා දී ඇත. මේ නිසා නීති විද්වත්හු ෆර්ල්, වාජිබ්, ජාඉස්, මක්රූහ්, හරාම් යනුවෙන් ක්‍රියා වර්ග කර ඇත. සුන්නත් ෆර්ලයට වඩා ප්‍රමුඛ වන්නේ නැත. හරාම් වූ දෙය හලාල් වූ දේට වඩා ප්‍රමුඛ නොවේ. සත්‍යය බොරුවෙන් ජය ගත නොහැක. සුදුසුකම් නැති පුද්ගලයා සුදුසුකම් ඇති පුද්ගලයා ඉක්මවිය නොහැක. අවුල්සහගත තත්ත්වයක් ඇතිනොවන්නේ නම් ප්‍රමුඛත්වය දිය යුතු දෙය නිරවද්‍ය ලෙස හඳුනාගෙන එයට නිසි තැන ලබා දිය යුතු ය.

අල් කුර්ආනය මෙසේ සඳහන් කරයි. අන්ධයා සහ මනා පෙනීමක් තියෙන තැනැත්තා සමාන වන්නේ නැත. (එසේ ම) අඳුර සහ ආලෝකය සමාන වන්නේ නැත. සෙවණ සහ අව්ව සමාන වන්නේ නැත. ප්‍රාණය සහිත තැනැත්තා හා මියගිය තැනැත්තා සමාන වන්නේ නැත. (35:19-22) උගතා හා නූගතා සමාන වන්නේ නැත. (39:7) විරුද්ධ වචනවලින් ප්‍රමුඛත්වය දෙන්නේ කුමකට දැයි මෙහි අවධාරණය කර ඇත.

හදීස්වල ද මෙය දැකිය හැක. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමා අවස්ථානුකූව ද එක් එක් පුද්ගලයාගේ හැකියාවට සුදුසු පරිදි විවිධ ක්‍රියාකාරකම්වලට හා විවිධ කරුණුවලට ප්‍රමුඛත්වය ලබා දී ඇති බව දක්නට ඇත. උදහරණයක් ලෙස ශ්‍රේෂ්ඨ ක්‍රියාව කුමක් දැයි කෙනෙක් ඇසූ විට "නියමිත වේලාවට සලාතය ඉටු කිරීම" යනුවෙන් පැවසී ය. මෙම ප්‍රශ්නයට තවත් කෙනෙක් ඇසූ විට අල්ලාහ් "අල්ලාහ් කෙරෙහි විශ්වාසය කිරීමයි" යනුවෙන් කීවේය. මෙහි දී සියලු දෙනා ම සහාබාවරුන් වුව ද ඒ පුද්ගලයාගේ අවශ්‍යතාව හෝ මානසික මට්ටම හෝ බෙලහීනකම හෝ හඳුනාගෙන උපදෙස් ලබා දී ඇති බව දැනගන්න තිබේ.

තනිපුද්ගලයාගේ හැකියාව, අවස්ථාව, වර්ධනය, දැනුමේ වර්ධනය යන කරුණු අනුව කුමක් සඳහා ප්‍රමුඛත්වය දිය යුතු ද යන දැනුම අදට අත්‍යවශ්‍ය වුවමනාවක් වී ඇත. මක්නිසාද යත් ප්‍රමුඛත්වය දිය යුතු දේ සඳහා එසේ නොකිරීමෙන් පෙර සඳහන් කළා මෙන් සමාජ ගැටලු පුළුල් වී පැමිණීමට හේතු කරුණු වෙයි. සමගියෙන් සිටීම යන "වාජිබ් වූ" ක්‍රියාවට ඇති අලස ස්වභාවය මුස්ලිම් සමාජය තුළ ගැටලු රැසක් ඇති කිරීමට හේතු වී ඇති බව අද සමාජය තුළ සුලබ ව දැකිය හැකි ය.

"ෆික්හුල් අව්ලවියියාත්" යනු සමාන්‍ය ක්‍රියාදමයකි. අවස්ථානුකූල ව එකින් එකට ප්‍රමුඛත්වය දීම කළ හැකි ය. මෙවැනි අවස්ථාවල ෂරිආවේ සීමාව ඉක්මවා නොයාමට (ෆික්හුල් අව්ලවියියාත්) ගැන දැනීමක් අවශ්‍යය වෙයි. නබි සල්ලල්ලාහු අලෛහි වසල්ලම් තුමාගේ අභාවයෙන් පසු කලීෆා කෙනෙක් තෝරා ගැනීමේ දී සහාබාවරු එය අනුගමනය කළෝ ය. අබුඋබයිද රළියල්ලාහු අන්හු, උමර් රළියල්ලාහු අන්හු සහ අබූබකර් රළියල්ලාහු අන්හු යන තිදෙනාගෙන් අබූබකර් රළියල්ලාහු අන්හු තුමාව ඉදිරිපත් කිරීම දූරදර්ශීව සිතා කළ ක්‍රියාවකි. එම තේරීම "කිලාෆතය" ආරක්ෂා කළේ ය.

එම නිසා මේ ගැන දැනීමක්, අවබෝධයක් ලබා ගැනීමට උත්සාහ කරමු.

**අභ්‍යාස**

01. පහත සඳහන් ක්‍රියාවලින් ප්‍රමුඛත්වය දිය හැකි ඒවා යටින් ඉරක් අඳින්න.

i. ඉෂා සලාතය මස්ජිදහි හුදකලාවේ ඉටු කිරීම.
   ගෙදර වැඩවලට උදව් කිරීම.

ii. ඉෂා සලාතය ජමාආත් ව ඉටු කිරීම.
   අල් කුර්ආනය කට පාඩම් කිරීම.

iii. සවස් වරුවේ ක්‍රීඩා කරන්න යෑම.
   පුස්තකාලයට යෑම.

iv. අල් කුර්ආනය පාරායනා ඇසීම.
   අනතුරට ලක් වූ කෙනෙක් රෝහල වෙත ගෙන යාම.

v. ඉරිදා දිනවල මිතුරන් සමඟ කයිවාරු ගැසීම.
   නෑදෑයකු හමුවීමට යාම.

02. ඉස්ලාමයේ සාමය වැදගත්ය, යුද්ධය අවැදගත්ය යන කරුණ පැහැදිලි කරන්න.

03. පළමුව කළ යුතු දෙයක් පසුවට දැමීමත්, පසුව කළ යුතු දෙයක් පළමුව කිරීමත් නිසා ඇතිවන විනාශය උදාහරණ සහිතව පැහැදිලි කරන්න.